# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා  ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති  අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ  අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ  අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දම්නී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ඒ. එම්. ආර්. කේ. අධිකාරි - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සංස්කාරක මණ්ඩලය**

මහාචාර්ය හඟුරන්කෙත ධීරානන්ද හිමි - ඉතිහාස අධ්‍යයන අංශය
*BA, MA , PhD* (ඉන්දියාව) පේරාදෙණිය විශ්වවිද්‍යාලය

මහාචාර්ය රාජ් සෝමදේව - පුරාවිද්‍යා පශ්චාත් උපාධි ආයතනය
*BA ,MPhil, PhD* (ස්වීඩනය) කැලණිය විශ්වවිද්‍යාලය

මහාචාර්ය පත්මසිරි කන්නන්ගර - ඉතිහාස අධ්‍යයන අංශය
*BA, MA* ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය

ආචාර්ය අනුෂා සේනාධිරාජා - ඉතිහාස අධ්‍යයන අංශය
*BA, MPhil,PhD* අග්නිදිග විශ්වවිද්‍යාලය

ඩබ්ලිව්. සමන්ති ශිරෝමාලා ගුණවර්ධන - කථිකාචාර්ය
*BA, PGDE,MA* ජාතික අධ්‍යාපන ආයතනය

**ලේඛක මණ්ඩලය**

කේ. එස්. රංජනී - ගුරු උපදේශක
*BA, MA, PGDE* කලාප අධ්‍යාපන කාර්යාලය,හොරණ

එම්. ඩී. තිලකලතා - ගුරු සේවය
*BA , PGDE,* සී.ඩබ්.ඩබ්. කන්නන්ගර ම.වි, බොරැල්ල

ඩබ්ලිව්. ඒ. පියසීලි - ගුරු සේවය
*BA, PGDE, M.Ed* ජාතික පාසල, අලව්ව

මේරි ඩොනේටා කන්‍යා සොයුරිය - විශ්‍රාමික නියෝජ්‍ය විදුහල්පති
*BA, MA*

යූ. එල්. එස්. මරික්කාර් - ගුරු උපදේශක
*BA, PGDE* කලාප අධ්‍යාපන කාර්යාලය, වත්තේගම

යූ. එල්. එම්. බසීර් - විශ්‍රාමික ගුරු උපදේශක
*BA, PGDE*

**භාෂා සංස්කාරක**

එච්. පී. සුසිල් සිරිසේන - කථිකාචාර්ය
හාපිටිගම් ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය, මීරිගම

**චිත්‍ර හා රූප සටහන්**

චන්ද්‍රිකා නීලමනී ජයසිංහ

**පරිගණක අක්ෂර යෝජනය සහ පිටු සැකසීම**

අනූෂා වන්නිනායක
ඩබ්ලිව්. ඉසුරි මධුෂානි

## සංස්කාරක සටහන

සරල ව විග්‍රහ කරන්නේ නම් ඉතිහාසය යනු මිනිස් පරපුර අතීතයේ දී ක්‍රියා කළ ආකාරය පිළිබඳ වෘත්තාන්තය යි. බොහෝ විට එහි දී වැදගත් වන්නේ පොදු සමාජයක් ලෙස ඔවුන් ක්‍රියා කළ අන්දම අවධානයට ගැනීම යි. මිනිස් සමාජය විසින් කාලය හරහා පවත්වා ගෙන පැමිණි නෙකවිධ අඛණ්ඩතා සහ ඒවායේ ඇති වූ වෙනස්වීම් කැපී පෙනෙන්නේ එවිට ය. ඉතිහාසඥයෙකුට වැදගත් වන ඓතිහාසික ගම්‍යතා අවබෝධ වන්නේ එමගිනි.

පුරාණ සමාජවල ජීවත් වූ මිනිසුන් සිය පැවැත්ම වඩාත් සුරක්ෂිතවත් සමතුලිතවත් පවත්වා ගෙන යාමට අනුගමනය කළ උපායමාර්ග, ඒ පිටුපස තිබෙන චින්තනය, එමගින් ලද ජයග්‍රහණ සහ පරාජයන් සියල්ලක් ම ඉතිහාසය තුළ අන්තර්ගත ය. පාලකයින්ගේ දේශපාලන ව්‍යාපෘති පමණක් සමස්ත ඉතිහාසය නියෝජනය නොකරයි. වියළි කලාපයේ දැඩි සූර්ය තාපයෙන් දූවෙමින් කර්කශ පොළව සමඟ පොර බදන හේන් ගොවියාගේ පටන් රාජමහාමාත්‍යාදීන් සහ ඔවුන්ට අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කළ බෞද්ධ භික්ෂූන් වහන්සේලා දක්වා වූ සියලු පිරිස මෙරට ඉතිහාසය නිර්මාණය කරලීමට විවිධ මට්ටම්වලින් දායක වූහ. එහෙයින් පාසල් ශිෂ්‍යයකු ඉතිහාසය තුළ ඒ සියලු දෙනාගේ ම සහභාගිත්වයේ ස්වරූපය ඉගෙනීම අවශ්‍ය ය. එමගින් ඔහුට හෝ ඇයට සමාජය වෙනුවෙන් තමන්ට කළ හැකි සේවය පිළිබඳ පූර්ව වැටහීමක් ඇති කර ගැනීමට අවශ්‍ය මග පාදා ගත හැකි ය. මෙම පෙළපොත රචනා කර තිබෙන්නේ එම ස්ථාවරය මුල් කොට ගනිමිනි.

අප වර්තමානයේ දී මුහුණ දෙන ගැටලුවලට සමානකම් තිබෙන අභියෝග වෙත අතීතයේ විසූ අපේ මුතුන්මිත්තන් මුහුණ දුන් ආකාරය විමසා බලා අතීතය මගින් වර්තමානයට කිසි යම් අත්දැකීමක් ලබා ගත හැකි ය. ඉතිහාසයේ පවත්නා සාරධර්මවලින් ආනුභාව ලබන සමාජයක් පහසුවෙන් බිඳ නොවැටේ. නව අභියෝග ඉදිරියේ සමාජයක් දුර්වල ව අඩපණ වන්නේ ඓතිහාසික උරුමය සහ ඓතිහාසික විඥානය මගින් සමාජ දේහය තුළ ඇති කරන ප්‍රතිශක්තිය දුර්වල වූ විට ය. ඉතිහාසය යනු ආනන්දජනක වෘත්තාන්තයක් ලෙස දූයේ දූ පුතුන් වෙත සංවේදීතාවක් ඇති කිරීමේ අභිලාෂයෙන් මෙම පෙළපොතේ අන්තර්ගතය සහ නිමාව සකස් කරන්නට ලේඛක මණ්ඩලය සහ සංස්කාරකවරුන් විසින් වෑයම් කර තිබේ. එම උත්සාහය සාර්ථක වී ඇතැයි යන්න අපගේ බලාපොරොත්තුව යි.

**ඉතා වැදගත්**

2015 සිට ක්‍රියාත්මක වීම සඳහා සකස් කරන ලද ඉතිහාසය විෂය නිර්දේශයට අනුව මෙම පෙළපොතේ පාඩම් මාලාව සකස් කර ඇත. ශිෂ්‍යශිෂ්‍යාවන්ට තමන්ගේ ඉතිහාසය පිළිබඳ වැඩි දැනුමක් සහ ඇල්මක් ඇති කිරීමට හැකි වන පරිදි රචනා කොට ඇති මෙම පාඩම් මාලාවේ ***ඇල අකුරින්*** දක්වා තිබෙන දේ අදාළ විෂය කරුණු තහවුරු කිරීමට යොද ගත් ඒවා වන අතර ඒ කොටස් කටපාඩම් කිරීම අවශ්‍ය නොවේ.

# පටුන

## 6. ඓතිහාසික දැනුම සහ එහි ප්‍රායෝගික ආදේශනය



## 7. වියළි කලාපයේ පැරණි නගර පිරිහීම හා නව රාජධානි බිහි වීම



## 8. මහනුවර රාජධානිය



## 9. පුනරුදය



## 10. ශ්‍රී ලංකාව හා බටහිර ලෝකය




පිවිසෙන්න නිදහසේ සතුටින් දැනුම සොයා..
The National e-learning Portal for the General Education
www.e-thaksalawa.moe.gov.lk

# 1 ඉතිහාසය හැදෑරීමේ මූලාශ්‍රය

## හැඳින්වීම

ඉතිහාසය හැදෑරීමට මූලාශ්‍රය අවශ්‍ය වේ. අතීතය පිළිබඳ තොරතුරු ලබා ගත හැකි මූලාශ්‍රය විවිධ ය. මෙම ඒකකයේ දී මූලාශ්‍රය හඳුනා ගැනීම, මූලාශ්‍රය තොරතුරු මත ඉතිහාසය ගොඩනැගෙන ආකාරය සහ ඉතිහාසය හැදෑරීමෙන් ලැබිය හැකි ප්‍රයෝජන පිළිබඳ ඔබට ඉගෙනීමට ලැබෙනු ඇත.

## 1.1 මූලාශ්‍රය වර්ගීකරණය

ඉතිහාසය යනු අතීත මිනිස් ක්‍රියාකාරකම් පිළිබඳ හදාරන විෂයකි. අවුරුදු සිය දහස් ගණන් ඈත කාලයේ ඉතිහාසය හැදෑරීමේ දී ඒ ඒ අවධිවල මිනිසුන් ලියා තැබූ දේ හා ඔවුන්ගේ විවිධ නිර්මාණ අපට දක්නට ලැබේ. එම ලේඛන හෝ නිර්මාණ මගින් අතීත මිනිස් කටයුතු පිළිබඳ තොරතුරු ලබා ගත හැකි නිසා ඒවා මූලාශ්‍රය ලෙස හැඳින්වේ. එක් එක් අවධිවලට අදාළ ව ලැබෙන මෙබඳු මූලාශ්‍රය මගින් ඒ ඒ කාල වකවානු හා සමාජ පරිසරය පිළිබඳ කිසි යම් අවබෝධයක් ලබා ගත හැකි ය. මෙසේ මූලාශ්‍රයවලින් ලබා ගන්නා තොරතුරු තර්කානුකූලව හැදෑරීමෙන් එක් එක් කාලපරිච්ඡේදවල ජන ජීවිතය පිළිබඳ ඉතිහාසය ගොඩනැගේ.

ඉතිහාසය අධ්‍යයනය කිරීමේ දී තොරතුරු ලබාගත හැකි මූලාශ්‍රය විශාල ප්‍රමාණයක් ඇති බැවින් ඒවා වර්ග දෙකකට වෙන් කෙරේ.

1. සාහිත්‍ය මූලාශ්‍රය

2. පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය

අතීත ප්‍රජාව විසින් විවිධ කාල වකවානුවල ලියන ලද ග්‍රන්ථ හෝ ලේඛන සාහිත්‍ය මූලාශ්‍රය ලෙස සැලකේ. පුරාවිද්‍යා කැණීම් හා පර්යේෂණ මගින් සොයා ගැනෙන පුරාවස්තු, ස්මාරක, කාසි, ශිලාලිපි හා විවිධ නටබුන් ආදිය පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය ලෙස හැඳින්වේ. මීළඟට අපි ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීමට යොදා ගත හැකි මූලාශ්‍රය ඇසුරින් ඉහත කී වර්ග දෙක පිළිබඳ තව දුරටත් කරුණු විමසා බලමු.

### 1. සාහිත්‍ය මූලාශ්‍රය

ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීමට යොදා ගත හැකි සාහිත්‍ය මූලාශ්‍රය, දේශීය සාහිත්‍ය මූලාශ්‍රය හා විදේශීය සාහිත්‍ය මූලාශ්‍රය වශයෙන් වර්ග දෙකකට වෙන් කළ හැකි ය. අදින් වසර දෙදහසකට පමණ පෙර සිට ලාංකිකයන් විසින් ගද්‍ය හා පද්‍ය වශයෙන් වරින් වර ලියන ලද කෘති දේශීය සාහිත්‍ය මූලාශ්‍රය ලෙස සැලකේ. මෙසේ ලාංකිකයන් විසින් ම ශ්‍රී ලංකාව පිළිබඳ ලියන ලද ග්‍රන්ථවලට අමතර ව මෙරට පිළිබඳ උනන්දුවක් දැක්වූ විදේශිකයන් විසින් ද යම් යම් කෘති රචනා කරන ලදි. නැතහොත් විදේශිකයන් ලියූ කෘතිවල ලංකාව පිළිබඳ ව ද තොරතුරු ඇතුළත් කර තිබේ. මෙසේ විදේශිකයන් විසින් මෙරට පිළිබඳ තොරතුරු සඳහන් කරමින් ලියන ලද කෘති විදේශීය සාහිත්‍ය මූලාශ්‍රය ලෙස හැඳින්වේ.

### දේශීය සාහිත්‍ය මූලාශ්‍රය

ශ්‍රී ලංකාවේ දේශීය සාහිත්‍ය මූලාශ්‍රය අතර වඩාත් පැරණිතම කෘතිය දීපවංසය ලෙස සැලකේ. දීපවංසය ක්‍රිස්තු වර්ෂ හතර වන සියවසේ දී පමණ රචනා කරන ලද කෘතියකි. මහසෙන් රාජ්‍ය සමය අවසානය තෙක් මෙරට ඓතිහාසික තොරතුරු හා ශාසන ඉතිහාසය සම්බන්ධ පුවත් දීපවංසයට ඇතුළත් වේ. එහෙත් ඇතැම් ඓතිහාසික පුවත් දීපවංසයේ දක්වා ඇත්තේ ඉතා කෙටියෙනි. පුනරුක්ති දෝෂ ද මෙම කෘතිය තුළ දක්නට ලැබේ. මේ නිසා දීපවංසය තිබිය දී ම අඩුපාඩු වඩා අඩු කෘතියක් වශයෙන් මහාවංසය රචනා කොට තිබේ.



*ඡායාරූපය 1.1 පුරාණ කාලයට අයත් සාහිත්‍යය ආගමික තොරතුරු හා වංසකථා ලියැවී තිබෙන්නේ පුස්කොළ පොත්වල ය. දීර්ඝ කාලයකට අයත් පුස්කොළ පොත් සම්ප්‍රදායයක් ශ්‍රී ලංකාව සතු ව තිබේ.*



නොමිලේ බෙදා හැරීම සඳහා ය.

මහාවංසය යනු කොටස් කිහිපයකින් යුතු කෘතියකි. එහි මුල් කොටස අනුරාධපුර දික්සඳ සෙනෙවියා පිරිවෙනේ විසූ මහානාම නම් භික්ෂූන් වහන්සේ කෙනෙක් විසින් රචනා කරන ලදි. දීපවංසයේ මෙන් බුදුන් වහන්සේගේ ලංකාගමනයේ සිට මහසෙන් රාජ්‍ය සමය අවසානය තෙක් මෙරට ඓතිහාසික තොරතුරු මහාවංසයේ මුල් කොටසට ඇතුළත් වේ. එම කොටස ක්‍රිස්තු වර්ෂ පස් වන හෝ හය වන සියවසේ පමණ රචනා කොට ඇත. මහාවංසයේ මුල් කොටස හා දීපවංසයේ ඇතැම් තොරතුරු අතර සමානතාවක් දක්නට ලැබේ. මෙම මූලාශ්‍රය දෙක ම රචනා කිරීමේ දී ඊට ප්‍රථම ලියැවී තිබූ සීහලට්ඨකථා මහාවංසය, උත්තර විහාරට්ඨ කථා, විනයට්ඨ කථා ආදි මුල් ග්‍රන්ථවල ආභාසය ලැබී තිබීම ඊට හේතු වන්නට ඇත.

මහානාම හිමියන් මහාවංසයේ මුල් කොටස ලිවීමෙන් පසු වෙනත් කතුවරුන් විසින් වරින් වර ඒ ඒ කාලවකවානු පිළිබඳ තොරතුරු ඇතුළත් කොට අඛණ්ඩ කෘතියක් වශයෙන් මහාවංසය තවත් කොටස් කිහිපයක් වශයෙන් දීර්ඝ කරන ලදි. මේ නිසා ශ්‍රී ලංකාවේ ඉතිහාසය මහාවංසය තුළ අඛණ්ඩ ව ලියැවී තිබේ. රටක ඉතිහාසය අඛණ්ඩ ව එක ම කෘතියක ලියැවී ඇති රටවල් සංඛ්‍යාව සීමිත බැවින් මෙරට ඉතිහාසය එක ම කෘතියක සඳහන් ව තිබීම ලාංකිකයන්ට ආඩම්බර විය හැකි කරුණකි. මහාවංසයේ සඳහන් ඇතැම් ඓතිහාසික සිදුවීම් ශිලාලිපි හා වෙනත් මූලාශ්‍රය මගින් තහවුරු වන බැවින් එය වඩා විශ්වසනීය මූලාශ්‍රයක් ලෙස සැලකේ.

මහාවංසයේ මුල් කොටස ලියැවී ශතවර්ෂ හතරකට පමණ පසු පාලි භාෂාවෙන් රචිත එම කෘතියේ ඇතැම් තැන් තවත් විස්තර කොට අර්ථ විවරණය සඳහා ටීකාවක් සම්පාදනය කෙරිණි. මහාවංස ටීකාව ලෙස හඳුන්වනු එම කෘතිය වංසත්ථප්පකාසිනී යනුවෙන් නම් කර ඇත. වෙනත් මූලාශ්‍රයවලින් නොලැබෙන තොරතුරු රැසක් එම ග්‍රන්ථයට ඇතුළත් ව තිබේ.

මෙරට ඉතිහාසයේ අනුරාධපුර යුගයේ සිට මහනුවර රාජ්‍ය සමය දක්වා කාලපරිච්ඡේදය තුළ දේශීය සාහිත්‍ය කෘති ලෙස සැලකිය හැකි තවත් ග්‍රන්ථ රැසක් රචනා වී ඇත. ධර්ම ග්‍රන්ථ ලෙස සැලකිය හැකි බෝධිවංසය, ථූපවංසය, ධාතුවංසය, පූජාවලිය, සද්ධර්මාලංකාරය, වැනි කෘති රජරට ශිෂ්ටාචාර

| මූලාශ්‍රය වර්ගය | උදාහරණ |
|---|---|
| සන්දේශ කාව්‍ය | මයුර සන්දේශය, තිසර සන්දේශය, සැලළිහිණි සන්දේශය |
| ප්‍රශස්ති කාව්‍යය | පැරකුම්බා සිරිත |
| හටන් කාව්‍ය | සීතාවක හටන, කොන්ස්තන්තිනු හටන, ඉංග්‍රීසි හටන |

*වගුව අංක 1.1 එකිනෙකට වෙනස් අන්තර්ගතයකින් යුත් පැරණි සාහිත්‍ය මූලාශ්‍රය කිහිපයක්.*

සමයේ ඉතිහාසය හැදෑරීමට වැදගත් වේ. මෙරට ශාසන ඉතිහාසය පිළිබඳ ලියවී ඇති නිකාය සංග්‍රහය, දේශපාලන තොරතුරු ඇතුළත් රාජාවලිය වැනි කෘති ගම්පොළ රාජ්‍ය සමයේ සිට කෝට්ටේ රාජ්‍ය කාලය දක්වා ඉතිහාසය හැදෑරීමේ වැදගත් මූලාශ්‍රය වේ. කෝට්ටේ රාජ්‍ය කාලයේ සිට මහනුවර රාජ්‍ය සමය දක්වා ඉතිහාසය හැදෑරීමේ දී සන්දේශ කාව්‍ය, ප්‍රශස්ති කාව්‍ය හා හටන් කාව්‍ය ආදිය ද වැදගත් ය. වගු අංක 1.1 හි මෙබඳු මූලාශ්‍රයවලට අයත් උදාහරණ කිහිපයක් දැක්වේ.

දේශීය සාහිත්‍ය කෘති විවිධ කාල වකවානුවල රචනා වූ ඒවා වන අතර ඒ ඒ කෘති රචනා කිරීමට බලපෑ හේතු ද විවිධ වේ. අනුරාධපුර යුගයේ සිට කෝට්ටේ රාජ්‍ය සමය ආරම්භ වන තෙක් කාලයේ ලියැවී ඇති බොහොමයක් කෘති ආගමික අරමුණුවලින් රචනා වූ ඒවා වේ. ඇතැම් සාහිත්‍ය කෘති රචනා වූයේ ඒවායේ සඳහන් ඓතිහාසික සිදුවීම්වලින් ශතවර්ෂ කිහිපයකට පසු ව ය. මේ නිසා ඉතිහාසය ගොඩනැගීමට සාහිත්‍ය මූලාශ්‍රය යොදා ගැනීමේ දී පහත සඳහන් කරුණු කෙරෙහි සැලකිල්ල යොමු කළ යුතු වේ.

1. මූලාශ්‍රය රචනා වූ කාලය.
2. මූලාශ්‍රයේ කතුවරයා.
3. කතුවරයාගේ අරමුණු.
4. මූලාශ්‍රයට කරුණු සපයා ගත් ආකාරය.

මේ අනුව සාහිත්‍ය මූලාශ්‍රය පරිශීලනයේ දී විචාර බුද්ධියෙන් කටයුතු කළ යුතු බව ඔබට වැටහෙනවා ඇත.

### විදේශීය සාහිත්‍ය මූලාශ්‍රය

අනුරාධපුර යුගයේ මුල්භාගයේ සිට ම ශ්‍රී ලංකාව විදේශ රටවල් සමග වෙළෙඳ සබඳතා පැවැත්වූ බැවින් ඉන්දියානු සාගරයේ වෙළෙඳ කටයුතුවල නිරත වූ බොහෝ විදේශිකයෝ මෙරට පිළිබඳ දැන සිටියහ. මේ නිසා ක්‍රිස්තු පූර්ව අවධියේ පවා විදේශිකයන් ලියූ ඇතැම් කෘතිවල ශ්‍රී ලංකාව පිළිබඳ යම් යම් තොරතුරු ඇතුළත් කර තිබේ. ඈත අතීතයේ සිට ම ලංකාව හා ඉන්දියාව අතර හොඳ සබඳතාවක් පැවතුණි. මේ නිසා ඉන්දියාවේ ඇතැම් මූලාශ්‍රයවල ද ලංකාව පිළිබඳ තොරතුරු සඳහන් වේ. දකුණු ඉන්දියාවේ දී රචිත සිලප්පාදිකාරම්, මණිමේකලෛයි, පදිර්රුපත්තු වැනි දෙමළ ග්‍රන්ථවල ද ලංකාව ගැන තොරතුරු දක්නට ලැබේ. ක්‍රිස්තු වර්ෂ 16 වන සියවසේ දී පෘතුගීසීන් මෙරටට පැමිණීමෙන් පසු ව ශ්‍රී ලංකාව පිළිබඳ වෙන ම තොරතුරු ඇතුළත් ග්‍රන්ථ පවා රචනා කිරිමට ඇතැම් විදේශිකයෝ පෙලඹුණහ. ශ්‍රී ලංකාව ගැන සඳහන් විදේශීය මූලාශ්‍රය දෙස බලන විට ලංකාවට නොපැමිණි වෙනත් අයගෙන් අසා දැන ගත් තොරතුරු පදනම් කරගෙන මෙරට ගැන ලියූ ලේඛකයන් මෙන් ම ලංකාවට පැමිණ තොරතුරු අධ්‍යයනය කර ලියූ ලේඛකයන් ද සිටින බව පෙනේ.



*රූපය 1.2 ග්‍රීක රෝමානුවෙකු වූ ක්ලෝඩියස් ටොලමි ක්‍රිස්තු වර්ෂයෙන් 90-168 අතර කාලයේ ඇලෙක්සැන්ඩ්‍රියාවේ ජීවත් වූ භූගෝල ශාස්ත්‍රඥයෙකි. ඔහු විසින් ශ්‍රී ලංකාවේ සිතියමක් ඇඳ තිබේ.*

චිත්‍ර මූර්ති හා පුරාවස්තු වශයෙන් වර්ග කිහිපයකට බෙදා දැක්විය හැකි ය.

| | |
|---|---|
| චීන මූලාශ්‍රය | පාහියන් හිමියන්ගේ දේශාටන වාර්තාව (බෞද්ධ රාජධානි පිළිබඳ විස්තරය) |
| අරාබි මූලාශ්‍රය | ඉබන් බතූතාගේ දේශාටන වාර්තාව |
| පෘතුගීසි මූලාශ්‍රය | රිබෙයිරෝගේ ලංකාව පිළිබඳ ග්‍රන්ථය (රිබෙයිරෝගේ ලංකා ඉතිහාසය) |
| ඕලන්ද මූලාශ්‍රය | පිලිප්පස් බැල්ඩියස්ගේ කෘතිය (බැල්ඩියස්ගේ ලංකා පුරාවෘත්තය) |
| ඉංග්‍රීසි මූලාශ්‍රය | රොබට් නොක්ස්ගේ කෘතිය (එදා හෙළදිව) |

*වගුව අංක 1.2 ශ්‍රී ලංකාවට පැමිණ මෙහි ඇති තතු දැකබලා ඒ පිළිබඳ ව තබන ලද වාර්තා සහ ඒවායේ කර්තෘවරු.*

### සාහිත්‍ය මූලාශ්‍රයවල ප්‍රයෝජන

1 ඓතිහාසික කාල අනුපිළිවෙළ සකස් කර ගැනීමට

2 එක් එක් අවධිවල දේශපාලන, ආර්ථික සමාජ සංස්කෘතික කටයුතු පිළිබඳ තොරතුරු ලබා ගැනීමට

3 එක් මූලාශ්‍රයක් මගින් ලැබෙන තොරතුරු තවත් මූලාශ්‍රයක් මගින් සනාථ කර ගැනීමට

4 රටක විදේශීය සබඳතා අධ්‍යයනය කිරීමට (විදේශීය සාහිත්‍ය මූලාශ්‍රය මෙහි දී විශේෂයෙන් වැදගත් වේ)

### 2. පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය

පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය, අභිලේඛන, කාසි, නටබුන්,

### අභිලේඛන

අභිලේඛන යනු ගල් (ශිලා), මැටිපුවරු, බිත්ති, තඹ තහඩු, රන් තහඩු, දැව හා විවිධ භාජන ආදියෙහි ලියා ඇති පැරණි ලේඛන පොදුවේ හැඳින්වීමට යෙදෙන පදයකි. ගල් මත ලියා ඇති ලේඛන හැඳින්වීමට ශිලාලේඛන හෝ සෙල්ලිපි යන නාමය යෙදේ.

### සෙල්ලිපි

ශිලාලේඛන හෙවත් සෙල්ලිපි ලියා ඇති ගල්වල ස්වරූපය අනුව ඒවා ලෙන්ලිපි, ගිරිලිපි, ටැම්ලිපි, පුවරුලිපි හා ආසන ලිපි ආදි වශයෙන් වර්ග කළ හැකි ය. මෙරට පැරණිතම ශිලා ලේඛන බ්‍රාහ්මීය ලිපි ලෙස හැඳින්වෙන අතර ප්‍රධාන වශයෙන් භික්ෂූන්ට ලෙන් පිදීම වැනි දේ වාර්තා කර තැබීමට එම ලිපි ලියා තිබේ.

| මූලාශ්‍රය වර්ගය | උදහරණ |
|---|---|
| ග්‍රීක මූලාශ්‍රය | ඇරිස්ටෝටල්ගේ ඩිමුන්ඩො කෘතිය, මෙගස්තිනිස්ගේ ඉන්ඩිකා කෘතිය, ඔනෙසික්‍රිටස්ගේ වාර්තා |
| රෝම මූලාශ්‍රය | ප්ලිනීගේ නැචුරලිස් හිස්ටෝරියා කෘතිය, ටොලමිගේ භූගෝල ශාස්ත්‍ර ප්‍රවේශය කෘතිය, ටොලමිගේ ලංකා සිතියම |
| චීන මූලාශ්‍රය | හියුං සියැං භික්ෂුවගේ දේශාටන වාර්තා කෘතිය |
| පෘතුගීසි මූලාශ්‍රය | ෆර්නාඕ ඩී ක්වෙරොස් පියතුමාගේ ලංකාව පිළිබඳ ග්‍රන්ථය |

*වගුව අංක 1.3 තමන් විසින් නුදුටු එහෙත් වෙනත් අය විසින් පවසන ලද තොරතුරු මත පිහිටා ශ්‍රී ලංකාව පිළිබඳ වාර්තා තැබූ කර්තෘවරුන් සහ ඔවුන්ගේ කෘති*

පැරණි සමාජ ඉතිහාසය හා ජනාවාස ව්‍යාප්තිය තේරුම් ගැනීමට මෙම ලිපි වැදගත් වේ. ක්‍රිස්තු පූර්ව දෙවන සියවසේ සිට මහනුවර රාජ්‍ය සමය දක්වා ශිලාලේඛන ලිවීම අඛණ්ඩ ව පැවතුණි. ක්‍රිස්තු වර්ෂ දෙවන සියවසෙන් පසු ව විහාරාරාමවලට ගම්බිම් පිදීම විහාරාරාම පාලනය, රජයේ නීති මහජනයාට දැනුම් දීම, බදු අයකිරීම, වෙළෙඳාම, වැරදිකරුවන්ට සමාව දීම පුද්ගලයන්ගේ සේවය ඇගයීම වැනි නොයෙක් කරුණු වාර්තා කර තැබීමට ශිලාලේඛන පිහිටුවනු ලැබී ය. මේ නිසා සාහිත්‍ය මූලාශ්‍රයවල සඳහන් නොවන බොහෝ කරුණු ශිලාලිපිවලින් අනාවරණය කර ගත හැකි ය.

## කාසි

අනුරාධපුර යුගයේ සිට ලංකාවේ කාසි භාවිතය පැවතුණි. මෙරටින් හමුවන පැරණිතම කාසි 'කහාපණ' ලෙස හැඳින්වේ. පුරාණ හෝ ධරණ යන නම් ද එම කාසිවලට යෙදේ. ඇතා සහ ස්වස්තික කාසි, ලක්ෂ්මී කාසි හා අක නම් රන් කාසි වර්ගයක් ද මෙරට භාවිත කර ඇත. පොළොන්නරු රාජ්‍ය සමයේ තඹ මස්ස කාසි භාවිත කෙරිණි. මෙරටට අවශ්‍ය කාසි රට තුළ ම නිෂ්පාදනය කර ඇති අතර කාසි නිපදවූ අච්චු පවා කැණීම්වලින් හමු වී තිබේ. දේශීය කාසිවලට අමතර ව රෝම කාසි, චීන කාසි. ඉන්දියානු කාසි ආදියත් ශ්‍රී ලංකාවෙන් හමු වේ. රටේ ආර්ථික තත්ත්වය, වෙළෙඳම, ලෝහ භාවිතය ආදිය හැදෑරීමේ දී කාසි ඉතා වැදගත් මූලාශ්‍රයකි. පැරණි කාසි පිළිබඳ ව හදරන විෂය නාණක විද්‍යාව ලෙස හැඳින්වේ.

## පුරාණ නටබුන්

ශ්‍රී ලංකාවේ බොහෝ ප්‍රදේශවල පැරණි ගොඩනැගිලි, දගැබ්, ගල් කණු, වැව්, පොකුණු, ආදි නටබුන් දක්නට ලැබේ. අතීතයේ මෙරට ජනතාව ජීවත් වූ ඇතැම් ස්ථාන තවමත් වනගත ව පවතින බැවින් වනාන්තර ආශ්‍රිත ව වුව ද මෙබඳු නටබුන් පවතී. ඓතිහාසික ස්ථාන හෝ පුරාවිද්‍යාත්මක ස්මාරක ලෙස හඳුන්වනු ලබන මෙකී නටබුන් මෙරට ඉතිහාසය හැදෑරීමේ හොඳ මූලාශ්‍රයකි. පැරණි ජනතාවගේ නිර්මාණාත්මක හැකියාව,තාක්ෂණය, ගොඩනැගිලි නිර්මාණය, හෙවත් වාස්තු විද්‍යාව,



*ඡායාරූපය අංක 1.3 කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජතුමා විසින් කරවන ලද ගල්පොත සෙල්ලිපිය. මෙය පිහිටා තිබෙන්නේ පොළොන්නරුවේ ය.*



*ඡායාරූපය අංක 1.4 පළමු වන විජයබාහු රජතුමා විසින් ලියවන ලද පනාකඩුව තඹ සන්නස. මෙය තමාට පක්ෂපාතිත්වය දක්වූ සිත්නාරුබිම බුදල්නා නම් නිලධාරියාට කළගුණ සලකනු පිණිස ඔහුට පිරිනමන ලද්දකි. මෙහි පළමු වන පේළියේ සිට තෙවන පේළිය දක්වා* ***''ස්වස්ති සිරිසිරිවත් අපිරියත් ලෝ ඉකුත් ගුණමුලින් උතුරත් මුළු දඹදිව්හි අන්කැත්කුල පාමිලි කළ ඔකාවස් රද් පරපුරෙන් බට් කැත් උසබ්නට් අගමෙහෙසුන් වූ ලක්දිව් පොළො යොහෙන පරපුරෙන් හිමි සිරිසගබෝ විජයබාහු රජපා වහන්සේ''*** *යනුවෙන් ලියා තිබේ. ක්‍රිස්තු වර්ෂයෙන් දෙළොස් වන සියවසේ ඉතිහාසය හැදෑරීමට මෙම ලේඛනය වැදගත් මූලාශ්‍රයකි.*

| **අභිලේඛන ලියා ඇති මාධ්‍ය** | **උදාහරණ** |
|---|---|
| ශිලා (ගල්) | නිශ්ශංකමල්ල රජුගේ ගල්පොත ලිපිය |
| බිත්ති | සීගිරි ගී |
| තඹ තහඩු | පළමු වන විජයබාහු රජුගේ පනාකඩුව තඹ සන්නස |
| රන් තහඩු | වල්ලිපුරම් රන්පත |
| දැව | ඇම්බැක්කේ දේවාලයේ දැව කණුවල ලියූ ලේඛන |
| මැටි පුවරු | උළු හා ගඩොළු මත ලියූ අකුරු |
| භාජන | මැටි වළං, පාත්‍ර ආදියේ ලියූ අකුරු |

*වගුව අංක 1.4 අභිලේඛන ලියා ඇති එකිනෙකට වෙනස් මාධ්‍ය කිහිපයක්.*

| | |
|---|---|
| ලෙන් ලිපි | ගල්ලෙන්වල කටාරම අසල ලියූ ලිපි |
| ගිරිලිපි | ගල් තලාවල හෝ ගල්කුළුමත ලියූ ලිපි |
| ටැම්ලිපි | සකස් කර ගත් ගල්කුලුණු මත ලියූ ලිපි |
| පුවරුලිපි | සකස් කර ගත් ගල්පුවරු මත ලියූ ලිපි |
| ආසනලිපි | මල් ආසන මෙන් තැබූ ගල්පුවරු මත ලියූ ලිපි |

වගුව අංක 1.5 ලියා තිබෙන ස්ථානයේ ස්වරූපය පදනම් කර ගෙන අභිලේඛන හැඳින්වීම සඳහා යෙදෙන ව්‍යවහාර

සීගිරි චිත්‍ර උදාහරණයක් වශයෙන් ගත හොත් පැරණි කාන්තාවන්ගේ ඇඳුම් පැළඳුම්, ආභරණ, කොණ්ඩ මෝස්තර, රූපලාවණ්‍ය කටයුතු වැනි අංශ කිහිපයක් ගැන එමගින් තොරතුරු ලබා ගත හැකි ය.

ශිල්පීය දක්ෂතාව, පරිසර සංරක්ෂණ හැකියාව, ජල පාලනය වැනි විවිධ අංශ පිළිබඳ නිරවුල් දැනුමක් ලබා ගැනීමට මෙම නටබුන් අපට උපකාරී වේ.

## චිත්‍ර මූර්ති හා පුරාවස්තු

පැරණි චිත්‍ර, මූර්ති හා කැටයම් ආදිය අපේ සංස්කෘතික ඉතිහාසය පෙන්නුම් කෙරෙන ජීවමාන සාක්ෂි වේ. අතීත ජනතාවගේ ඇඳුම් පැළඳුම්, කලා කුසලතාව, ආභරණ පරිහරණය, වර්ණ භාවිතය, ආගමික විශ්වාස, ආදි බොහෝ අංශ පිළිබඳ තොරතුරු ලබා ගැනීමට චිත්‍ර, මූර්ති හා කැටයම් උපකාරී වේ.

පැරණි ජනතාව විසින් නිර්මාණය කරන ලද හෝ පරිහරණය කරන ලද හෝ දැනට ඉතිරිව ඇති දේ පුරාවස්තු ලෙස හැඳින්විය හැකි ය. මෙරට කෞතුකාගාරවල, ආගමික ස්ථානවල, විවිධ ආයතන හෝ පුද්ගලයන් භාරයේ පුරාවස්තු පවතී. කැණීම් මගින් ද බහුලව පුරාවස්තු හමු වේ. පැරණි ජනතාවගේ විවිධ හැකියා, කුසලතා, පැරණි සංස්කෘතිය, තාක්ෂණය, විදේශ සබඳතා හා ඔවුන්ගේ ජීවන ක්‍රමය ආදි අංශ රැසක් පිළිබඳ අවබෝධය ලබා ගැනීමට පුරා වස්තු උපකාරී වේ.



*ඡායාරූපය අංක 1.5 ශ්‍රී ලංකාවේ භාවිත වූ මෙම කාසිය රනින් නිමවන ලද්දකි. එය හැඳින්වෙන්නේ මධ්‍යකාලීන රන් කහවණුව නමිනි. මෙවැනි කාසි පුරාණ කාලයේ ආර්ථිකය පමණක් නොව තාක්ෂණය හැදෑරීමට ද ඉවහල් වන මූලාශ්‍රයකි.*

ශ්‍රී ලංකාවේ ඉතිහාසය ගොඩනැගීමට යොදා ගත හැකි විවිධ මූලාශ්‍ර රාශියක් තිබෙන බව ඉහත සඳහන් කරුණුවලින් ඔබට පෙනී යනු ඇත. මූලාශ්‍රය ඇසුරින් තොරතුරු ලබා ගෙන ඉතිහාසය ගොඩනැගීමේ දී අතීතය නිවැරදි ව දැකීමට නම් එම මූලාශ්‍රය විචාර බුද්ධියෙන් යුතු ව පරිශීලනය කළ යුතු වේ. සාහිත්‍ය මූලාශ්‍රය බොහෝ විට ඓතිහාසික සිදුවීම්වලට වඩා පසුකාලීන වාර්තා ය. එසේ ම එම ග්‍රන්ථවල කර්තෘවරුන්ගේ රුචි අරුචිකම් මූලාශ්‍රයවලට ඇතුළු විය හැකි ය. පුරාවිද්‍යා මූලාශ්‍රය බොහෝ විට ඓතිහාසික සිදුවීම්වලට සමකාලීන ඒවා ලෙස සැලකේ. මේ අනුව සාහිත්‍ය මූලාශ්‍රයවල සඳහන් තොරතුරු පුරාවිද්‍යාත්මක වශයෙන් සනාථ වේ නම් ඒවා වඩා විශ්වාසදායී තොරතුරු ලෙස සැලකිය හැකි ය. කිසි යම් ඓතිහාසික සිදුවීමක් පිළිබඳ ඉතිහාසය ගොඩනැගීමේ දී ඊට අදාළ ව සපයාගත හැකි සියලු මූලාශ්‍රය පරිශීලනය කළ යුතු ය. එහි දී ලැබෙන විවිධ තොරතුරු විචාරත්මක ව හදරා වඩා විශ්වාසදායි තොරතුරු තෝරා බේරා ගෙන අදළ සිදුවීමේ ඉතිහාසය ගොඩනැගිය යුතු ය. මේ අනුව සාහිත්‍ය මූලාශ්‍රයවල අඩු පාඩු පුරවා ගැනීමට මෙන් ම අලුත් තොරතුරු ලබා ගැනීමට ද, සාහිත්‍ය කෘතිවල සඳහන් කරුණු සනාථ කර ගැනීමට ද පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය ප්‍රයෝජනවත් වේ.



*ඡායාරූපය අංක 1.6 අනුරාධපුරයේ ඉසුරුමුණි විහාරයේ පිහිටි අශ්ව හිස සහ මිනිසා දක්වෙන මූර්තිය. ක්‍රිස්තු වර්ෂයෙන් හත්වන සියවසේ දී නිර්මාණය කරන්නට ඇතැයි සැලකෙන මෙම මූර්තිකර්මයෙන් අග්නි (අශ්ව හිස) හා පර්ජන්‍ය (මිනිස් රූපය) යන දෙවිවරුන් නිරූපිතයැ යි විශ්වාස කෙරේ.*

## 1.2 ඉතිහාසය ඉගෙනීමේ වැදගත්කම

ඉතිහාසය යනු මූලාශ්‍රය අධ්‍යයනය සමග බැඳී ඇති විෂයයක් මෙන් ම කුතුහලයෙන් යුතුව හැදෑරිය හැකි විෂයයකි. මේ නිසා ඉතිහාසය හදාරන්නා ස්වභාවයෙන් ම පොත්පත් කියවීමට පෙළඹෙයි. පොත්පත් කියවීමේ දී ඓතිහාසික සිදුවීම් පිළිබඳ විවිධ කරුණු, අදහස්, හා මතවාද හමුවන බැවින් කියවන්නා තුළ විචාර බුද්ධිය දියුණු වේ. මේ නිසා ඔහු සැම දෙයක් පිළිබඳ ව ම තර්කානුකූල ව සිතීමට පෙළඹෙන අතර එමගින් ගැටලු නිසි පරිදි තේරුම් ගැනීමට ද හැකියාව ලබයි. ගැටලු නිසි පරිදි තේරුම් ගත් විට ඒවාට නිර්මාණාත්මක පිළිතුරු සෙවීමට පෙළඹීමක් ඇති කරයි. මේ නිසා ඉතිහාසය ඉගෙනීමෙන් කෙනෙකුගේ පෞරුෂත්වය වර්ධනය වේ. මීට අමතර ව ඉතිහාසය ඉගෙන ගැනීමෙන් පහත සඳහන් ප්‍රයෝජන අත් වේ.

1. තමා ජීවත් වන සමාජය හා ලෝකය පිළිබඳ යථාවබෝධය

2. අතීත අත්දැකීම් මගින් වර්තමානය තේරුම් ගෙන අනාගතය ගොඩනැඟීම

3. රටේ ජාතික අනන්‍යතාව හඳුනා ගැනීම

4. මනුෂ්‍යත්වයට ආදරය කිරීමෙන් ජාතික සමගිය ගොඩනැඟීම

5. අන්‍ය සංස්කෘතීන්ට ගරු කිරීමට පුරුදු වීම

6. විවිධ මත ඉවසීමට හුරු වීම

## 1.3 පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය ආරක්ෂා කර ගැනීම

ශ්‍රී ලංකාවට හිමි දීර්ඝ ඉතිහාසයත්, අතීත ජනගහන ව්‍යාප්තියත්, ශතවර්ෂ ගණනාවක් තුළ මෙරට ජීවත් වූ ජන සංඛ්‍යාවත් දෙස බලන විට පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය වශයෙන් අද අපට ඉතිරි ව ඇත්තේ ගල්, ලෝහ, හෝ පිළිස්සූ මැටි වැනි කල් පවතිනා අමුද්‍රව්‍යවලින් කළ නිර්මාණ පමණකි. නැතහොත් වැව් අමුණු වැනි මහා පරිමාණ නිර්මාණ වේ. රට තුළ සිදුවන ශීඝ්‍ර නාගරීක ජනාවාස ව්‍යාප්තිය, මංමාවත් තැනවීම, ගොඩනැගිලි ඉදිකිරීම, කෘෂිකාර්මික කටයුතු ආදිය නිසා ඇතැම් විට මෙම වටිනා මූලාශ්‍රය විනාශ වන අවස්ථා තිබේ. ඓතිහාසික ස්ථාන, ස්මාරක හා පුරාවස්තු අද අපට දක්නට ලැබෙනුයේ අපේ අතීත පරම්පරාව ඒවා ආරක්ෂා කළ නිසා ය. එබැවින් වර්තමාන පරම්පරාව වශයෙන් ඒවා ආරක්ෂා කිරීම රටේ සියලු පුරවැසියන් සතු වගකීමකි.

ශ්‍රී ලංකාවේ නොයෙක් ප්‍රදේශවල ගල්වල කොටා ඇති විවිධ පැරණි සලකුණු දක්නට ලැබේ. එසේ දක්නට ලැබෙන ඉර හඳ රූප, වටාපොත, දුන්න, ඊතලය, හක්ගෙඩිය, ගොන්කුරය, ඇත් අඩිය හා විවිධ සත්ත්ව රූප ආදිය පැරණි ප්‍රදේශීය මායිම් පෙන්වන රූප සටහන් වේ. නැතහොත් වර්තමාන මාර්ග සලකුණු මෙන් ඒවා ද පැරණි සන්නිවේදන ක්‍රමයකි. මෙවැනි සලකුණු හා සඳකඩපහණ, මුරගල්, ගල්කණු හෝ පුරාවස්තු ඇති වෙනත් ස්ථානවල වටිනා දේ තැන්පත් ව ඇතැයි වරදවා සිතන ඇතැම්හු නොදැනුවත්කම නිසා මෙබඳු තැන් හාරා විනාශ කරති. ඓතිහාසික ස්ථානවල හෝ පුරා වස්තු මත අකුරු ලිවීම, රූප ඇඳීම ආදියත් පුරා වස්තු විනාශයට හේතු වන අතර රටේ නීතිය අනුව ද එය දඬුවම් ලැබෙන වරදකි. එබැවින් පුරාවිද්‍යා මූලාශ්‍රයවලින් සිදුවන මෙහෙය වටහාගත් ශිෂ්‍ය ශිෂ්‍යාවන් වශයෙන් ඒවා ආරක්ෂා කිරීමට ඔබ අධිෂ්ඨාන කර ගත යුතු ය.

**වැදගත් කරුණු**

1. ඉතිහාසය හැදෑරීමට ඉවහල් වන දෑ හැඳින්වෙන්නේ මූලාශ්‍රය යනුවෙනි.

2. මූලාශ්‍රය සාහිත්‍ය සහ පුරාවිද්‍යාත්මක යනුවෙන් කොටස් දෙකකට බෙදිය හැකි ය.

3. පැරණි කාලයේ රචනා කරන ලද පොත්පත් ආදිය සාහිත්‍ය මූලාශ්‍රය ගණයට අයත් වන අතර නටබුන් වී තිබෙන ගොඩනැගිලි, නොයෙකුත් පුරාවස්තු ආදි දෑ පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය ය.

4. ඉතිහාසය ඉගෙන ගැනීමෙන් පැරණි කාලයේ ජීවත් වූ අපේ මුතුන්මිත්තන් විවිධ අත්දැකීම්වලට මුහුණ දුන් ආකාරය වටහා ගැනීමට හැකි වේ. එමගින් ඒ හා සමාන වර්තමාන ගැටලුවලට මුහුණ දීමට අවශ්‍ය කරන දැනුම ලබා ගැනීමට අවකාශයක් සැලසේ.

5. රටක ඉතිහාසය එම රටේ ජීවත් වන පුරවැසියන්ගේ අනන්‍යතාව පිළිබිඹු කරයි.

**ක්‍රියාකාරකම**

1. මෙම පාඩමේ දී ඔබ විසින් ඉගෙන ගනු ලැබූ විවිධ මූලාශ්‍රය පහත සටහනේ දක්වෙන ආකාරයට පෙළ ගස්වන්න.

| මූලාශ්‍රය | මූලාශ්‍රය වර්ගය<br>සාහිත්‍ය/ පුරා විද්‍යාත්මක | ඉතිහාසය ගොඩනැගීමට<br>ලැබෙන ප්‍රයෝජන |
|---|---|---|
| (i) දීපවංසය<br>(ii) මහාවංසය<br>(iii) එදා හෙළ දිව<br>(iv) පැරකුම්බා සිරිත<br>(v) සීගිරිය<br>(vi) සීතාවක හටන<br>(vii) පනාකඩුව තඹ සන්නස<br>(viii) ටොලමිගේ ලංකා සිතියම<br>(ix) වල්ලිපුරම් රන් සන්නස<br>(x) වී.ඕ.සී.කාසි | | |

2. "ඉතිහාසය ඉගෙනීමෙන් මගේ ජීවිතයට ගත හැකි ආදර්ශ" යන මැයෙන් පුවත් පතකට ලිපියක් සකස් කරන්න.

*දික්සඳ සෙනවියා පිරිවෙන .- අනුරාධපුර මහාවිහාරයට අනුබද්ධ ව පිරිවෙන් කිහිපයක් තිබිණි. සුන්හාත පිරිවෙන, මරුගන පිරිවෙන, එලග්ග පිරිවෙන යනු ඒ අතරින් කිහිපයකි. දික්සඳ සෙනවියා පිරිවෙන යනු ඒ පිරිවෙන් මඬුල්ලට අයත්ව තිබූ තවත් පිරිවෙනකි. මහාවංසය රචනා කළ මහානාම හිමියන් ඒ පිරිවෙනේ වැඩ වාසය කළ හිමිනමකි.*

*ෆාහියන් හිමි .- ෆාහියන් (FA-HSIEN) යනු චීන ජාතික භික්ෂූන්වහන්සේ නමකි. උන්වහන්සේ බෞද්ධ ධර්මය ඇතුළත් පොත්පත් සොයා චීනයේ සිට පයින් ම ඉන්දියාවට පැමිණියේ ය. ෆාහියන් භික්ෂූන්වහන්සේ (ක්‍රි.ව. 399-414) ක්‍රිස්තු වර්ෂයෙන් පස් වන සියවසේ දී ශ්‍රී ලංකාවට වැඩම කොට දෙවසරක් අනුරාධපුර අභයගිරි විහාරයේ වැඩ වාසය කළහ. උන්වහන්සේ චීනයේ ෂන්-සි පළාතේ වුයැන්ග් නම් ගමේ උපත ලැබී ය. උන්වහන්සේ විසින් රචිත ගමන් විස්තරවල එකල ශ්‍රී ලංකාවේ පැවති ඇතැම් දේ පිළිබඳ ව ද සඳහන් ය.*

*හියුං සියැං (Hsuan-Tsang) .- හියුං සියැං (ක්‍රි. ව. 602-664) චීන ජාතික භික්ෂූන්වහන්සේ නමකි. උන්වහන්සේ වන්දනා කටයුතු සඳහා ඉන්දියාවට වැඩම කළහ. ක්‍රිස්තු වර්ෂයෙන් 629 දී චීනයෙන් නික්ම ආ උන්වහන්සේ වසර දහසයක් තිස්සේ සිය වන්දනා ගමනේ නිරත වූහ. ඒ අතර වාරයේ උන්වහන්සේ විසින් ආසියාවේ දී තමන් දුටු දේ වාර්තා කර තබණු ලැබිණි. ශ්‍රී ලංකාවට වැඩම නොකළ ද උන්වහන්සේ ඉන්දියාවේ දී ශ්‍රී ලංකාව පිළිබඳ තමන්ට අසන්නට ලැබුණු දේ ලියා තැබූහ. එම තොරතුරු වුව ද ක්‍රිස්තු වර්ෂයෙන් හත්වන සියවසේ මෙරට ඉතිහාසය හැදෑරීමට වැදගත් වේ*

*රිබෙයිරෝ -. ජොආඕ රිබෙයිරෝ (Joao Ribeiro) පෘතුගීසි ජාතිකයෙකි. 1640 මාර්තු මාසයේ දී ඔහු ශ්‍රී ලංකාවට පැමිණියේ පෘතුගීසි හමුදාවට සේවය කරනු පිණිස ය. හෙතෙම අවුරුදු දහඅටක් තිස්සේ ශ්‍රී ලංකාවේ වාසය කරමින් පෘතුගීසි හමුදාවට සේවය කරමින් සිට කපිතාන්වරයෙකු දක්වා උසස් වීම් හිමි කර ගත්තේ ය. සිය වයෝවෘද්ධ කාලයේ පෘතුගාලයේ ලිස්බන් නුවර වාසය කරමින් ශ්‍රී ලංකාවේ දී තමන් ලද අත්දැකීම් පදනම් කරගෙන පොත් කිහිපයක් රචනා කළේ ය. එම පොත් ක්‍රිස්තු වර්ෂයෙන් දහහත් වන සියවසේ ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීමට බෙහෙවින් ප්‍රයෝජනවත් ය.*

*පිලිප්පුස් බැල්දියස් (ක්‍රි.ව. 1632-1672) -. පිලිප්පුස් බැල්දියස් (Philippus Baldaeus) ලන්දේසි ජාතික දේවගැතිවරයෙකි. ඔහු ලන්දේසි හමුදා සමග ශ්‍රී ලංකාවට පැමිණියේ ය. ලන්දේසීන්ගේ පෙරදිග ඉන්දියා වෙළෙඳ සමාගමට සේවය කිරීම ඔහුගේ රාජකාරිය විය. තම රාජකාරියට අමතර ව ඔහු එවක ශ්‍රී ලංකාවේ පැවති සමාජ ජීවිතය, භාෂාව සහ සංස්කෘතිය පිළිබඳ වාර්තා තැබී ය. එම වාර්තා ලන්දේසි සහ ජර්මානු භාෂාවෙන් ප්‍රකාශයට පත් කර තිබේ. බැල්දියස්ගේ වාර්තා ක්‍රිස්තු වර්ෂයෙන් දහහත් වන සියවසේ ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීමට බෙහෙවින් වැදගත් වන මූලාශ්‍රයකි.*

*රොබර්ට් නොක්ස් (Robert Knox) -. රොබර්ට් නොක්ස් (ක්‍රි.ව. 1641-1720) යනු ඉංග්‍රිසි ජාතික නැව් කපිතාන්වරයෙකි. ඔහු තම වසය 14 දී සිය පියා සමග නැව් නැගී ඉන්දියාවට පැමිණියේ ය. ක්‍රිස්තු වර්ෂ 1658 දී පර්සියාව බලා යාත්‍රා කරමින් සිටි ඔවුන්ගේ නැවේ කුඹගස කුණාටුවක් නිසා බිඳී යාමේ හේතුවෙන් ක්‍රිස්තු වර්ෂ 1659 නොවැම්බර් 19 වන දා ශ්‍රී ලංකාවට පා වී ආවේ ය. ඒ අවස්ථාවේ දී රොබර්ට් නොක්ස් ඇතුළු නැවේ සිටි දහසය දෙනෙකුගෙන් සමන්විත පිරිස දෙවන රාජසිංහ රජු විසින් සිරභාරයට ගන්නා ලදහ. අවුරුදු දහනවයක කාලයක් තිස්සේ සිරකරුවකු ලෙස ශ්‍රී ලංකාවේ කාලය ගත කළ රොබර්ට් නොක්ස් අනතුරුව ගැලවී පැන ගියේ ය. මන්නාරමේ අරිප්පු නම් ස්ථානයට ළඟා වූ ඔහු එතැනින් බතාවියාවට පැන ගියේ ය. ක්‍රිස්තු වර්ෂයෙන් 1680 දී ඔහු නැවතත් එංගලන්තයට ළඟා විය. මේ ගමන අතරතුර ඔහු විසින් ශ්‍රී ලංකාවේ දී තමන් ලත් අත්දැකීම් පදනම් කොට ගෙන පොතක් රචනා කළේ ය. An Historical Relation of the*

*Island of Ceylon* නම් වූ එම කෘතිය 1681 දී ප්‍රකාශයට පත් විය. ඔහු මෙරට ගත කළ කාලයේ දී එනම් ක්‍රිස්තු වර්ෂයෙන් දහහත් වන සියවසේ ශ්‍රී ලංකාවේ පැවති සමාජය පිළිබිඹු කරන චිත්‍ර සහ විස්තර එම කෘතියට ඇතුළත් ය.

ෆර්නාඕ ඩි ක්වෙරෝස් (Fernão de Queyroz).- කතෝලික ජේසුයිට් නිකායික පූජකවරයෙකු වූ ක්වෙරෝස් පෘතුගීසි ජාතිකයෙකි. 1688 වසරේ දී ශ්‍රී ලංකාව පිළිබඳ ඔහු විසින් *Temporal and Spiritual Conquest of Ceylon* නමින් කෘතියක් රචනා කරන ලදී. ශ්‍රී ලංකාවට නොපැමිණි ක්වෙරෝස් එම කෘතිය රචනා කළේ ඔහු ඉන්දියාවේ ගත කළ කාලයේ ය.

# 2 ශ්‍රී ලංකාව ජනාවාස වීම

### හැඳින්වීම

ශ්‍රී ලංකාව මිනිස් වාසයක් බවට පත් වූයේ මීට අවුරුදු එක්ලක්ෂ විසිපන්දහසකට පමණ ඉහත කාල වකවානුවක දී ය. ඉන්දියානු සාගරය හරහා මෙහි පැමිණි නූතන මානවයා නමින් හැඳින්වෙන හෝමොසාපියන්වරු එසේ මෙරටට සංක්‍රමණය වූහ. එතැන් පටන් ඔවුහු මෙරට විවිධ ප්‍රදේශවලට පැතිර යමින් ඒ ඒ පළාත්වල තිබෙන පරිසර ස්වරූපවලට හැඩ ගැසුණහ. සැලකිය යුතු තරමේ දීර්ඝ කාලයක් ඔවුන් මේ රටේ ජීවත් වීම නිසා කාලානුරූප ව ඔවුන්ගේ සංස්කෘතිය ද සකස් විය. සංස්කෘතියේ සිදු වූ එම වෙනස්කම් පදනම් කොට ගෙන ශ්‍රී ලංකාවේ මනුෂ්‍ය පැවැත්මේ ඉතිහාසය අවධි තුනකට බෙදා තිබේ. ඒ අවධි කෙබඳු ස්වරූපයේ ඒවා දැ යි යන කාරණයත් ඒ අදාළ කාල වකවානුවල දී ඔවුන් ජීවත් වූ ආකාරය ගැනත් මෙම පාඩමේ දී ඔබට විස්තර කර දෙනු ඇත.

## 2.1 ප්‍රාග් ඓතිහාසික යුගයේ ජනාවාස

සාහිත්‍ය මූලාශ්‍රය මගින් විස්තර කෙරෙන අතීත කාලයේ ආරම්භයට පෙර තිබූ යුගය පොදුවේ හැඳින්වෙන්නේ ප්‍රාග් ඓතිහාසික යුගය නමිනි. ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගයට සංස්කෘතික අවධි දෙකක් අයත් ය. එයින් පළමුවැන්න දීර්ඝ කාලයක් තිස්සේ පැවති ගල් යුගය යි. දෙවන යුගයට අයත් වන්නේ ශාක ආහාර මත යැපීම වෙත වැඩි නැඹුරුවක් තිබූ සහ ලෝහ භාවිතය සහ ස්ථිරවාසි ජනාවාස ආරම්භ වන කාලපරිච්ඡේදය යි. මේ අතරින් ගල්යුගය හැඳින්වීමට ප්‍රාග් ඓතිහාසික යුගය යන ව්‍යවහාරයත් දෙවන අවධිය හැඳින්වීමට පූර්ව ඓතිහාසික යුගය යන යෙදුමත් භාවිත කෙරේ.

### ජනාවාස ව්‍යාප්තිය

ශ්‍රී ලංකාව ජනාවාස කරන ලද්දේ ආදි කාලීන හෝමෝසාපියන් මානවයා විසිනි. එකී මානවයා මෙරට විවිධ දේශගුණික කලාපවලට අනුවර්තනය වෙමින් පුළුල් භූගෝලීය ප්‍රදේශයක ව්‍යාප්ත විය. දඩයමින් සහ තැන තැන ඇවිද යමින් ආහාර එකතු කිරීම ඔවුන්ගේ ප්‍රධාන යැපීම් ක්‍රමය විය.

ශ්‍රී ලංකාවේ ගල්යුගයට අයත් සාක්ෂි හමුවන තැන් බොහෝය. එයින් පළමුවැන්න රත්නපුර සහ එහි අවට ප්‍රදේශවල පිහිටි මැණික් පතල් ය. සාමාන්‍යයෙන් පොළොව මට්ටමේ සිට අඩි 90 ක් පමණ ගැඹුරින් මෙම පතල්වල හමුවන ඉල්ලම් නමින් හැඳින්වෙන බොරලු මිශ්‍ර පස් තට්ටුවේ ඉතා ඈත යුගයක විසූ මිනිසුන් විසින් භාවිත කරන ලද ගල් මෙවලම් සහ වඳ වී ගිය ඇතැම් සතුන්ගේ ඇටකැබලි තැන්පත්ව තිබේ. ප්ලයිස්ටොසීන භූ අවධියේ දී පැවති අධික වර්ෂා සහිත කාලගුණය නිසා කඳුකර ප්‍රදේශ සෝදා යෑමෙන් හටගත් බොරලු තට්ටු මෙසේ පහත් බිම්වල තැන්පත් විය.

ශ්‍රී ලංකාවේ අර්ධශුෂ්ක කලාපයේ පොළොවේ මැටි සහිත වැලි පසකින් වැසුණු බොරලු තට්ටුවක් තිබේ. පුරාවිද්‍යාඥයින් විසින් එය හඳුන්වා තිබෙන්නේ ඉරණමඩු සැකැස්ම යන නමිනි. ඉරණමඩු සැකැස්ම තැන්පත් වූයේ ප්ලයිස්ටොසීන යුගයේ පැවති කෙටි උණුසුම් කාලවල දී ය. මෙම බොරලු තට්ටුවෙන් ද මෙරට ගල්යුගයට අයත් මෙවලම් හමු වේ.

### විවිධ දේශගුණික කලාපවල ජනාවාස ව්‍යාප්තිය

ශ්‍රී ලංකාවේ ප්‍රධාන පරිසර කලාප 6 ක ගල් යුගයට අයත් ප්‍රජාව ජීවත් වී තිබේ. මෙම පරිසර කලාප නම් (A) අර්ධ ශුෂ්ක කලාපය (B) පහතරට වියළි කලාපය (C) පහතරට අතරමැදි වියළි කලාපය (D) තෙත් කලාපය (E) කඳුකර වියළි අතරමැදි කලාපය (F) ශුෂ්ක කලාපය

මෙම පරිසර කලාප තීරණය කිරීමට ප්‍රධාන වශයෙන් සැලකිල්ලට ගනු ලබන්නේ වාර්ෂික වර්ෂාපතන අගයන්වල වෙනස්කම් ය. වර්ෂාපතනයේ වෙනස්කම් අදාළ ප්‍රදේශවල වාසය කරන සතුන්ටත් ශාක ප්‍රජාවටත් ඍජු බලපෑමක් ඇති කරයි. එහෙයින් එකිනෙකට වෙනස් පරිසර කලාපවලට අනුවර්තනය වූ ගල් යුගයේ වැසියන්ගේ ආහාර පරිභෝජනයේ සහ තාක්ෂණයේ යම් යම් විවිධතා ඇති විය. නිදසුනක් ලෙස පහතරට තෙත් කලාපයේ විසූ ගල්යුගයේ ප්‍රජාව සිය ආහාරය සඳහා ගොඩබිම ජීවත් වන බෙල්ලන් වැඩි වශයෙන් යොදා ගත්හ. විවිධ බෙල්ලන් වර්ග පහතරට තෙත් කලාපයේ සුලබ ය. එහෙත් මෙම තත්ත්වය පහතරට වියළි කලාපයේ දක්නට නැත.




*සිතියම අංක 2.1 දැනට සොයා ගෙන තිබෙන ශ්‍රී ලංකාවේ ප්‍රාග්ඓතිහාසික ස්ථානවල ව්‍යාප්තිය දැක්වෙන සිතියම.*
*(A) අර්ධ ශුෂ්ක කලාපය (B) පහතරට වියළි කලාපය (C) පහතරට අතරමැදි වියළි කලාපය (D) තෙත් කලාපය (E) කඳුකර වියළි අතරමැදි කලාපය (F) ශුෂ්ක කලාපය*

*ශ්‍රී ලංකාවේ දැනට සොයාගෙන තිබෙන ප්‍රාග් ඓතිහාසික ස්ථාන නාමාවලිය*

1 එලිෆන්ට්පාස්
2 පූන්කරි
3 පරන්තන්
4 ඉරණමඩු
5 මූලතිව්
6 වෙල්ලන්කුලම්
7 මාන්කුලම්
8 මුරුක්කන්
9 නච්චියාර් වෙල්ලච්චි මලෙයි
10 ත්‍රිකුණාමලය
11 කුදිරමලෙයි
12 මෝදරගම්ආරු
13 මරිච්චිකඩ්ඩි
14 විල්පත්තු
15 අනුරාධපුරය
16 සන්නන්කුල්ලි
17 පොම්පරිප්පු
18 කලාඔය
19 වනාතවිල්ලු
20 කන්දකාඩු
21 ත්‍රිකෝණමඩු
22 අර්නකල්ලු
23 පොළොන්නරුව
24 පලාවි
25 පුත්තලම
26 ආණමඩුව
27 ආඬිගම
28 පල්ලම
29 බිංගදෙනිය
30 හලාවත
31 දඹුල්ල
32 තම්මැන්නාගල
33 පිදුරංගල
34 අලිගල
35 මාපාගල
36 පොතාන
37 අලකොලවැව
38 වැවල
39 කළුදියපොකුණ
40 මහනුවර
41 පේරාදෙණිය
42 දානිගල
43 හේනේබැද්ද
44 නිල්ගල
45 බිබිලේ
46 ගම්පොල
47 මඩොල්සිම
48 වැලිමඩ
49 පූඩළු ඔය
50 නාවලපිටිය
51 කිතුල්ගල බෙලිලෙන
52 බෙලිලෙන ඇතුල
53 අවිස්සාවේල්ල
54 බියගම
55 කැලණිය
56 කොළඹ
57 මල්වාන
58 ගැටහැත්ත
59 බටතොටලෙන
60 දිඹුල
61 දික්ඔය
62 සමනලකන්ද
63 මස්කෙලිය
64 නොර්වුඩ්
65 නුවරඑළිය
66 බණ්ඩාරවෙල
67 රාවණාඇල්ල
68 හොර්ටන්තැන්න
69 බගවන්තලාව
70 ඇහැලියගොඩ
71 එල්ලාවල
72 කුරුවිට
73 බටදොඹලෙන
74 කළු ගඟ
75 රත්නපුර
76 පැල්මඩුල්ල
77 බෙලිගල්ගේ
78 බෙල්ලන්බැඳිපැලැස්ස
79 බෙලිහුල් ඔය
80 උක්ගල්කල්තොට
81 අලුගල්ගේ-තෙලුල්ල
82 බුත්තල
83 ඔක්කම්පිටිය
84 පොතුවිල්
85 කුඩුම්බිගල
86 ලේගම
87 බඹරගස්තලාව
88 ඕකන්ද
89 ඉටිකල
90 කුමන
91 උඩපොතන
92 මිනිහාගල්කන්ද
93 ගල්ගේ
94 තෙලුල්ල
95 අත්තනගොඩ අළුලෙන
96 දියවින්න
97 කහවත්ත
98 කුකුලේගම
99 බදුරලිය
100 කලවාන
101 රක්වාන
102 අලුගල්ගේ
103 අඟුණකොලපැලැස්ස
104 වලවේ ගඟ
105 තිස්සමහාරාමය
106 යාල
107 බූන්දල
108 හම්බන්තොට
109 අම්බලන්තොට
110 වැලිපටන්විල
111 හුංගම
112 රන්න
113 තංගල්ල
114 මාතර
115 ගාල්ල
116 උඩමළල

එම ප්‍රදේශවල දඩයම් කරන ලද්දේ මුවා, තලගොයා ආදී වියළි කලාපීය පරිසරයේ වැඩි වශයෙන් ජීවත් වන සතුන් ය.

## කාලවකවානු

ශ්‍රී ලංකාවේ දකුණු පළාතට අයත් හම්බන්තොට දිස්ත්‍රික්කයේ පතිරාජවෙල නම් ප්‍රදේශයේ පිහිටි ඉරණමඩු සැකැස්මට අයත් බොරලු තට්ටුවෙන් ගල් යුගයට අයත් සාක්ෂි සොයා ගෙන තිබේ. මෙම බොරලු තට්ටුව විද්‍යාත්මක විශ්ලේෂණය මගින් දින නිර්ණය කිරීමේ දී එය මින් පෙර වසර 125 000 ක් පැරණි බව තහවුරු වී තිබේ. එම දිස්ත්‍රික්කයට ම අයත් බූන්දල වැල්ලේගංගොඩ ප්‍රදේශයේ පොළොව මතුපිට සිට අඩි 24 ක් යටින් පිහිටි ගල්මෙවලම් සහිත බොරලු තට්ටුව මින් පෙර වසර 80 000 ක කාලවකවානුවකට අයත් ය. ආසන්න වශයෙන් මෙයින් පෙර වසර 125 000 ක සිට අවම තරමින් ක්‍රිස්තු පූර්ව 1800 දක්වා මෙම ගල්යුගය අඛණ්ඩ ව පැවතිණි. ශ්‍රී ලංකාවේ පළාත් කිහිපයකින් එම සංස්කෘතියේ දීර්ඝකාලීන පැවැත්ම තහවුරු කරන දින වකවානු ස්ථිර කොට තිබේ.

| | |
|---|---|
| *පාහියන්ගල* | *- වසර 38 000* |
| *කුරුවිට බටදොඹලෙන* | *- වසර 28 000* |
| *කිතුල්ගල බෙලිලෙන* | *- වසර 15 000* |
| *බෙල්ලන්බැඳිපැලැස්ස* | *- වසර 12 000* |
| *අත්තනගොඩ අළුලෙන* | *- වසර 10 350* |
| *මානියම්ගම* | *- වසර 7 900* |
| *සීගිරිය පොතාන* | *- වසර 5 800* |
| *සීගිරිය අලිගල* | *- වසර 5 500* |
| *උඩමළල* | *- වසර 5 330* |
| *මාතොට* | *- වසර 3 800* |



*ඡායාරූපය අංක 2.1 කළුතර දිස්ත්‍රික්කයට අයත් බුලත්සිංහල පාහියන්ගල පිහිටි මෙම ගල් ගුහාව මීට අවුරුදු 38 000 ඉහත කාලයක දී ප්‍රාග් ඓතිහාසික මානවයන්ගේ වාසස්ථානයක් ව පැවතිණි. පාහියන්ගල ලෙන ශ්‍රී ලංකාවේ පහතරට තෙත් කලාපයේ ජීවත් වූ ප්‍රාග් ඓතිහාසික මිනිසුන්ගේ ජීවිතය පිළිබඳ වැදගත් තොරතුරු අනාවරණය කර තිබේ.*



*ඡායාරූපය අංක 2.2 ශ්‍රී ලංකාවේ මධ්‍යශිලා යුගයට අයත් ජ්‍යාමිතික හැඩයෙන් යුත් ගල්මෙවලම් කිහිපයක්. මේවා නිපදවා තිබෙන්නේ බිම්වීදුරු නමින් හැඳින්වෙන පිරිසිදු තිරිවානා ගල්වලිනි.*

## ජනාවාසවල මූලික ලක්ෂණ

ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික මානවයා රටේ පවතින එකිනෙකට වෙනස් පරිසර තත්ත්වවලට අනුවර්තනය වෙමින් ව්‍යාප්ත විය. ආහාර සඳහා අවශ්‍ය කරන ස්වාභාවික සම්පත් බහුල ප්‍රදේශවල වාසය කිරීමට ඔවුහු වැඩි කැමැත්තක් දැක්වූහ. පහතරට වැසි වනාන්තර ප්‍රදේශ, වියළි කලාපීය වනාන්තර, මුහුදුබඩ කළපු සහ විල්ලු ආශ්‍රිත ප්‍රදේශ, කඳුකර තණබිම් ආදී තැන්වල ඔවුන් වාසය කර ඇති බව සොයා ගෙන තිබේ. ජලය පහසුවෙන් ලබා ගත හැකි තැන් සහ ගල් මෙවලම් තනා ගැනීමට අවශ්‍ය කරන පාෂාණ වර්ග බහුල ප්‍රදේශවල ජීවත් වීමට ඔවුහු රුචියක් දැක්වූහ. වියළි කාලගුණයක් පවත්නා කාලවල දී එළිමහන් තැන්වලත් වර්ෂා සහගත කාලවල දී ස්වාභාවික ගල්ගුහාවලත් ඔවුහු ජීවත් වූහ. දැනට හඳුනාගෙන තිබෙන එවැනි ප්‍රාග් ඓතිහාසික එළිමහන් වාසස්ථාන සහ ගල්ගුහා වාසස්ථාන කිහිපයක් පහත දක්වා තිබේ.

1. මිනිහාගල්කන්ද, බුන්දල, පතිරාජවෙල (වෙරළාශ්‍රිත එළිමහන් වාසස්ථාන)

2. පාහියන්ගල,බටදොඹලෙන, කිතුල්ගල බෙලිලෙන (පහතරට තෙත් කලාපීය ලෙන්)

3. සීගිරියේ පොතාන සහ අලිගල (පහතරට වියළි කලාපීය ලෙන්)

4. බෙල්ලන්බැඳිපැලැස්ස (තෙත් කලාපීය එළිමහන් වාසස්ථාන)

5. බණ්ඩාරවෙල, හෝර්ටන්තැන්න (කඳුකර එළිමහන් දඩයම් වාසස්ථාන)

## ජීවන රටාව

මෙම යුගයේ ජනතාව දඩයම් කිරීමෙන් සහ තැන තැන ඇවිද ආහාරයට ගත හැකි ස්වාභාවික දේ එකතු කර ගනිමින් සිය ජීවිකාව පවත්වා ගෙන ගොස් ඇත. එහෙයින් ඔවුහු වර්ෂයේ වැඩි කාලයක් සංචාරක ජීවිතයක් ගෙවූහ. වර්ෂාධික කාලවල දී ස්වාභාවික ගල්ගුහාවල ජීවත් වූහ.

ජනගහනය, කුඩා කණ්ඩායම් ලෙස සංවිධානය වී තිබිණි. සාමාන්‍යයෙන් එක් කණ්ඩායමකට සාමාජිකයෝ 15-25 ත් අතර ප්‍රමාණයක් ඇතුළත් විය. එවැනි කණ්ඩායමකට අයත් වූ උපරිම සංඛ්‍යාව 50 ක් පමණ විනැයි විශ්වාස කෙරේ.

සාමාජිකයින් 5 දෙනෙකුගෙන් යුත් පවුලකට ජීවත් වීම සඳහා වර්ග මීටර 50 ක පමණ ප්‍රදේශයක් ප්‍රමාණවත් වූ බව පෙනේ. බණ්ඩාරවෙල වර්ච්හිල් නම් ස්ථානයෙන් සොයා ගත් ගල්යුගයට අයත් ස්ථානයේ වපසරිය වර්ග මීටර 150කි. එහි පුද්ගලයින් 25 දෙනෙකු ජීවත් වන්නට ඇතැ යි අනුමාන කෙරේ. බෙල්ලන්බැඳිපැලැස්සේ ගල්යුගයට අයත් ප්‍රජාව ජීවත් වූ තැන වපසරිය වර්ග මීටර 120 කි. එතැනින් මිනිස් ඇටසැකිලි 30 ක් සොයා ගැනිණි.

මෙම යුගයට අයත් පුද්ගලයින්ගේ ආහාරයේ ස්වභාවය තීරණය වූයේ ඔවුන් ජීවත් වන පරිසරයෙන් ලබා ගත හැකි ව තිබූ සම්පත්වල ස්වභාවය අනුව ය. වියළි කාලවල දී ඔවුහු විවෘත ස්ථානවල තාවකාලිකව අටවා ගත් වාසස්ථානවල



*සිතුවම අංක 2.1 ඉහත සිතුවමේ දක්වා ඇති ආකාරයේ කුඩා ජ්‍යාමිතිකාකාර ගල් මෙවලම් භාවිතයේ දී ඒවා ලී දඬුවක හෝ සතෙකුගේ ඇට කැබැල්ලක අමුණා සකස් කරගෙන තිබේ.*



*සිතුවම අංක 2.2 තම පවුලේ සාමාජිකයකු හෝ එකට ජීවත් වූ ඥාතියකු මියගිය පසු වාසය කළ ගල් ගුහාව තුළ ම වැළලීම ප්‍රාග් ඓතිහාසික ජනයාගේ සිරිතක් ව තිබිණි. පසු කලෙක ඇට සැකිලි ගොඩට ගෙන ඒවායේ රතු පැහැති ගුරුගල් ආලේප කර කිසි යම් යාතුකර්මයක් කළ බවට සාක්ෂි හමුවී තිබේ.*

කල් ගෙවූහ. ආහාර සෙවීමේ කටයුතු සඳහා එම මානවයෝ දිනකට කිලෝමීටර 7 ක පමණ දුරක් ඇවිද ගියහ. ගල්ගුහාවල ගත කරන ලද්දේ තාවකාලික ජීවිතයක් වූ හෙයින් ඇතැම් අවස්ථාවල තමන්ගේ මියගිය ඥාතීන්ගේ මළසිරුරු ගුහා ඇතුළත වළ දැමූහ. ඇතැම් අවස්ථාවල ලී දඬුවක හෝ අං කැබැල්ලක ආධාරයෙන් ඒ සඳහා වළක් හාරා තිබේ. අනතුරුව මළසිරුරු ඒ වළේ තැන්පත් කොට කසළ රොඩුවලින් එය වසා දමනු ලැබිණි. කිතුල්ගල බෙලිලෙන ඇතුළත එලෙස මිහිදන් කළ පුද්ගලයින් 12 දෙනෙකුගේ ඇටසැකිලි සොයා ගැනිණි. විවෘත ස්ථානයක් වූ බෙල්ලන්බැඳිපැලැස්සේ ගල් යුගයට අයත් සොහොන් බිමෙහි ඇටසැකිලි 30 ක් තිබිණි. පාහියන්ගල ගල්ගුහාවෙන් අවධි කිහිපයකට අයත් පුද්ගලයින් 9 දෙනෙකුගේ ඇටසැකිලි කොටස් සොයා ගෙන ඇත.

## ආහාර රටාව

මෙරට ගල් යුගයේ විසූ මිනිසුන්ගේ ආහාර කෙබඳු වී දැ යි අවබෝධ කර ගැනීමට ඉවහල් වන වැඩිමනත් සාධක ලැබෙන්නේ පහතරට වියළි කලාපයේ සහ තෙත් කලාපයේ පිහිටි ගල්ගුහාවලිනි. දැනට සොයා ගෙන තිබෙන සාක්ෂි අනුව ආහාරය සඳහා දඩයම් කළ සතුන් අතර ගවරා, කුළු මීහරකා, කළු වළහා, වල්ඌරා, ගෝනා, තිත්මුවා, මීමින්නා, ඉත්තෑවා, හාවා, දඬුලේනා, හම්බාවා, මුගටියා, උරුලෑවා, වඳුරා, වලිකුකුළා, හබන්කුකුළා සහ තලගොයා ද වේ. මාංසජනක ධාතු බහුල මිරිදිය මාළු වර්ග ද අල්ලා ගෙන ආහාරයට යොදා ගෙන තිබේ. පහතරට තෙත් කලාපයේ තිබෙන ස්වාභාවික දියකඩිතිවල සිටින තිත්තයින් ආදි මසුන් මෙසේ අල්ලා ගත් බව පෙනේ.

පිෂ්ටය ලබා ගැනීමට භාවිත කළ ශාක ආහාර අතර වල්දෙල් සහ කැලෑකෙසෙල් ප්‍රධාන ය. කිතුල්ගල බෙලිලෙනෙන් වසර 12 500 කට ඉහත කාල වකවානුවක දී පුලුස්සා ආහාරයට ගන්නා ලද කැලෑදෙල් ඇට පිළිබඳ සාක්ෂි හමු වී තිබේ. මීට අමතර ව පිෂ්ටය බහුල ආහාර ලෙස ගෝනල, සහ කටුඅල, අනුභව කර තිබේ. ආහාර පුලුස්සා අනුභව කළ බවට සාක්ෂි පරීක්ෂා කළ තැන් කිහිපයකින් ම



*ඡායාරූපය අංක 2.3 ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික ජනාවාසයකින් සොයාගන්නා ලද පබළුවක්. මෙය සතෙකුගේ අස්ථි කැබැල්ලකින් සකස් කරන ලද්දකි.*

සොයා ගනු ලැබ ඇත.

ගොළුබෙල්ලන් ආහාරයට ගැනීමට ප්‍රාග් ඓතිහාසික වැසියෝ මහත් රුචියක් දැක්වූහ. විශේෂයෙන් ම පහතරට තෙත් කලාපයේ ජීවත්වන ගස්ගොළුබෙල්ලන් සහ කළපුවල ජීවත් වන බෙල්ලන් මෙසේ ආහාරය සඳහා ගෙන තිබේ. සිය ආහාරය සඳහා අවශ්‍ය කරන ලුණු ලබා ගැනීමට රට ඇතුළත ජීවත් වූ ප්‍රාග් ඓතිහාසික වැසියෝ ඉතා දුර බැහැර ගමන් කළෝ ය. කිතුල්ගල බෙලිලෙනෙන් සොයා ගන්නා ලද කළපු බෙල්ලන්ගේ අවශේෂ මුහුදුබඩ ප්‍රදේශවලින් රැගෙන ආ ලුණු සමග මිශ්‍ර වී පැවති ඒවා බව හඳුනා ගෙන තිබේ.

### තාක්ෂණය

මේ යුගයට අයත් තාක්ෂණය ගැන දැන ගැනීමට තිබෙන එක ම සාධකය ගල් මෙවලම් ය. එහෙත් රත්නපුරයේ මැණික් පතල්වලින් සහ ඉරණමඩු සැකැස්මෙන් සොයා ගෙන තිබෙන ගල් මෙවලම් ආශ්‍රයෙන් ගල් යුගයේ තාක්ෂණය ගැන සම්පූර්ණ අදහසක් ගොඩ නැගීම අපහසු ය. ඊට හේතුව ප්‍රමාණවත් ගල් මෙවලම් ප්‍රමාණයක් නොලැබීමත් ඒවායේ දිනවකවානු පිළිබඳ දැනට තිබෙන දැනුම ප්‍රමාණවත් නොවීමත් නිසා ය.

මෙරට ගල් යුගයේ තාක්ෂණය පිළිබඳව විස්තරාත්මක දැනුමක් ලබා ගැනීමට ඉවහල් වන්නේ පුරාවිද්‍යාඥයින් විසින් ජ්‍යාමිතික ක්ෂුද්‍ර ශිලාමෙවලම් යනුවෙන් හඳුන්වනු ලබන කුඩා ප්‍රමාණයේ ගල්



*ඡායාරූපය අංක 2.4 ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඉතිහාසය නියෝජනය කරන මිනිස් ඇටසැකිල්ලක්. මෙය සොයාගන්නා ලද්දේ සීගිරියට යාබදව පිහිටි පොතාන ගල් ගුහාවෙනි (ඡායාරූපය පුරාවිද්‍යා පශ්චාත් උපාධි ආයතනය අනුග්‍රහයෙනි)*

මෙවලම් ය. මේවා එසේ නම් කර තිබෙන්නේ ඒවා නිෂ්පාදනය කරන්නට වෑයම් කළ පුද්ගලයින් එකී මෙවලම්වලට ජ්‍යාමිතික හැඩයක් ලබා දීමේ අරමුණින් ගල්පතුරු හැඩ ගස්වා තිබෙන නිසා ය. මෙවැනි මෙවලමක් දිගින් සෙන්ටිමීටර 4.5 කට වඩා විශාල නොවේ. වැඩි වශයෙන් තිරිවානා ගල් සහ සුළු වශයෙන් කහඳ ගල් භාවිත කොට මෙකී ක්ෂුද්‍ර ගල් මෙවලම් නිෂ්පාදනය කර තිබේ. මේවා සතුන් දඩයම් කිරීමේ සිට කැපීම්, සීරීම්, තැලීම්, හැරීම් වැනි දේට උචිත පරිදි සකසා ඇත. මීට අමතර ව කළුගල් භාවිත කොට තනන ලද මිටි, ඇඹරුම්ගල් ආදිය ද එකල නිපදවා තිබේ.

## මිනිසුන්ගේ ශරීරයේ ස්වභාවය

මෙතෙක් සොයාගෙන තිබෙන ඇටසැකිලි ශ්‍රී ලංකාවේ ගල් යුගයට අයත් මිනිසුන්ගේ ශරීර ස්වභාවය කෙබඳු වී දැ යි යන කාරණය අවබෝධ කර ගැනීමට ඉවහල් වෙයි. සාමාන්‍යයෙන් වැඩුණු පිරිමියෙකුගේ උස සෙන්ටිමීටර 174 කි. වැඩුණු කාන්තාවක් සෙන්ටිමීටර 166 කට වඩා උස් නොවීය. ඔවුන් සියලු දෙනාගේ දත් විශාල ය. පළල් නාසයක් සහ නිකටක් ඔවුන්ට තිබිණි. වැඩිහිටි පිරිමියෙකුගේ මොළයේ විශාලත්වය ඝන සෙන්ටිමීටර 1600 කි. වැඩුණු ගැහැනු අයකුගේ එය ඝන සෙන්ටිමීටර 920 කි. මානව විද්‍යාඥයන්ගේ අදහස අනුව ප්‍රාග් ඓතිහාසික මානවයාගේ උපරිම ආයු කාලය වසර 35-40 පමණ වන්නට ඇතයි සැලකේ.

## අභිචාර විධි

ගල් යුගයේ පැවති අභිචාර විධි ගැන යම් තරමකට හෝ පැහැදිලි තොරතුරක් ලැබෙන්නේ ඒ කාලයට අයත් මිනී වැළලීම් සම්බන්ධයෙනි. වැඩි ආයාසයක් යෙදීමෙන් එවැනි කටයුත්තකට දැරූ උත්සාහයක් පිළිබිඹු වන පැහැදිලි අවස්ථාවක් බදුල්ලට නුදුරු රාවණාඇල්ල ගල්ගුහාවෙන් සොයා ගෙන තිබේ. දෙකට බෙදෙන සේ සිදුරු විදින ලද මිනිස් හිස් කබලක් එහි කළ කැණීමක දී මතු විය. එම හිස් කබලේ රළුවට පිහිටා තිබුණු දාර සහ පිටතට නෙරා තිබෙන කොටස් ගලක උලා මට්ටම් කර එක් පැත්තක රතු පැහැති ගුරුගල් ආලේප කර තිබේ. රතු පැහැති ගුරුගල් ආලේප කරන ලද මිනිස් ඇටසැකිලිවලට අයත් කොටස් පාහියන්ගල ගල්ගුහාවෙන් ද සොයා ගැනිණි. මළසිරුර එහි කොටස් දිරා යන තුරු යම් තැනක වළලා දමා පසුව ඇටසැකිලි ගොඩ ගෙන නැවත ඒවා තැන්පත් කළ බව මෙවැනි සාක්ෂිවලින් පැහැදිලි වේ. කුරුවිට බටදොඹලෙනෙන් සොයා ගත් ඇටසැකිලි නමා වකුටු කර වළලා තිබිණි. ශ්‍රී ලංකාවේ ගල්යුගයේ ජීවත් වූ මිනිසුන් සහ වර්තමාන වැදි ජනතාව අතර සංස්කෘතිකමය වශයෙන් සහ ජීවවිද්‍යාත්මක වශයෙන් සමානතා රැසක් තිබෙන බව පර්යේෂකයින් විසින් පෙන්වා දී ඇත.



*ඡායාරූපය අංක 2.5 සබරගමුව පළාතට අයත් රත්නපුර දිස්ත්‍රික්කයේ කොළඹගෙආර රංචාමඩම රජයේ විද්‍යාල භූමියේ පිහිටි පූර්ව ඓතිහාසික යුගයේ සොහොන් බිමක්. 2007 වර්ෂයේ දී කැණීම් කොට මතුකර ගන්නා ලද මෙම සුසාන භූමිය මීට වසර 3350 කට ඉහත කාලයක දී භාවිතයට ගෙන තිබේ.*




සිතියම අංක 2.2 ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගයට අයත් යැයි සැලකෙන මහාශිලා සම්ප්‍රදායට අයත් සුසාන භූමිවල ව්‍යාප්තිය.

**ක්‍රියාකාරකම 1**

දැනට සොයාගෙන ඇති ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගයේ ජනාවාස ව්‍යාප්තිය සිතියමක ලකුණු කර නම් කරන්න.

## 2.2 පූර්ව ඓතිහාසික යුගයේ ජනාවාස

ප්‍රාග් ඓතිහාසික යුගයේ අවසානයත්, ඓතිහාසික යුගයේ ආරම්භයත් අතර කාලපරිච්ඡේදය හැඳින්වෙන්නේ පූර්ව ඓතිහාසික යුගය යනුවෙනි. තාක්ෂණික වශයෙන් මෙය සංක්‍රාන්තික යුගයකි. ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගය ඊට පෙර පැවති ප්‍රාග් ඓතිහාසික යුගයෙන් වෙන් වී පෙනෙන්නේ කරුණු කිහිපයක් පදනම් කොට ගෙන ය. පිලිස්සූ මැටි වළං භාවිතය ආරම්භ කිරීමත් ක්‍රමවත් සුසාන චාරිත්‍ර විධියක් අනුගමනය කිරීමත් යන දෑ ඒ අතරින් ප්‍රධාන ය. ප්‍රාග් ඓතිහාසික යුගයේ දී පැවති ගල් මෙවලම් තාක්ෂණය වෙනුවට යකඩ ලෝහය භාවිත කිරීම මේ කාලයේ දී ඇරඹිණි. එහෙත් ගල් මෙවලම් භාවිත කිරීම මුළුමනින් ම අතහැර දැමීම සිදු වූයේ පූර්ව ඓතිහාසික යුගයේ අවසන් භාගයේ දී ය. යකඩ භාවිතය ආරම්භ වීම නිසා මෙම යුගය පූර්ව



ඡායාරූපය අංක 2.6 පූර්ව ඓතිහාසික යුගයේ දී මියගිය අය වෙනුවෙන් යාතු කර්ම චාරිත්‍ර පැවැත්වීම සඳහා භාවිත කර තිබෙන මෙම මැටි ඔරු සුසානවල ආදාහනය කර තිබෙන්නේ මිනිස් ඇටසැකිලි ය. අනතුරුව භෂ්මාවශේෂ මැටි බඳුන්වල බහා ඒවා තුළ තැන්පත් කර තිබේ. මෙම මැටි ඔරු සුසානය රංචාමඩම පූර්වඓතිහාසික සුසාන භූමියෙන් සොයාගන්නා ලද්දකි.

ඓතිහාසික යකඩ යුගය යනුවෙන් ද මුල් යකඩ යුගය යනුවෙන් ද හැඳින්වේ. එලෙස ම ස්ථිර ජනාවාස ඉදි කිරීම, කෘෂි කර්මාන්තය ඇරඹීම මෙකල දක්නට ලැබෙන තවත් පරිවර්තනයන් ය.

### පූර්ව ඓතිහාසික යුගය බිහිවීම

ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගයේ ආරම්භයත් ප්‍රාග් ඓතිහාසික යුගයේ අවසානයත් අතර සංක්‍රාන්තික සමය ගැන දැනට අපට තිබෙන දැනුම සීමිත ය. ප්‍රාග් ඓතිහාසික යුගයට අයත් ගල් මෙවලම් තාක්ෂණය සහ දඩයම ඇතුළුව ආහාර එකතු කිරීමේ යැපීම් ක්‍රමය යටපත් වෙමින් ඒ වෙනුවට ශාක ආහාර මත වැඩි වශයෙන් පදනම් වීම සහ ලෝහ භාවිතයට නැඹුරු වීම යන දෑ හිටිවන ම සිදු විය හැකි පරිවර්තනයක් නොවේ. අනෙක් අතට



සිතුවම අංක 2.3 මැටියෙන් සාදන ලද ඔරු සුසානවල භෂ්මාවශේෂ සහිත මැටි බඳුන් තැන්පත් කර තිබේ. එය ඉතා පුරාණ කාලයක දී මෙරට වැසියන් අනුගමනය කළ මළවුන් සඳහා වෙන් වූ යාතු කර්මයකි.

එවැනි පරිවර්තනයක් ජනනය කිරීමට කිසියම් ප්‍රබල හේතුවක් තිබීම අවශ්‍ය ය. වෙනත් රටවල සිදු වී තිබෙන එවැනි සංස්කෘතික පරිවර්තනවලට බොහෝ අවස්ථාවල බලපා තිබෙන්නේ දීර්ඝ කාලීන ව බලපවත්වන පරිදි ඇති වූ දේශගුණික විපර්යාස වේ. හොලෝසීන යුගය නමින් හැඳින්වෙන මෑත භූ අවධියේ මැද භාගයේ දී එනම් ක්‍රිස්තු පූර්ව 7000-4500 අතර කාලවකවානුවේ දී සමස්ත දකුණු ආසියානු කලාපයට ම බලපෑමක් ඇති කළ දේශගුණික විපර්යාසයක් ගැන පුරාවිද්‍යාඥයින් සහ පුරාණ දේශගුණය පිළිබඳ විශේෂඥයින් විසින් කරුණු අනාවරණය කොට තිබේ. එනම්, අයිස් යුගය අවසන් වීමත් ලෝකය උණුසුම් වීමත් මගින් කෘෂි කර්මාන්තය සඳහා වඩාත් සුදුසු පරිසර තත්ත්වයක් ගොඩනැගෙන්නට විය. එමෙන් ම ජනගහනය කැපී පෙනෙන අයුරින් වර්ධනය වූ අතර එතුළින් නව සමාජ රටාවක් කෙරෙහි යොමු වීම සිදු විය.

ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගය පිළිබඳ පැරණිත ම සාධක අයත් වන්නේ ක්‍රිස්තු පූර්ව 2400 ට ය. දැනට කර තිබෙන පුරාවිද්‍යාත්මක ගවේෂණවලට අනුව මෙම යුගයට අයත් සාක්ෂි වඩාත් පැහැදිලිව අනාවරණය වී තිබෙන්නේ සබරගමු පළාතේ ඊසානදිග කොටසෙන් සහ ඌව පළාතේ නිරිතදිග කොටසෙන් ය.

අතීතයේ දී මෙරට මිය ගිය අය වෙනුවෙන් ඉදි කර ඇති මහාශිලා සුසාන (Megalithic burials) ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගයේ සංස්කෘතිය හැදෑරීමට යොදා ගත හැකි ප්‍රධාන අංගයකි. මෙබඳු මහාශිලා සුසාන ශ්‍රී ලංකාවේ ප්‍රදේශ රැසකින් හමු වී තිබේ. (සිතියම 2.2 බලන්න) මෙම සුසාන වලින් එක් වර්ගයක් විශාල ගල්පතුරු එක්තැන් කොට චතුරස්‍රාකාර හැඩයකට සකසා ගල් පුවරුවකින් ආවරණය කර තිබේ. එහි ඇතුළත මිනිස් භස්මාවශේෂ සහිත මැටි බඳුන් තැන්පත් කර ඇත. මේවා ශිලා මංජුසා සොහොන් (Cist burials) යනුවෙන් හැඳින්වේ. එවැනි සොහොන් අතරින් මධ්‍යම පළාතට අයත් දඹුල්ලට නුදුරු ව පිහිටි ඉබ්බන්කටුව මහාශිලා සුසානයත් යාපහුවේ පිහිටි ගල්සොහොන් කනත්ත නමින් හැඳින්වෙන සුසාන භූමියත්, ගලේවෙලට නුදුරුව පිහිටි යටිගල්පොත්තේ සුසාන භූමියත් දැනට කැනීම් කොට තිබේ. ඒවාට ලැබී තිබෙන විද්‍යාත්මක දින නීර්ණ ක්‍රි.පූ. 750 - 450 අතර කාලයට අයත් වේ.

මෙම ක්‍රමයට අමතර ව මහාශිලා සම්ප්‍රදායට ම අයත් තවත් සුසාන ක්‍රම කිහිපයක් පිළිබඳ සාධක ශ්‍රී ලංකාවෙන් හමු වේ. මෙම සුසාන ක්‍රමයේ දී භස්මාවශේෂ සහිත කුඩා මැටි බඳුන් විශාල මැටි බඳුනක් තුළ බහා තැන්පත් කර තිබෙනු දක්නට ලැබේ. එවැනි සොහොන් *භරණී සුසාන* යනුවෙන් හැඳින්වේ.

ඌව පළාතේ හල්දුම්මුල්ල සහ බෙරගල පිහිටි පූර්ව ඓතිහාසික යුගයට අයත් සුසානභූමි දෙකක පුරාවිද්‍යාත්මක කැණීම් සිදු කොට තිබේ. අමු මැට්ටෙන් සකසන ලද ඔරුවක හැඩැති බේසමක භස්මාවශේෂ බහා ලූ මැටි වළං තැන්පත් කිරීම එහි දී අනුගමනය කර ඇති ක්‍රමය යි. භස්මාවශේෂ තැන්පත් කරන්නට මත්තෙන් මෙම මැටිඔරු තුළ මිනිස් ඇටසැකිලි ආදාහනය කර තිබේ. එහි දී ගින්නට හසුවීම නිසා අමුමැට්ටෙන් තනන ලද ඔරු මැනවින් පිළිස්සී තිබේ. ඒවා දීර්ඝ කාලයක් තිස්සේ නොනැසී පවතින්නට බල පෑ හේතුව ද එය යි.

## ජනාවාසවල ස්වභාවය

ප්‍රාග් ඓතිහාසික යුගයේ ගත කළ දඩයම් ජීවිකාව අවසන් කර ස්ථිර ජනාවාස හා වාසස්ථාන ගොඩනගා ගැනීම මේ යුගය තුළ සිදු වූ වැදගත් ලක්ෂණයකි. ස්ථිරවාසීතාව (sedentism) යනුවෙන් හැඳින්වෙන මෙම ලක්ෂණය පිළිබිඹු කරන ප්‍රධාන සාක්ෂිය නම් ඒ යුගයට අයත් දැනට සොයා ගෙන තිබෙන නිවාස අවශේෂ යි. 2009 වසරේදී එවැනි නිවාසයක් රත්නපුර දිස්ත්‍රික්කයේ පිහිටි උඩරංචාමඩම ගම්මානයෙන් සොයා ගෙන ඇත. එම නිවාසය මීටර 10.20 x 6.80 ප්‍රමාණයෙන් සහ ආයත චතුරස්‍රාකාර හැඩයෙන් යුක්ත වූව කි. එහි ඉදිරිපස සහ පසුපස කොටස් බිත්තියකින් වෙන් කර තිබිණි. නිවසේ බිත්ති වරිච්චි මැටියෙන් ඉදි කොට තිබූ අතර වහල ඉලුක් හෝ එවැනි දෙයකින් සෙවිලි කොට තිබෙන්නට ඇත.

## ජීවන රටාව

ශ්‍රී ලංකාවේ පූර්ව ඓතිහාසික යුගයට අයත් ජීවන රටාව කෙබඳු ස්වරූපයකින් යුක්ත වූවක් දැ යි සම්පූර්ණ ව වටහා ගැනීමට ප්‍රමාණවත් සාක්ෂි තවමත් ලැබී නැත. දැනට වැඩි වශයෙන් කැනීම් කර තිබෙන්නේ සුසාන භූමි වන බැවින් ඒවායින් සොයා ගත හැකි ඒ කාලයේ සාමාන්‍ය ජන ජීවිතයට අයත් සාක්ෂි සීමිත ය. මේ පිළිබඳව යම් තරමකින් හෝ අදහසක් ලබා ගැනීමට ඉවහල්

# 5 ශ්‍රී ලංකාවේ පැරණි විද්‍යාව සහ තාක්ෂණය

**හැඳින්වීම**

විද්‍යාව යනු ස්වභාවධර්මයේ ක්‍රියාකාරීත්වයට බලපවත්වන මූලධර්ම තේරුම් ගැනීම සහ එය අර්ථ දක්වා ගැනීම යි. එය අත්දැකීම මූල් කොට ගත් ක්‍රියාවලියකි. විද්‍යාව යන අර්ථයෙන් සාකච්ඡා නොවුවත් පුරාණ සමාජ බොහෝමයක ස්වභාවධර්මයේ මූලධර්ම තේරුම් ගෙන ඒවා සිය එදිනෙදා ජීවිතයේ භාවිතයට යොදා ගෙන තිබේ. ශ්‍රී ලංකාවේ ඓතිහාසික සමාජය තුළ ද විද්‍යාත්මක අදහස් භාවිතයේ පැවතිණි. මෙම පාඩමේ දී එවැනි අදහස්වල ස්වරූපය සහ ඒවා ව්‍යවහාරික ලෙස භාවිත කළ ආකාරය ගැන පැහැදිලි කිරීමත් එමගින් අපගේ ඓතිහාසික උරුමයේ පවතින විද්‍යාත්මක ස්වරූපය අවධාරණය කිරීමත් අපේක්ෂා කරයි.

## 5.1 විද්‍යාත්මක අදහස්වල මුල් අවස්ථා

ඉතා පුරාණ කාලයක සිට ශ්‍රී ලංකාවේ වැසියන් කළ දෑ හඳුනා ගැනීමෙන් ඒවාට පසුබිම් ව පැවති චින්තනය කෙබඳු දැ යි පැහැදිලි කර ගත හැකි ය. විමසිල්ලෙන් පරීක්ෂා කරන විට එවැනි ඇතැම් කටයුතු විද්‍යාත්මක ව කල්පනා කිරීමෙන් සිදු කර ඇති බව පැහැදිලි වේ. ස්වභාවධර්මය සමග කටයුතු කිරීමේ දී ඊට අයත් මූලධර්ම පිළිබඳ දැනුම්වත් වීම අවශ්‍ය ය. කුඩා සොහොන් ගැබක් ඉදි කිරීමේ පටන් දැවැන්ත වාරිමාර්ග පද්ධති ගොඩනැංවීම දක්වා කටයුතු සාර්ථක වන්නේ ඒවා දීර්ඝකාලීන ව පවත්වා ගැනීමට අවශ්‍ය ස්වභාවධර්මයේ මූලධර්ම නිවැරදිව අවබෝධ කර ගත් විට ය. ශ්‍රී ලංකාවේ පැවති විද්‍යාත්මක අදහස්වල සහ ඒවා ක්‍රියාවට නැංවීම සඳහා අනුගමනය කළ තාක්ෂණික ප්‍රවේශවල ස්වරූපය මෙම කොටසේ දී සාකච්ඡා කිරීමට නියමිත ය.

යමක් ඉහළට විසි කළ විට එය පොළොවට වැටෙනු අපි දැක ඇත්තෙමු. එය ස්වභාවධර්මයට අයත් ගතිලක්ෂණයකි. එම ගතිලක්ෂණයට බලපවත්වන මූලධර්මයක් තිබේ. විද්‍යාඥයින් එය හඳුන්වන්නේ ගුරුත්වාකර්ෂණය යන නමිනි. පොළොවේ යම් සීමාවක් තුළ සියලු දේ ආකර්ෂණය කරගන්නා බව විද්‍යාඥයින් පරීක්ෂණ මගින් ඔප්පු කර තිබේ. එය එසේ වන්නේ ද යන්න සොයා බැලීම අවශ්‍ය නම් කවරෙකුට වුව ද නැවත සොයා බලා තහවුරු කර ගත හැකි ය. විද්‍යාවේ ස්වරූපය එය යි. ස්වභාවධර්මයේ මූලධර්ම නිවැරදි ව අවබෝධ කර ගැනීමත් ඒවා සොයා බලා තහවුරු කර ගැනීමත් විද්‍යාත්මක ව කටයුතු කිරීමේ දී අනුගමනය කරන සාමාන්‍ය පිළිවෙත යි. පරීක්ෂා කිරීමෙන් අනතුරුව එසේ අවබෝධ කර ගන්නා ස්වභාවධර්මයේ මූලධර්ම යොදා ගනිමින් ප්‍රායෝගික ව වැඩ කටයුතු කිරීමට අවශ්‍ය වන්නේ තාක්ෂණය යි. ස්වභාව ධර්මයේ පවතින විවිධ ආකාරයේ ශක්ති විනාශ කළ නොහැකි බවත් එහෙත් ඒවා වෙනත් ශක්ති බවට පරිවර්තනය කළ හැකි බවත් භෞතික විද්‍යාවේ සඳහන් මූලධර්මයකි. ඒ අනුව විද්‍යුත් ශක්තිය චාලක ශක්තිය බවට පරිවර්තනය කොට විදුලි පංකාවක් නිර්මාණය කිරීම තාක්ෂණික ආදේශනයකි.

ස්වභාවධර්මයේ පවතින මූලධර්ම තේරුම් ගෙන ඒවා ආදේශ කිරීමට පැරණි ශ්‍රී ලංකාවේ වැසියන් කටයුතු කළ බව පිළිබිඹු වන ඇතැම් නිදසුන් ප්‍රාග්ඓතිහාසික යුගයට අයත් ය. වසර 28 000 කට පමණ පෙර කාලයකට ඉහත දී බිම්විදුරු නමින් හැඳින්වෙන විනිවිද පෙනෙන තිරිවානා ගල්වලින් නිම කළ සමමිතික ගල්මෙවලම් දැඩි පාෂාණ හැඩ ගැස්වීමට එකල පැවති සංවිධානාත්මක තාක්ෂණයේ ස්වරූපය පෙන්වා දෙයි. වෙර යොදා බලයක් යෙදීමෙන් ගල්පතුරු ගලවා ගෙන මෙවලම් තැනීමේ මෙම තාක්ෂණය හැඳින්වීමට පීඩන ශල්කනය යන පදය භාවිත වේ.

ව්‍යවහාරික විද්‍යාවේ මුල් අවස්ථා ප්‍රාග් ඓතිහාසික යුගයේ සිට පිළිබිඹු වන අතර එය කිසියම් පරිණත තත්ත්වයකට පත් වූයේ ඉන් අනතුරුව උදා වූ පූර්ව ඓතිහාසික යුගයේ දී ය. එම යුගයේ පැවති විද්‍යාත්මක අදහස්වල ස්වරූපය පිළිබිඹු වන අවස්ථා කිහිපයක් පහත විස්තර කර තිබේ.

### මැටි ඔරු ආකාරයේ පැරණි සුසාන

මැටි ඔරු සුසාන ගර්භ ඉදි කර තිබෙන්නේ මිය ගිය අය ආදාහනය කිරීම සඳහා ය. අමු මැටි යොදා ගනිමින්, විශාල බේසමක හෝ ඔරුවක හැඩයෙන් ඒවා නිර්මාණය කර ඇත. වඩාත් උචිත මැටි වර්ගය

තෝරා ගැනීමත් ගර්භයේ බිත්ති අවම උසකින් හා එයට සරිලන ඝනකමකින් ද බිත්ති පොළොවට ලම්බාකාර ව බැඳීම තුළින් ද සොහොන් බිත්තිවල සමබරතාව රැක ගැනීමට ඒවා ඉදි කළ අය කල්පනා කර තිබේ. සොහොන් ගර්භයේ පමණක් නොව උඩරංචාමඩමින් හමු වූ නිවාසයේ ද බිත්ති ලම්බාකාර ව ගොඩනගා ඇත.

යම්කිසි වස්තුවක් එලෙස පොළොවට ලම්බාකාර වීමෙන් එම වස්තුව මගින් පොළොව මත ඇති කරන පීඩනය නිෂ්ක්‍රීය වන බව භෞතික විද්‍යාත්මක මූලධර්මයකි. අදත් බිත්ති බැඳීමේ දී පෙදරේරුවන් ලඹයක් භාවිත කරනු ඔබ දැක ඇත.

එමෙන් ම අමු මැටියෙන් තනාගත් සුසාන ගර්භ පුලුස්සා වියළා නොගත්ත ද ඇටසැකිල්ල ආදහනය කිරීමේ දී ගින්නට හසු වීම නිසා මැනවින් පිලිස්සී තිබේ.

ක්‍රිස්තු පූර්ව 1350 දී ඉදි කරන ලද එවැනි සොහොන් ගර්භයක ඇටසැකිලි පිලිස්සීමේ දී ඇතුළට වායුව ලබා ගැනීම සඳහා මැටි නළයක් සවි කර තිබිණි. දහනය සඳහා ඔක්සිජන් වායුව අවශ්‍ය බව නූතන විද්‍යාව මගින් පැහැදිලි කරන ලද්දේ දහඅටවන සියවස තරම් මෑත කාලයක දී ය. එහෙත් මීට අවුරුදු තුන්දහස් දෙසිය පනහකට ඉහත කාලවකවානුවක මෙරට වැසියෝ එම මූලධර්මය අවබෝධ කර ගෙන සිටියෝ ය. (මෙම මැටි ඔරු සුසාන ගර්භ පිළිබඳ වැඩිදුර තොරතුරු ජනාවාස පාඩම යටතේ පැහැදිලි කර ඇත.)

## නිවාස ඉදි කිරීමේ තාක්ෂණය

බෙල්ලන්බැඳිපැලැස්ස ආදි එළිමහන් ස්ථානවල විසූ ප්‍රාග් ඓතිහාසික මිනිසුන් යම් ආකාරයක පැල්පත් තනා ගෙන ජීවත් වන්නට ඇතැ යි පුරාවිද්‍යාඥයින් විසින් අනුමාන කරන මුත් ඒ පිළිබඳ කිසිදු සාක්ෂියක් මෙතෙක් සොයා ගෙන නැත. එසේ වුව ද තමන් ජීවත් වීමට තෝරා ගන්නා තැන තමන්ට සුදුසු පරිදි සකස් කර ගැනීමට ප්‍රාග් ඓතිහාසික මානවයා සමත්කමක් දක්වා ඇති බව කිතුල්ගල බෙලිලෙන කැණීමෙන් සොයා ගෙන තිබෙන ගල්බැම්මකට අයත් කොටස් වලින් සනාථ වේ. ගස්වල කොළඅතු උපයෝගි කර ගනිමින් සාදන ලද පැළැල්ලක් වැනි ආවරණයක් රඳවා තැබීමට සවිය ලබා දෙන ආධාරකයක් ලෙස එය ප්‍රයෝජනයට ගන්නට ඇතැයි විශ්වාස කෙරේ.

ශ්‍රී ලංකාවේ නිවාස ඉදිකිරීම පිළිබඳ පැහැදිලි සාක්ෂි අපට පෙනෙන්නේ පූර්ව ඓතිහාසික යුගයේ දී ය. ක්‍රිස්තු පූර්ව 1129 දී පමණ ඉදි කළ එවැනි නිවසක නටබුන් හමු වී ඇත. එම නිවාසය පිහිටා තිබෙන්නේ රත්නපුර දිස්ත්‍රික්කයට අයත් උඩරංචාමඩම නමින් හැඳින්වෙන ගම්මානයක ය. පොළොව මත ගල්කැබලි අතුරා සවිමත් කොට ඒ මත මැටි අතුරා එම නිවසේ ගෙබිම ඉදි කර තිබිණි. එහි බිත්ති ගොඩ නගන ලද්දේ වරිච්චි මැටිවලින් බව තහවුරු වූයේ පිලිස්සී ගිය වරිච්චි මැටි කැබලි සොයා ගෙන තිබෙන නිසා ය. ඒ නිවසේ ඉදිරිපස සහ පිටුපස වශයෙන් කොටස් දෙකක් වෙන් කිරීමට නිවස මැදින් බිත්තියක් ඉදි කර තිබිණි. එහි සවි කර තිබූ දැවමය දොර උළුවස්ස සවි කළ සිදුරු, කැණීමේ දී සොයා ගෙන තිබේ. මෙලෙස අත්තිවාරමක් මත බිත්ති ගොඩ නගා ඒ මත වහලක් සවි කර කාලයක් පවතින ලෙස නිවසක් ඉදි කිරීමට තාක්ෂණික දැනුමක් අවශ්‍ය ය.

## මැටි බඳුන් තැනීම

ඉතා පුරාණ කාලයක සිට මැටි බඳුන් තැනීමේ තාක්ෂණය අපේ රටේ පැවතිණි. ඊට අදාළ පැහැදිලි සාක්ෂි පෙනෙන්නට තිබෙන්නේ පූර්ව ඓතිහාසික යුගයේදී ය. ඒ කාලයේ සකපෝරුව නමින් හැඳින්වෙන සරල යන්ත්‍රය මැටි බඳුන් තැනීමට භාවිත කර තිබේ. සකපෝරුව යනු කරකැවීමට හැකි වෘත්තාකාර ලෑල්ලකි. ඉතා උසස් නිමාවකින් යුත් මැටි බඳුන් සෑදීමට නම් ඉතා හොඳින් මැටි පදම් කර සකස් කර ගත යුතු ය. භාජනයක් සෑදීමට සුදුසු මැටි වර්ග සොයා ගැනීම, ඒවා පදම් කර ගැනීම, පිලිස්සීමට උදුනක් තනා ගැනීම, නියමිත උෂ්ණත්වයට බඳුන පුලුස්සා ගැනීම ආදී ප්‍රායෝගික පියවර කිහිපයක් පිළිබඳ මනා දැනුමක් ඊට අවශ්‍ය ය. පූර්ව ඓතිහාසික යුගයට අයත් එක්තරා මැටි බඳුන් විශේෂයක් පිටත රතු පැහැයෙන් සහ ඇතුළත කළු පැහැයෙන් යුක්ත වන පරිදි නිමවා තිබේ. එවැනි බඳුන් හැඳින්වීමට කාලරක්ත වර්ණ මැටි බඳුන් යන ව්‍යවහාරය යෙදේ. උදුනක පුලුස්සා ගැනීමට පෙර මැටි බඳුනකට දහයියා පුරවා එය යටිකුරු කර උදුනේ නමා තැබීමෙන් අනතුරුව පුළුස්සා ගැනීමෙන් එම බඳුනේ ඇතුළත කළු පැහැයත් පිටත රතු පැහැයත් ඇති වේ. එහි ඇතුළත කළු පැහැයකට පරිවර්තනය වන්නේ දහයියා පිරී තිබීමෙන් දහනයට අවශ්‍ය කරන ඔක්සිජන් වායුව යහමින් නොලැබෙන නිසා ය. මෙම තාක්ෂණය භාවිත කර මැටි බඳුන් පිලිස්සීමේ ක්‍රමය ක්‍රිස්තු වර්ෂ 300 න් පසු අතුරුදහන් විය. මීට අමතර ව මැටි බඳුන පිලිස්සීමෙන් පසු එහි

මතුපිට ඔපදැමීම, වර්ණ ගැන්වීම ආදි දේ මැනවින් කිරීමට අවශ්‍ය කරන තාක්ෂණය එකල පැවතිණි. මේ සඳහා වන හොඳ ම නිදසුන උඩරංචාමඩමේ පැරණි නිවාසයෙන් සොයා ගන්නා ලද වර්ණාලේපිත මැටි බඳුන යි. එහි සුදුපැහැති පසුබිමක තැඹිලි පැහැයෙන් යුත් ඉරි පින්තාරු කර තිබිණි. වර්ණ සඳහා භාවිත කර තිබෙන්නේ ස්වාභාවික ව පොළොවේ දක්නට තිබෙන රතු පැහැති ගුරුගල් ය. එම මැටි බඳුන සෑදීමට පෙර මැටි ජලයේ දිය කොට කුඩා අංශු අවලම්බනය වීමට සලස්වා ඉතා පිරිසිදු රොන්මඩ වැනි එම මැටි අංශු භාවිතයෙන් බඳුන තනා තිබේ. මෙය වර්තමාන උසස් වර්ගයේ පිඟන් භාජන සෑදීමට මැටි සකස් කරන ආකාරයට බොහෝ සෙයින් සමාන ය. පුරාණ කාලයේ අපේ රටේ ජීවත් වූ වැසියන් අතර බහුල ව භාවිත වූයේ මැටි බඳුන් වර්ග නිසා වඩාත් උසස් ලෙස ඒවා නිපදවීමට අවශ්‍ය තාක්ෂණය පූර්ව ඓතිහාසික යුගයේ පටන් දියුණු විය.

**ක්‍රියාකාරකම 1**

ව්‍යවහාරික විද්‍යාවේ මුල් අවස්ථා පාඩම ඇසුරින් අපේ ආදි මුතුන් මිත්තන්ගේ විද්‍යාත්මක දැනුම හා තාක්ෂණික කුසලතාව යන මාතෘකාව යටතේ පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

## 5.2 විද්‍යාත්මක භාවිතයේ පරිණතිය

### 5.2.1 ජල කළමනාකරණය

අපේ රටේ පැරණිතම ජනාවාස පැතිරී තිබුණේ වියළි කලාපයේ වූ නිසා එහි විසූ ජනතාවට මුහුණ දීමට සිදු වූ ප්‍රධානතම අභියෝගය වූයේ ගොවිතැන් කටයුතුවලට සහ තමන්ගේ එදිනෙදා ජීවන අවශ්‍යතාවලට ප්‍රමාණවත් තරමින් ජලය රැස් කර ගැනීම යි. වැව්, පොකුණු සහ ඇළමාර්ග තැනීමේ අවශ්‍යතාව ඇති වූයේ මෙම තත්ත්වය පදනම් කර ගැනීමෙනි. ජලය රැස්කර ගැනීම සඳහා අනුගමනය කළ කවර උපක්‍රමයක් වුව ද හැඳින්වීමට යෙදිය යුතු වඩාත් සුදුසු වචනය ජල කළමනාකරණය යන්න යි. අපේ රටේ පැරණි කාලයේ ජීවත් වූ විද්‍යාඥයින්ගේ සහ ඉංජිනේරුවන්ගේ විස්මිත දැනුමේ ස්වභාවය ජල කළමනාකරණය සඳහා ඔවුන් විසින් කර තිබෙන කටයුතු දෙස විමසිලිමත් ව බැලීමෙන් අවබෝධ කර ගත හැකි ය.

**මහවැව් තැනීම** - අපේ රටේ ඓතිහාසික යුගයට අයත් එක් විශිෂ්ට කටයුත්තක් වන්නේ මහවැව් තැනීම යි. කෘෂිකාර්මික කටයුතු සාර්ථක කර ගැනීම, ගංවතුර පාලනය කිරීම, නාගරික ජනතාවගේ වෙනත් අවශ්‍යතා සම්පූර්ණ කිරීම ආදි බහුවිධ කරුණු පදනම් කර ගෙන මහවැව් ඉදි විය. විශාල ප්‍රමාණයේ වැව් තැනීම ඉතා සංකීර්ණ විද්‍යාත්මක දැනුමක් සහිත තාක්ෂණික උත්සාහයකි. අනුරාධපුර යුගයේ දී ඉදි කරන ලද පහත දක්වා ඇති එවැනි වැව් කිහිපයක විශාලත්වය අවබෝධ කර ගැනීමෙන් එවැනි වැව් තැනීමටත් ජලයෙන් පිරුණු පසු එම වැව් නඩත්තු කිරීමටත් කෙතරම් ඉහළ විද්‍යාත්මක දැනුමක් අවශ්‍ය වන්නේ ද යන කාරණය ඔබට පහසුවෙන් අවබෝධ වනු ඇත.

*කවුඩුල්ල වැව (හෙක්ටයාර 2537)*

*මින්නේරිය වැව (හෙක්ටයාර 2550)*

*හුරුලු වැව (හෙක්ටයාර 2125)*

*කලා වැව (හෙක්ටයාර 2125)*

*පදවිය වැව (හෙක්ටයාර 2357)*

මෙවැනි විශාල ප්‍රමාණයේ වැව් තැනීමේ දී සැලකිල්ල යොමු කළ යුතු ප්‍රධානතම කාරණය වන්නේ එහි රැස්වන විශාල ජල ධාරිතාව මගින් ඇති කරන පීඩනය පාලනය කර ගෙන එය දීර්ඝ කාලයක් රඳවා තබා ගැනීම සහ ප්‍රයෝජනය සඳහා ජලය පිටතට ගැනීමේ දී ඇති වන අතිශය විනාශකාරී පීඩනය මගින් ඇති කරන බලය පාලනය කරගැනීමත් ය.

**වැව් බැම්ම** - පළමු වන කාරණය විශාල ජලධාරිතාවක් රඳවා ගෙන සිටීමට නම් වැවේ බැම්ම ඉතා ශක්තිමත් ආකාරයට ඉදිකිරීම අවශ්‍ය ය. එවැන්නක් ප්‍රායෝගික ව සිදු කිරීමේ දී වඩා වැදගත් වන්නේ වැව් බැම්ම ඉදි කිරීමෙන් පසු ව ගිලා නොබැසීමට අවශ්‍ය කරන කටයුතු සම්පාදනය කිරීම යි. මේ සඳහා අපේ පැරණි වාරි ඉංජිනේරුවන් විසින් අනුගමනය කර තිබෙන්නේ පොළෙවේ යම් තැනක පිහිටි ගලක් තිබේ නම් ඒ තැන තෝරා ගෙන වැව් බැම්ම ඉදි කිරීම යි. ස්වාභාවික ව පිහිටි කඳු දෙකක් අතර තැනක තිබෙන එවැනි ගලක් සොයා ගෙන ඒ මත ඉදි කරන වැව් බැම්ම දෙපසින් කඳු දෙකට යා කරනු ලැබේ. ස්වාභාවික කඳුවලට සම්බන්ධ කර තිබීම නිසා වැව් බැම්මේ ශක්තිමත්



*ඡායාරූපය අංක 5.3 වර්තමාන මාදුරුඔය ජලාශයේ වේල්ලේ සොරොව්ව ඉදි කිරීමට සුදුසු තැනක් විදේශික ඉංජිනේරුවරුන් විසින් පරීක්ෂා කොට හඳුනාගත් තැන අපේ පැරණි ඉංජිනේරුවන් විසින් ඊට අවුරුදු සිය ගණනකට ඉහත කාලයක දී සොරොව්වක් ඉදි කර තිබිණි. මේ එම පැරණි සොරොව්ව නටබුන් වී තිබී මතුකර ගත් පසු අවස්ථාවයි.*

භාවයට එයින් පිටුවහලක් ලැබේ. යෝධ වැවේ වැව් බැම්ම සැතපුම් හතක් පමණ දිග වන අතර උස අඩි හතළිස් හතරකි. කෘත්‍රිම ව සාදන ලද එවැනි පස් බැම්මකට වැව පිරුණු පසු එහි රැස්වෙන ජල කඳ මගින් ඇති කරන පීඩනය දරා සිටීමට නම් වැව් බැම්ම කෙතරම් ශක්තිමත් විය යුතු ද යන කරුණ ඔබට වැටහෙනු ඇත.

වැව් බැම්මේ ස්ථායිතාව ආරක්ෂා කර ගැනීමට නම් එහි දැඩි බව අත්‍යවශ්‍ය කරුණකි. මේ තත්ත්වය පවත්වා ගැනීමට වැව් බැම්ම තනන අවස්ථාවේ ඊට ක්‍රමානුකූල ක්‍රමවේදයක් ආදේශ කර තිබේ. මෙම තාක්ෂණයේ ස්වරූපය අවබෝධ කර ගැනීමට පුරාවිද්‍යාඥයින් විසින් සීගිරි මහවැවේ වැව් බැම්ම කැණීම් කොට පරීක්ෂා කරන ලදි. මෙහි දී දක්නට ලැබුණේ වැව් බැම්ම සකස් කර තිබෙන්නේ පස් තට්ටු කිහිපයකින් බව යි. මැටි තට්ටුවක්, පස් තට්ටුවක්, බොරලු තට්ටුවක් සහ කිරිමැටි තට්ටුවක් වශයෙන් එකිනෙක මත එකිනෙක අතුරා ඉතා තදින් තළා ගැනීමෙන් එහි වැව් බැම්ම ඉදි කර තිබිණි. වර්තමානයේ පවා මහාමාර්ග ආදි දේ තැනීමේ දී ගිලා බැසීම වළක්වාලීමට පස් තට්ටු තදින් තලනු ඔබ දැක ඇත. අද එවැන්නක් කිරීමට නූතන යන්ත්‍රසූත්‍ර ඇතත් ඒ කාලයේ එවැන්නක් ඉටු කර ගැනීමට යොදා ගන්නට ඇත්තේ සතුන් ය. රුවන්වැලිසෑයේ අත්තිවාරම සකස් කිරීමේ දී එලෙස පස් තැළීමට අලින් යොදා ගත් බව ඓතිහාසික මූලාශ්‍රයවල සඳහන් ය.

**රළපනාව** - වැවක් ජලයෙන් පිරී තිබෙන විට එහි මතුපිට තරංග ඇති වේ. එය එසේ වන්නේ සුළඟ සහ ජලයේ ඇතිවන චලිතය නිසා ය. මෙම තරංගවලින් ඇති වන බලය නිසා වැව් බැම්ම ඛාදනය වීමේ අනතුර වළක්වාලීමට ඉදි කර තිබෙන ව්‍යුහය හැඳින්වෙන්නේ රළපනාව යන නමිනි. වැව් බැම්මේ ඇතුළත බෑවුමේ ගල් ඇතිරීමෙන් රළපනාව තනා තිබේ. ජලයේ තරංග ක්‍රියාකාරීත්වයේ බලය අවබෝධ කර ගැනීම සහ එය වැළැක්වීමට ක්‍රමයක් සම්පාදනය කිරීම අපේ මුතුන්මිත්තන් විද්‍යාත්මකව සිතීමේ ප්‍රතිඵලයකි.

**සොරොව්ව** - විශාල ප්‍රමාණයේ වපසරියක විහිද පවත්නා වැව්වලින් පිටතට ජලය මුදා හැරීම අතිශය පරෙස්සම් සහිත ව සිදු කළ යුතු කාර්යයකි. වැවක ජලය පිරී පවත්නා ප්‍රදේශය ව්‍යාප්ත වීමට සමාන්තරව එහි ජලය රඳවා ගෙන සිටින වැව් බැම්ම ද උසින් වැඩි වේ. එවිට එම වැවේ පිරී තිබෙන ජල කඳේ උස ද ඉහළ යයි. ජල කඳේ උස ඉහළ යාම නිසා අධික පීඩනයක් නිර්මාණය වේ. එවැනි පීඩනයක් සහිත තැනකින් ජලය පිටතට මුදා හැරීමේ දී අතිශය කල්පනාකාරී විය යුත්තේ එමගින් මහත් විනාශකාරී ප්‍රතිඵල ඇති වීමට සෑම අවස්ථාවක දී ම ඉඩකඩ තිබෙන නිසා ය.

අපේ රටේ පුරාණ කාලයේ වාසය කළ ඉංජිනේරුවන් මේ ගැන ඉතා හොඳින් කල්පනා කළ බව පෙනේ. විශාල වැව්වලින් පරෙස්සමෙන් ජලය පිටතට ගැනීමට ඔවුන් විසින් නිෂ්පාදනය කරන ලද

ව්‍යුහය හැඳින්වෙන්නේ 'සොරොව්ව' නමිනි. විශාල ගල්පතුරු උපයෝගි කර ගනිමින් වැව් බැම්මේ නිශ්චිත උස මට්ටමක සොරොව්ව සවි කර තිබේ. හතර වන මහින්ද රජු විසින් කරවන ලද වෙස්සගිරිය සෙල්ලිපියේ 'මොහොල් නගා' යන පද දෙක දක්නට තිබේ. ඉන් කියැවෙන්නේ සොරොව්වේ ජලය පාලනය කරන දණ්ඩ සකස් කොට යන්න යි. වැව් බැම්මේ ජලය පිරී පවතින ප්‍රදේශයෙන් ආරම්භ ව වැව් බැම්ම යටින් හෝ එය විනිවිද යන ආකාරයට ස්වාභාවික ගල්පතුරු භාවිත කර සොරොව් ඉදි කර ඇත. එයින් ජලය මුදා හැරීමට භාවිත කරන ලද්දේ සිරස් අතට සොරොව්වට සම්බන්ධ කර තිබූ ගල් කුලුනකි. එය ඇත්මෑත් කිරීමෙන් අවශ්‍ය තරමින් ජලය පිටතට මුදා හැරීමට හැකි විය. මෙවැනි ගල් කුලුනු හැඳින්වීමට යොදා තිබෙන්නේ 'දියකැට පහන' යන යෙදුම යි. වෙස්සගිරිය සෙල්ලිපියේ එක් තැනක 'සතර් රියනක් දියට් හිඳවූ දියකැට පහන්' යනුවෙන් යෙදුමක් දක්නට තිබේ. ජලය පාලනය කිරීමට සොරොව්වකට සම්බන්ධ කර තිබූ ගල් කුලුනක් රියන් හතරක උසින් යුත් බව එයින් කියැවේ.

බිසෝකොටුව යනු සොරොව්වෙහි ම එක් අංගයකි එයින් අදහස් කරන ලද්දේ වැවෙන් ජලය පිටතට ගලා එන ගලින් තැනූ ආයත චතුරස්‍රාකාර අවකාශය යි. එය ඉහළින් බැලූ විට දිස්වන්නේ කොටුවක් ලෙස ය. උස් බැම්මක් සහිත වැව්වල සොරොව් එකකට වඩා වැඩි ප්‍රමාණයක් සවි කර තිබේ. එහි අරමුණ එක් එක් මට්ටම්වල දී ජලය මුදා හැරීමෙන් අවම පීඩන තත්ත්වයක් යටතේ ජලය පිටතට රැගෙන ඒමට ඉන් අවකාශ සැලසෙන නිසා ය. වැවක බැම්මේ පහළ ම මට්ටමේ පිහිටුවා තිබෙන්නේ මඩ සොරොව්ව ය. වර්ෂා කාලයකින් පසු ව වැවේ එක්රැස් වන රොන්මඩ ඉවත් කිරීමට ඉවහල් කර ගන්නා ලද්දේ මඩ සොරොව්ව නමින් හැඳින්වෙන එම ව්‍යුහය යි.

සොරොව්වක් ඉදි කිරීමටත් එය පරිහරණය කිරීමටත් විද්‍යාත්මක දැනුමක් අවශ්‍ය ය. විශේෂයෙන් ම ඊට අදාළ වන්නේ ජලයේ හැසිරීම හොඳින් තේරුම් ගෙන තිබීම යි. ජලය සතු එම ගුණය හැඳින්වීමට ජලයේ ගම්‍යතාව යන පදය ව්‍යවහාර කරනු ලබයි. අපේ රටේ පැරණි විද්‍යාව යන තේමාව යටතේ සොරොව් ගැන ඉගෙන ගැනීම වැදගත් වන්නේ ඒ නිසා ය.

**ඇළමාර්ග** - ගංගා හරස්කර අමුණු බැඳ ජලය රැස් කර ගැනීමත් එසේ රැස් කර ගත් ජලය වැව් වෙත ගෙන යාමත් ඉතා ඈත කාලයක සිට ජල කළමනාකරණයට අදාළ ව අපේ රටේ පැවති තාක්ෂණයකි. ක්‍රිස්තුපූර්ව දෙවන සියවසට අයත් සෙල්ලිපියක අඩික යන නමින් හඳුන්වන ලද නිලධාරියකු ගැන සඳහන් වේ. ඔහු ඇළ මාර්ග ඉදි කිරීම සම්බන්ධයෙන් කටයුතු කළ අයෙකි.

පුරාණ කාලයේ ඉදි කළ දැවැන්ත ඇළ මාර්ගයක් වන්නේ මහවැලි ගඟේ අතු ගංගාවක් වූ අඹන්ගඟ හරස් කර ඉදි කළ ඇළහැර ඇළ යි. මේ මගින් මින්නේරිය, ගිරිතලේ, කවුඩුල්ල හා කන්තලේ යන වැව්වලට ජලය ගෙන ගියේ ය. මිනිපේ ප්‍රදේශයේ දී මහවැලි ගඟ හරස් කර බැම්මක් බැඳ ජලය පොළොන්නරුව තෙක් ගෙන යාමට එකල තවත් ඇළ මාර්ගයක් ඉදි කර තිබිණි.

බෞද්ධ විහාරාරාමවල විසූ භික්ෂූන් වහන්සේලාගේ ප්‍රයෝජනය සඳහා ඉදි කරන ලද පොකුණු පුරාණ කාලයේ අපේ රටේ පැවති ජල කළමනාකරණයට අදාළ තවත් අංශයකි. කුට්ටම් පොකුණ, කුමාර පොකුණ, නෙළුම් පොකුණ, ඇත් පොකුණ ආදි නිර්මාණ මීට නිදසුන් ය.

පෞද්ගලික ජල පරිහරණයේ දී ජලයේ නියමිත ප්‍රමිතිය සහ සිසිලනය ආරක්ෂා කර ගැනීම සඳහා පුරාණ කාලයේ දී අපේ රටේ නියමිත තාක්ෂණයක් තිබිණි. විශේෂයෙන් ම අනුරාධපුරය ආදි වියළි කලාපීය ප්‍රදේශවල පානීය ජලයේ කිවුල් සහගත ස්වභාවයක් අන්තර්ගත වේ. එහෙයින් පානීය ජලයේ නියමිත ප්‍රමිතිය ආරක්ෂා කර ගැනීමට අවශ්‍ය කරන තාක්ෂණය නිපදවා ගැනීමට පෙළඹීම ස්වාභාවික ය. පානීය ජලය ලබා ගැනීමට අවශ්‍ය කරන ළිං සෑදීමේ දී ක්‍රමානුකූල විධික්‍රමයක් අනුගමනය කිරීම මේ සඳහා අනුගමනය කර තිබෙන ප්‍රධාන පිළිවෙතකි. විශාල ප්‍රමාණයේ මැටි බඳුන් කිහිපයක් ළිඳ තුළට බස්සවා එහි බිත්ති ආවරණය කිරීම සිදු කර තිබේ. මෙවැනි ළිං හඳුන්වන්නේ ඌරාකැට ළිං නමිනි. මෙවැනි ඌරාකැට ළිං වියළි කලාපයේ ස්ථාන කිහිපයකින් සොයා ගෙන තිබේ.

**සීගිරියේ ජල මල්** -සීගිරියේ ජල මල් බටහිර උද්‍යානයේ දක්නට තිබෙන විශිෂ්ටතම නිර්මාණයකි. බටහිර ජල උද්‍යානය හරහා සීගිරි පර්වතය වෙත විහිදෙන පිවිසුම් මාවතේ දෙපස නිර්මාණය කර තිබෙන ජල මල් ගණන හතරකි. ජල මල් හතරක් නිර්මාණය කිරීමට හේතුව ඒවායින් ඉහළට නගින ජල කඳේ

උසෙහි යම් වෙනසක් ඇති කිරීමේ අවශ්‍යතාව යි. මෙම ජල මල් සකසා තිබෙන ක්‍රමය ඉතා සරල වූත් කාර්යක්ෂම වූත් එකකි. අඩි 600 කට ආසන්න වන උසක සිට කාණු පද්ධතියක් හරහා තැනිතලාවට ගලා එන ජලය හිරිවන ම හරස් කොට සැලකිය යුතු තරමේ පීඩනයක් ඇති කිරීමෙන් ජලය ඉහළට එසවීම එහි දී අනුගමනය කර තිබෙන මූලධර්මය යි. එසේ පීඩනය ඇතිවන තැන කාණුවේ ඉහළින් වෘත්තාකාර හැඩයකට සිදුරු විදින ලද ගල් පතුරක් සවි කිරීමෙන් චමත්කාරජනක ලෙස ජලය ඉහළට විදීමට සකස්කර තිබේ. ස්වාභාවික ව ජනනය වන පීඩනය නිසා ඉහළට එසවෙන ජල කඳේ උස වෙනස් කිරීම සඳහා යොදා ගෙන තිබෙන උපක්‍රමය වන්නේ පීඩනය උපදින තැනට ඉහළින් තිබෙන ගල් පතුරේ විද තිබෙන සිදුරුවල විෂ්කම්භය වෙනස් කිරිම යි. විෂ්කම්භය අඩු සිදුරෙන් වැඩි පීඩනයක් නිදහස් වන නිසා ජල කඳ වැඩි උසකට එසවෙන අතර විෂ්කම්භය වැඩි සිදුරෙන් ඊට වඩා අඩු උසකට ජල කඳ ඉහළට එසවේ. සීගිරි පර්වතයේ ඉහළ සිට පහළට ජලය ගලාගෙන පැමිණීමේ දී ඊට මුසු වන රොන්මඩ ස්වාභාවික ගුරුත්ව බලයෙන් පහළට කිඳා බැසීමට ජලය වැඩි දුරක් අඩු බෑස්මකින් යුතුව ගලා යාමට හැකි වන පරිදි සීගිරියේ ජල උද්‍යානයේ කාණු පද්ධතිය දඟරාකාර ව සකස් කර තිබේ. කාණුවල තැන් කිහිපයකින් ඉවත් කළ හැකි ගල්පතුරු යොදා තිබෙන්නේ වර්ෂා කාලයෙන් පසු කාණු පත්ලේ එකතු වන රොන්මඩ ඉවත් කිරීමට ය. මහවැසි ඇද වැටෙන කාලවල සීගිරියේ ජලමල් ක්‍රියාත්මක වන ආකාරය අදත් කෙනෙකුට දැකිය හැකි ය.

### 5.2.2 වාස්තු විද්‍යාව

පැරණි වාස්තු විද්‍යාව පිළිබඳ අංග රැසක් අනුරාධපුරය හා පොළොන්නරුව රාජධානිවල නටබුන් පරීක්ෂා කිරීමේ දී අපට හමු වේ. එමගින් එකල සිටි විවිධ ශිල්පීන් විශිෂ්ට වාස්තු විද්‍යාත්මක නිර්මාණ කර ඇති බව අපට පෙන්වා දෙයි. එයින් ඉතා විශිෂ්ටතම නිර්මාණ කිහිපයක් මෙහි  දී ඔබට අධ්‍යයනය කළ හැකි ය.

**ගෘහ නිර්මාණ** - අනුරාධපුර හා පොළොන්නරුව යුගවලින් හමු වූ වාස්තු විද්‍යාවට අයත් බෞද්ධ ගොඩනැගිලි, දාගැබ්, බෝධිඝර, පිළිම ගෙවල්, විහාර ගෙවල්, ආරාම, දාන ශාලා, භාවනා කුටි රාජ මාලිගා, බලකොටු, බෙහෙත් ශාලා ආදි ගෘහ නිර්මාණ දැකිය හැකි ය.

ගොඩනැගිලි තැනීම ඉතා පැරණි කාලයක සිට මෙරට පැවති බව එම සාක්ෂිවලින් පෙනේ. අනුරාධපුරයේ ඉදි කොට තිබෙන ජේතවනාරාමය, අභයගිරිය සහ රුවන්වැලි සෑය ආදි මහා ස්තූප  සහ ලෝවාමහාපාය ආදි මහල් කිහිපයකින් යුත් ගොඩනැගිලි ඉදි කිරීමට ඉතා දියුණු විද්‍යාත්මක දැනුමක් සහ එම දැනුම ක්‍රියාවට නැංවීමට අදාළ තාක්ෂණය පිළිබඳ පුහුණුවක් අවශ්‍ය ය. නිදසුනක් ලෙස තදින් මෝසම් වර්ෂාව ලැබෙන ශ්‍රී ලංකාවේ උතුරුමැද වියළි කලාපයේ අනුරාධපුර වැනි ප්‍රදේශයක ඉදි කොට තිබෙන රුවන්වැලි සෑය සහ වෙනත් ස්තූපවලට ඕනෑ ම අවස්ථාවක දී අකුණු සැර වැදීමේ හැකියාවක් තිබේ. එහෙත් ඉතිහාසයේ කිසිදු අවස්ථාවක එම ස්තූප එවැනි අනතුරකට ලක් වූ බවට ඓතිහාසික හෝ පුරාවිද්‍යාත්මක සාක්ෂි සොයා ගෙන නැත. ඊට හේතුව එවැනි අනතුරුවලින් එම ගොඩනැගිලි ආරක්ෂා කර ගැනීමට අවශ්‍ය කරන විද්‍යාත්මක ආදේශන යෙදීමට පැරණි කාලයේ ඉංජිනේරුවන් විසින් කටයුතු සම්පාදනය කර තිබීම යි. අකුණු සැර හට ගන්නේ ප්‍රතිවිරුද්ධ විද්‍යුත් ආරෝපණවලින් සමන්විත වලාකුළු එකිනෙක අතර විදුලිය හුවමාරු වීමේ දී බව භෞතික විද්‍යාවේ උගන්වන නියමයකි. එවැනි අධික සැරකින් යුත් විදුලි ධාරාවක් පොළොවට පැමිණෙන්නේ විදුලි සන්නායකතාවකින් යුත් උසැති වස්තුවක් හරහා ය. එලෙස විදුලිය ගමන් කිරීමේ දී අදාළ වස්තුව පිලිස්සී විනාශයට ලක් වේ. මෙම ක්‍රියාවලිය පිළිබඳ වැඩිදුර විස්තර විද්‍යාව පාඩමේ දී ඔබට ඉගෙන ගැනීමට අවස්ථාවක් ලැබෙනු ඇත.

අකුණු සැරවලින් ආරක්ෂා වීමට වර්තමානයේ ඇතැම් නිවෙස්වල පවා අකුණු සන්නායකයක් යොදා තිබේ. රුවන්වැලි සෑය ඉදි කිරීමේ දී ද අකුණු සන්නායකයක් යෙදීමට එය ඉදි කළ ඉංජිනේරුවන් අමතක කළේ නැත. ඓතිහාසික මූලාශ්‍රයවල එම උපකරණය හඳුන්වා දී තිබෙන්නේ 'වජ්‍ර චුම්බට' යන නමින් ය. වජ්‍ර යනුවෙන් ව්‍යවහාර කරන්නේ අකුණු හෙවත් ස්වාභාවික ව ජනනය වන විදුලි සැරයට යි. චුම්බට යන වචනය සෑදී තිබෙන්නේ චුම්බක යන පදයෙනි. එහි අර්ථය කාන්දම යන්න යි. කාන්දම යන සිංහල යෙදුමෙන් ඇදී ඒම හෝ ඇලීම යන අදහස ලැබේ. අකුණු සැර ඇද ගැනීමට රුවන්වැලි සෑය මුදුනේ සවි කොට තිබූ ව්‍යුහයට 'වජ්‍ර චුම්බට' යනුවෙන් යෙදීම බෙහෙවින් උචිත ය. අකුණුවලින් ජනිත වන විද්‍යුතය හැඳින්වෙන්නේ ස්ථිති විද්‍යුතය යන නමිනි. එය භෞතික විද්‍යාවේ ඉගැන්වෙන දෙයකි.



*ඡායාරූපය අංක 5.2 අනුරාධපුරයේ සිට විහිදෙන මහාමාර්ග පද්ධතියක් එකල තිබිණි. අනුරාධපුරය හරහා ගලා බසින මල්වතුඔය හරහා ගමන් කිරීමට එකල මහාමාර්ග ඉංජිනේරුවෝ කළුගලින් පාලම් තැනූහ. පාලම් තැනීමේ මූලික විද්‍යාත්මක සිද්ධාන්ත ඔවුන් දැන සිටි බව ඉන් පැහැදිලි වෙයි. මේ එලෙස තැනූ ගල් පාලමක් නටබුන් ව තවමත් සුරැකී තිබෙන අන්දම යි.*

**රුවන්වැලි සෑයේ අත්තිවාරම** - රුවන්වැලි සෑය ඉදි කරන ලද්දේ දුටුගැමුණු රජතුමා විසිනි. එය ඒ කාලය වන විට ශ්‍රී ලංකාවේ ඉදි කොට තිබූ විශාලතම ස්තූපය යි. පැරණි කාලයේ ඉදි කළ ගොඩනැගිල්ලක් පිළිබඳ සෑහෙන තරමේ දීර්ඝ විස්තරයක් ලියැවී තිබෙන්නේ රුවන්වැලි සෑය සම්බන්ධයෙනි. විශේෂයෙන් ම මෙම සුවිසල් ස්තූපයේ අත්තිවාරම සකස් කළ ආකාරය පිළිබඳ විචිත්‍ර වූත් විස්තරාත්මක වූත් පැහැදිලි කිරීමක් ඓතිහාසික මූලාශ්‍රයවල දක්නට තිබේ. ඒ විස්තරයට අනුව පළමු ව එම ස්තූපය ඉදි කිරීමට නියමිත ස්ථානයේ රියන් හතක් ගැඹුරට පොළොව සාරා තිබේ. අනතුරුව සවිමත් මිනිසුන් ලවා හුණුගල් ගෙන්වා එම වළට දමා ඒවා කැබලි කොට ජලය වත් කොට හම් සපත්තු පැළඳවූ ඇතුන් යොදා පාගා මට්ටම් කර තිබේ. ඉන් පසු ඒ ගල් අතරට වෙඬරු මැටි නමින් හැඳින්වෙන මැටි වර්ගයක් අතුරා සවිමත් කෙරිණි. පසුව එම ගල් තට්ටුව මත නැවතත් ගල් තට්ටුවක් ද ඒ මත බොරලු තට්ටුවක් ද බොරලු තට්ටුව මත පළිඟු ගල් තට්ටුවක් ද අතුරුවනු ලැබිණි. ඉන් පසුව ඒ ගල් තට්ටුව මත නවනීත නම් මැටි වර්ගය ආලේප කරණු ලැබිණි. අනතුරුව රසායන දියරයකින් දිය කර ගන්නා ලද දිවුල් මැලියම් තවරන ලද ලෝහ දූලක් ඒ මත අතුරවනු ලැබිණි. ඒ මත තල තෙල්වලින් තෙමන ලද රත්සිරියල් ගල් අතුරවනු ලැබිණි.

මෙම විස්තරයට අවධානය යොමු කරන විට අවබෝධ වන්නේ රුවන්වැලි සෑයේ අත්තිවාරම නූතන කොන්ක්‍රීට් තාක්ෂණයට සමාන ක්‍රමවේදයක් අනුව සකස් කර තිබෙන බව යි. එවැනි ශක්තිමත් පදනමක් ඊට යොදා තිබෙන්නේ ඒ මත ඉදි කරන දැවැන්ත ගඩොළු ස්තූපයේ බර දීර්ඝ කාලයක් තිස්සේ නොනැසී දරා සිටීම අවශ්‍ය නිසා ය. මීට අවුරුදු දෙදහස් දෙසීයකට පමණ ඉහත කාලයක දී විශාල ගොඩනැගිල්ලක් ඉදි කිරීමේ දී අපේ ඉංජිනේරුවන් කල්පනා කළ ආකාරයත් ඒ අනුව ක්‍රියා කළ ආකාරයත් ඊට අදාළ විද්‍යාත්මක සිතිවිලිලත් මෙම නිදසුන මගින් පිළිබිඹු වේ.



*ඡායාරූපය අංක 5.1 යකඩ උණු කිරීමේ තාක්ෂණය ඉතා පැරණි කාලයක සිටි අපේ රටේ ශිල්පීන් ප්‍රගුණ කර තිබූ තාක්ෂණයකි. එලෙස යකඩ උණු කිරීමට භාවිත කළ යකඩ උදුන් රාශියක් පුරාවිද්‍යාඥයින් විසින් අනාවරණය කර ගෙන තිබේ. මෙම ඡායාරූපයේ වම්පස දැක්වෙන්නේ සබරගමු පළාතට අයත් සමනළ වැව ප්‍රදේශයෙන් සොයා ගන්නා ලද එවැනි නටබුන් ව ගිය පැරණි යකඩ උදුනකි. එය ස්වාභාවික සුළං බලයෙන් ක්‍රියාත්මක කර තිබේ. දකුණුපස ඡායාරූපයේ දැක්වෙන්නේ පුරාවිද්‍යාඥයින් විසින් එවැනි උදුනක් අලුතින් සාදා ඇති අන්දම යි (ඡායාරූපයේ අයිතිය ජිලියන් ජුලෙෆ් සතු ය).*

**නගර නිර්මාණය හා උද්‍යාන නිර්මාණය** - ගොඩනැගිලි සෑදීම සහ උද්‍යාන අලංකරණය සම්බන්ධයෙන් ඉතා ඉහළ දැනුමක් අපේ පැරණි සමාජය තුළ පැවතිණි. මේ සඳහා දැක්විය යුතු හොඳ ම නිදර්ශනය සීගිරියේ නාගරික සැලැස්ම සහ එහි තිබෙන උද්‍යාන සංකීර්ණය යි. සීගිරිය යනු ක්‍රිස්තු වර්ෂයෙන් පස්වන සියවසේ දී ඉදි කරන ලද විශිෂ්ට නාගරික මධ්‍යස්ථානයකි. අතිවිශාල හුදකලා පර්වතයක් කේන්ද්‍ර කර ගෙන එය ගොඩ නගා තිබේ. සීගිරි පර්වතය එහි අවට තැනිතලාවේ සිට මීටර 200 ක උසකින් යුක්ත ය. මාලිගයක නටබුන් දක්නට තිබෙන පර්වතයේ මුදුනේ වපසරිය හෙක්ටයාර තුනකට ආසන්න ය. පර්වතය කේන්ද්‍ර කර ගෙන පිහිටා තිබෙන නැගෙනහිර සහ බටහිර රාජකීය ප්‍රවේශ පිළිවෙළින් හෙක්ටයාර 40 සහ 90 යන ප්‍රමාණවලින් යුක්ත ය. මෙම නාගරික සංකීර්ණය වටා එහි ආරක්ෂාව පිණිස ඉදි කර තිබෙන ගඩොළු ප්‍රාකාරවල දිග කිලෝමීටර 10 කට ආසන්න ය. මීට අමතර ව සීගිරි පර්වතය වටා දිවෙන පරිදි සකස් කර තිබෙන දිය අගල්වල මුළු දිග කිලෝමීටර 8 කි. මේ සියලු දෑ ඉදි කර තිබෙන්නේ විධිමත් ලෙස සැලසුම් කරන ලද ගණිතානුකූල ආකෘතියකට ය.

**සනීපාරක්ෂාව, ස්වස්ථතාව හා වෛද්‍ය ක්‍රමය** - වෛද්‍ය ශාස්ත්‍රය පිළිබඳ සැලකිය යුතු තරමේ දීර්ඝ ඉතිහාසයක් ශ්‍රී ලංකාව සතු ව තිබේ. පණ්ඩුකාභය රජුගේ පාලන කාලයේ දී අනුරාධපුරයේ ඉදි කොට තිබූ මාතෘ නිවාස (සිවිකා සාලා) ගැන මහාවංසයේ සඳහන් වේ. දුටුගැමුණු රජතුමා විසින් රෝහල් දහ අටක් ඉදි කරන ලද බව වංසකථාවල සඳහන් ය. ඒවායේ සේවය කරන ලද වෛද්‍යවරුන් පිළිබඳව සෙල්ලිපිවල සඳහන් වන දෑ මෙම පොතේ මීන් පෙර සඳහන් කෙරිණි.

අපේ රටේ සිටි ඇතැම් පාලකයෝ ද වෛද්‍ය ශාස්ත්‍රය මැනවින් ප්‍රගුණ කළ අය වූහ. නොවන අවස්ථාවල දී වෛද්‍ය ශාස්ත්‍රය පුළුල් කිරීමට සිය නොම ද අනුග්‍රාහකත්වය ලබා දුන්හ. 1982 වසරේ දී මීට අදාළ ඉතා වැදගත් පුරාවිද්‍යාත්මක සාක්ෂි සොයා ගැනීමට පුරාවිද්‍යාඥයෝ සමත් වූහ. ඒ පොළොන්නරුවේ පිහිටි ආලාහන පිරිවෙන නමින් හැඳින්වෙන පැරණි නටබුන් සහිත භූමිය කැණීමට ලක් කිරීමේ දී ය. එහි දී එම ස්ථානයේ පැවති පැරණි රෝහලක නටබුන් මතු කෙරිණි.

අඩි 147.5 ක් දිගැති අඩි 109.2 පළලැති රෝහල් ගොඩනැගිල්ලක් එහි තිබිණි. ඒ තුළ තිබී සොයා ගන්නා ලද දේ අතර සංකීර්ණ ශල්‍යකර්ම සඳහා භාවිතකරන මෙවලම් ද විය. ඒ පුරාවස්තු මඟින් අපේ පැරණි වෛද්‍ය ශාස්ත්‍රය කෙතරම් දියුණු තත්ත්වයක පැවතියේ ද යන කාරණය පෙන්වා දෙයි.

මෙයට අමතර ව වෛද්‍ය පොත්, බෙහෙත් ඔරු, වෛද්‍යවරු සඳහා ගම්බිම් වෙන් කිරීම, ඔසු උයන් ඇති කිරීම පිළිබඳ තොරතුරු අනාවරණය වී ඇත.

දැනට ශේෂ ව ඇති කැසිකිළි වැසිකිළි නටබුන්වලින් පැරන්නන් තුළ අපද්‍රව්‍ය කළමනාකරණය පිළිබඳ මනා අවබෝධයක් තිබූ බව පෙනී යයි.

ගොඩනැගිලි නිර්මාණයේ දී ඒවා පරිහරණය කරන්නන්ගේ ස්වස්ථතාව පිළිබඳ අවධානය යොමු කළ බව පැහැදිලි වේ.



*සැලසුම අංක 5.1 පොළොන්නරුවේ ආලාහන පිරිවෙන රෝහලේ බිම් සැලැස්ම. මෙම රෝහල පළමු වන පරාක්‍රමබාහු රජුගේ කාලයේ පටන් ක්‍රියාත්මක ව පැවතියකි*

රාජ මාලිගාවල පාවිච්චි කරන ලද වැසිකිළි හා කැසිකිළි පද්ධතිය ඉතා ගැඹුරු වළකට අප ද්‍රව්‍ය පිට කිරීමට සකස් කර ඇත. පරිසරයට හානි නොවන අයුරින් අපද්‍රව්‍ය පිට කිරීමට ඒ අනුව කටයුතු කළ බව පෙනී යයි. පොළොන්නරුවේ නටබුන්වලින් අපවිත්‍ර ජලය ගලා යාමට සැකසූ කාණු පද්ධතියක් ද හමු වී ඇත. එමෙන් ම නාන පොකුණුවල ද විශේෂ නළ මාර්ග හරහා අපද්‍රව්‍ය බැහැර කිරීමට කටයුතු කර ඇත. ආලාහන පිරිවෙන පිළිබඳ මහාවංශයේ එන තොරතුරුවල එහි ගොඩනැගිලි ප්‍රමාණයට ගැළපෙන ලෙස වැසිකිළි හතක් සාද ඇති බව සඳහන් වේ. ඒ අනුව හෙළ වාස්තු විද්‍යා

## පුරාණ යකඩ නිස්සාරණ තාක්ෂණය

ඉතා පුරාණ කාලයක සිට අපේ මුතුන්මිත්තෝ යකඩ නිස්සාරණය කිරීමේ තාක්ෂණය හොඳින් දැන සිටියහ. ඌව පළාතට අයත් බෙරගලින් සොයා ගෙන ඇති ක්‍රිස්තු පූර්ව 2400 ට දින නිර්ණය කර තිබෙන සෙහොන් ගැබක තිබී යබොර කැබැල්ලක් සොයා ගැනීමට පුරාවිද්‍යාඥයෝ සමත් වූහ. එය ඒ කාලයේ යකඩ උණු කළ බව පෙන්වන සාක්ෂියකි.

ශ්‍රී ලංකාවේ යකඩ නිස්සාරණය කිරීමේ පැරණි තාක්ෂණය කෙබඳු ද යි වටහා ගැනීමට ඉවහල් වන ප්‍රධාන අවස්ථා දෙකක් තිබේ. එයින් පළමු වැන්න සබරගමු පළාතට අයත් බලංගොඩ සමනළ වැව ප්‍රදේශයෙන් සොයා ගන්නා ලද පැරණි යකඩ උඳුන් ය. දෙවැන්න මධ්‍යම පළාතට අයත් සීගිරියට නුදුරු අලකොළ වැව දෙහිගහ ඇළකන්ද නම් ප්‍රදේශයෙන් සොයා ගන්නා ලද පැරණි යකඩ උඳුන් ය. ස්වාභාවික පරිසරයේ පවතින යකඩ බහුල ගල්වලින් යකඩ ලෝහය වෙන් කර ගැනීමට නම් ඒවා අධික උෂ්ණත්වයකට රත් කළ යුතු ය. යකඩ උණුවන්නේ උෂ්ණත්වය සෙල්සියස් අංශක 1538 දී ය. මෙලෙස අධික උෂ්ණත්වයක් ලබා ගැනීමට නම් ඉතා ම කාර්යක්ෂම තාක්ෂණයක් තිබීම අවශ්‍ය ය. සමනළ වැව යකඩ නිස්සාරණය කර තිබෙන්නේ ක්‍රිස්තු පූර්ව තෙවන සියවසේ දී ය. ඒ සඳහා යොදා ගෙන තිබෙන උඳුන් දැල්වීමට භාවිත කර ඇත්තේ ස්වාභාවික සුළං බලය යි. කඳු මුහුණතක ඉදි කර තිබෙන මෙම උඳුන් කඳු අතරින් ගලා එන සුළං මගින් පැය 12 කට ආසන්න වේලාවක් නොනිවී දැල්වී තිබේ. අදටත් වසරේ මෝසම්සුළං කාලයට සවස් යාමයේ එම ප්‍රදේශයේ හරහා හමන සුළං පසු දා පහන් වන තුරු අඛණ්ඩ ව හමා යයි. යකඩ සහිත ස්වාභාවික ගල් කැබලි කොටා මැටියෙන් සකස් කළ උඳුන්වලට දමා ඒ මතට අඟුරු ද එක්කොට



*ඡායාරූපය අංක 5.5 පොළොන්නරුවේ ආලාහන පිරිවෙන රෝහලේ කැණීම් කටයුතුවල දී රෝහල් ගොඩනැගිලිවල නටබුන් අතර තිබී සොයා ගන්නා ලද ලෝහමය කතුරු කිහිපයක්. මේවා රෝහලේ සැත්කම් සඳහා භාවිත කරන ලද ඒවා යි.*

සවස් කාලයේ ගිනි දැල්වීමෙන් පසු ස්වාභාවික සුළං බලයෙන් පසු දින අලුයම තෙක් ඇවිලී ඉන් යකඩ වෙන් වේ. සමනළ වැව යකඩ නිස්සාරණය කිරීමට භාවිත කර තිබෙන්නේ ලිමොනයිට් සහ හෙමටයිට් යන රසායන විද්‍යාත්මක නම්වලින් හඳුන්වන ගල් වර්ග යි. මෙම උඳුන් දැල්වීම සඳහා යොදා ගෙන තිබෙන්නේ 'මරං' නමින් හැඳින්වෙන ගස් පුළුස්සා ලබා ගන්නා අඟුරු ය. අදත් ඒ පළාතේ මෙම ගස් වැවී තිබේ. මෙම ගස් වර්ගය හැඳින්වීමට 'යකඩමරං' යන වචනය ද භාවිත කෙරේ.

දෙහිගහ ඇළකන්ද ප්‍රදේශයේ යකඩ උඳුන් දැල්වීමට අවශ්‍ය කරන සුළං බලය ලබා ගෙන තිබෙන්නේ මයිනහමක ආධාරයෙනි. ක්‍රිස්තු පූර්ව 180 සිට ක්‍රිස්තු වර්ෂ 200 පමණ දක්වා කාලය තුළ එහි යකඩ නිස්සාරණය සිදු කර තිබේ.

**සුළු කර්මාන්ත** - මීට අමතර ව සුළු කර්මාන්ත යටතේ විවිධ ආභරණ සැකසීම, මැටි කර්මාන්තය, මැණික් හා කම්මල් කර්මාන්තය පැවතිණි.

විවිධ ආභරණ සැකසීමේ තාක්ෂණය පිළිබඳ හොඳ ම උදාහරණයක් ලෙස ජේතවන කැණීම්වලින් හමු වූ රන් ආභරණය ගත හැකි ය. එය වී ඇටයක ප්‍රමාණයේ තැල්ලක කොටසකි. එහි මල් කැටයම් 21 ක් තිබී ඇත. එය නූතන රන්කරුවාට අභියෝගයක් වනු ඇත. එමෙන් ම අභයගිරි කැනීමේ දී සොයා ගන්නා ලද වර්ණාලිප්ත උළුවලින් මෙරට මැටි කර්මාන්තයේ දියුණුව කදිමට පෙන්නුම් කරයි. කම්මල් කර්මාන්තයේ ද විශාල දියුණුවක් වූ බව මෙම යුගවලට අයත් දනට හමු වී ඇති විවිධ ආයුධ, ආරක්ෂක උපාංග හා ශෛලීය උපකරණ අනුව පෙනේ.

### 5.2.3 දේශීය වත්සිරිත්

බුදුදහම ජනතාව අතර ප්‍රචලිතව තිබුණ ද කෘෂිකාර්මික අවශ්‍යතා සඳහා එකල ජනතාව වෙනත් යාතුකර්මික පූජා වෙත ද නැඹුරු වී සිටියහ. විවිධ ප්‍රාදේශික දෙවිවරුන් වෙනුවෙන් කරන පුද පූජා ඒ අතර ප්‍රධාන ය. ඒ හැරුණු විට එදිනෙදා ගැටලු විසඳා ගැනීමට කෙම්පහන් ක්‍රම යනුවෙන් හැඳින්වෙන සරල විධි ක්‍රමයක් ද අනුගමනය කෙරිණි. මෙහි දී සාමාන්‍යයෙන් සිදු කරනු ලබන්නේ මී තෙල් තලතෙල් ආදි කිසියම් තෙල් වර්ගයකින් පහනක් හෝ පහන් කිහිපයක් දල්වා කිසියම් පූජාවක් පැවත්වීම යි. වගාවලට ඇතිවන කෘමි උවදුරු වළක්වා ගැනීම හරකුන්ට වැළඳෙන ඇතැම් රෝග නිවාරණය කිරීමට අපේ පැරැන්නෝ කෙම්පහන් ක්‍රම අනුගමනය කළ හ.

පැරණි කාලයේ දෙවියන් උදෙසා කරන ලද පුදපූජා සම්බන්ධයෙන් ඉතා වැදගත් දෙයක් සොයා ගැනීමට 2009 වර්ෂයේ දී පුරාවිද්‍යාඥයෝ සමත් වූහ. රත්නපුර දිස්ත්‍රික්කයට අයත් ගල්පාය නම් ප්‍රදේශයේ කැණීම් කළ ඔවුන්ට පැරණි දේවාලයක නටබුන් සොයා ගත හැකි විය. අඩි 6 ක පමණ විෂ්කම්භයක් ඇති වෘත්තාකාර හැඩයකට මැටි වළං යටිකුරු කොට නමා තිබූ එහි ඇතුළත අවකාශයේ ගිනිගොඩක සලකුණු ඉතිරි වී තිබිණි. ගිනිගොඩ අසල ගවයකුගේ හක්කක් ද මැටි කොතලයක කොටස් ද ඉතිරි වී තිබෙනු දැකිය හැකි විය. ඒ සියල්ල ආවරණය කරන පරිදි ගොඩ නගා තිබූ මඩුවකට අයත් කණුවළවල් ද මතු කර ගැනීමට පුරාවිද්‍යාඥයෝ සමත් වූ හ. පසුව කරන ලද විශ්ලේෂණවල දී පෙනී ගිය කාරණය වූයේ එය කිරිමඩු ශාන්තිකර්මය පැවැත්වීමට භාවිත කරන ලද තැනක් බව යි. කිරිමඩු ශාන්තිකර්මය පවත්වන්නේ ගවයින්ගේ ආරක්ෂාව සඳහා යි. විද්‍යාත්මක දිනනිර්ණ අනුව එම දේවාලය ක්‍රිස්තු වර්ෂයෙන් තුන්වන සියවසට අයත් බව තහවුරු විය. ගවයින්ගේ ආරක්ෂාව පතා කිරිමඩු ශාන්තිකර්මය පැවැත්වීම අදත් සබරගමු පළාතේ සහ ඌව පළාතේ දක්නට තිබෙන කටයුත්තකි.



*සිතුවම අංක 5.7 ගල්පායෙන් සොයා ගන්නා ලද පැරණි දේවාලය මුල් අවස්ථාවේ දී පවතින්නට ඇති ආකාරය පිළිබිඹු වන අන්දමට සිත්තරෙකු විසින් ඇඳ තිබෙන චිත්‍රයක්*

### 5.2.4 දේශීය දැනුම

**මැනීම සහ ගණනය** - පැරණි කාලයක පටන් ස්වභාව ධර්මයේ පවතින මූලධර්ම ගැන අවබෝධ කර ගැනීමෙන් ඊට අදාළ දැනුමක් අපේ පැරණි සමාජය තුළ පැවතියේ ය. කිසියම් සමාජයක් තුළ විද්‍යාත්මක දැනුමක් පවතින බව පෙන්නුම් කරන එක් දර්ශකයක් වන්නේ ස්වභාව ධර්මයට අයත් භෞතික තත්ත්ව මැන ගැනීමට සමත් ක්‍රමවේදයක් පැවතීම ය. අපේ පැරණි මිම් ඊට නිදසුන් ලෙස ඉදිරිපත් කළ හැකි ය.

**අවකාශය මැනීම**

අවකාශය මැන ගැනීමට අපේ පැරැන්නන්ට අවශ්‍ය වූයේ ගොවිතැන් සඳහා ඉඩම් භාවිත කිරීමේ දී ය. එහෙයින් ඒ සඳහා සුදුසු මිම් සකස් කර ගන්නා ලද්දේ ගොවිතැන ආශ්‍රයෙනි. එහි දී කිරිය, අමුණ, කරීසය, පෑල යන මිම් භාවිත විය. කරීස එකක කුඹුරක් යනු වී කරීසයක් වැපිරිය හැකි තැනකි. කරීස 1ක් අමුණු 4කට සමාන ය. අමුණක් යනු වර්තමාන අක්කර 2කට සමාන භූමි ප්‍රදේශයකි. මෙලෙස ගුණාකාර සබඳතාවක් මිනුම්වල තිබීම උසස් ගණිතානුකූල ලක්ෂණයකි. මෙහි දී අවධානයට ගත යුතු කරුණ වන්නේ අවකාශය මැනීම සඳහා මෙරට පැරැන්නන් විසින් යොදා ගෙන තිබෙන්නේ පරිමාව මැනීමට අදාළ ඒකක වීම යි. මේ සඳහා පහත දැක්වෙන චක්‍රය දෙස අවධානය යොමු කරන්න.

*ලාහ 40 = පෑල 1*

*පෑළ 12 = කුරුණි 12*

*කුරුණි 44 = අමුණු 1*

*අමුණු 1 = කරීස 0.25*



*ඡායාරූපය අංක 5.6 සබරගමු පළාතට අයත් පල්ලේබැද්දේ ගල්පාය නම් ගමේ තැනක තිබී සොයා ගන්නා ලද පැරණි දේවාලයක නටබුන්. මෙය පොළෝ මට්ටමේ සිට අඩි 4ක පමණ ගැඹුරින් වැළලී තිබිණි. කිරිමඩු යාගය පැවැත්වූ තැනක් ලෙස හඳුනා ගෙන තිබෙන මෙම ස්ථානය ක්‍රිස්තු වර්ෂයෙන් දෙවන සියවසට අයත් වූවකි.*

අනුරාධපුර දිස්ත්‍රික්කයට අයත් දුනුමඩලාකන්ද නමින් හැඳින්වෙන ස්ථානයෙන් සොයා ගෙන තිබෙන භාතිකාභය රජු විසින් ලියවන ලද සෙල්ලිපියක එම ප්‍රදේශයේ පිහිටා තිබූ දාගැබකට එක් කරීසයක් බැගින් පූජා කරන ලද ඉඩම් විස්තරයක් සඳහන් වේ. අනුරාධපුර හොරිවිල ප්‍රදේශයෙන් හමු වූ කුටකණ්ණාභය රජුට අයත් සෙල්ලිපියක ඒ ප්‍රදේශයේ එකල පිහිටා තිබූ තිස්ස නම් විහාරයකට කරීස අටක ඉඩමක් පූජා කළ බව දැක්වේ.

දිග මැන ගැනීමට ද පැරණි කාලයේ ක්‍රමවත් මිමි පද්ධතියක් භාවිතයේ පැවතිණි. එහි කුඩා ම ඒකකය වූයේ පරමාණුව යි. එය ඉතා කුඩා මිම්මකි. කෙටි දුර මැනීමට ආංගුලය සහ වියත යන මිමි භාවිතයේ පැවතිණි. වියතක් යනු අඟල් 9 කි. ගොඩනැගිලි ඉදි කිරීමේ දී සහ පිළිම නෙළීමේ දී කුඩා මිමි භාවිතය අත්‍යවශ්‍ය විය. දිග දුර මැනීමට යොදා ගන්නා ලද්දේ ගව්ව, යොදුන සහ උසබ යන මිනුම් ය. නිශ්ශංකමල්ල රජතුමා ප්‍රධාන මාවත්වල ගව්වෙන් ගව්වට ගල් කණු සිටුවීමට නියෝග කළේ ය. එය වර්තමාන කිලෝමීටර කණුවලට සමාන ය. එම ගල් කණු හඳුන්වන ලද්දේ ගාවුත කණු යන නමිනි. එවැනි ගාවුත කණු දෙකක් දකුණු පළාතට අයත් කටුගහගල්ගේ සහ වැලිගත්ත යන ප්‍රදේශවලින් සොයා ගෙන තිබේ. මෙම මිමි ක්‍රමය පැරණි කාලයේ පෙරදිග රටවල පොදුවේ භාවිත කළ එකක් බව පෙනේ. එහි පවතින ගණිතානුකූල බව පහත දැක්වා ඇති චක්‍රය ඇසුරෙන් අවබෝධ කර ගන්න.

*පරමාණු 36 = අණු 1*
*අණු 36 = තජ්ජාරි 1*
*තජ්ජාරි 36 = රථරේණු 1*
*රථරේණු 36 = ලික්ඛ 1*
*ලික්ඛ 7 = ඌක 1*
*ඌක්ඛ 7 = ධඤ්ඤමාස 1*
*ධඤ්ඤමාස 7 = ආංගුල 1*
*ආංගුල 12 = වියත් 1*

### බර මැනීම

බර මැනීමට ද එකල විධිමත් ඒකක තිබිණි. විශේෂයෙන් ම වෙළෙඳ කටයුතුවල දී යම් යම් වෙළෙඳ භාණ්ඩවල බර නිවැරදිව මැන ගැනීමට අවශ්‍ය විය. වෙළෙඳ කටයුතුවල දී ව්‍යාජ බර කිරුම් සිදු කිරීම නීති විරෝධී කටයුත්තක් ලෙස සැලකිණි. සොරබොරවැව ටැම් ලිපියේ සඳහන් වන ආකාරයට රජය විසින් අනුමත නොකරන ලද තරාදි පඩි කිරුම්- මිනුම් සඳහා භාවිත කිරීම තහනම් කටයුත්තකි. පුරාණ කාලයේ ශ්‍රී ලංකාවේ භාවිත වූ බර මැනීමේ මිනුම් ක්‍රමවල ස්වරූපය පහත දැක්වෙන චක්‍රය ඇසුරෙන් තේරුම් ගන්න.

*වීහ 4 = ගුන්ජා 1*
*ගුන්ජා 2 = මාසක 1*
*මාසක 2.5 = අක 1*
*අක 8 = ධරණ 1*
*ධරණ 5 = ස්වර්ණ 1*
*ස්වර්ණ 2 = පල 1*

මෙලෙස මිනුම භාවිත කිරීමේ දී ඒවා සටහන් කිරීමට අංක අවශ්‍ය වන බව අපි හොඳින් දනිමු. වර්තමානයේ අප භාවිත කරන්නේ අරාබි ජාතිකයින් විසින් හඳුන්වා දෙන ලද අංක යි.

එහෙයින් ඒවා අරාබි ඉලක්කම් යනුවෙන් හැඳින් වේ. එහෙත් අපේ රටේ පැරණි අංක ක්‍රමයක් තිබිණි. එකේ සිට දහස දක්වා වූ පරාසයේ අංක පැරණි සෙල්ලිපිවල දකින්නට තිබේ. ඒවා ලියා ඇත්තේ කෙසේ ද යි 5.1 රූප සටහනේ දක්වා තිබේ.

### කාලය මැනීම

කාලය ගණනය කිරීම කෘෂිකර්මය මත පදනම් වූ සමාජයකට ඉතා වැදගත් අවශ්‍යතාවකි. බෝග




*සටහන අංක 5.1 ශ්‍රී ලංකාවේ ඉතා පැරණි සෙල්ලිපිවල දක්නට තිබෙන සංඛ්‍යා රූප කිහිපයක්.*

වැපිරීම සහ අස්වැන්න නෙළීම ආදි දෑ නියමිත කාලයට අනුව කළ යුතු ය. කාලය මැනීම ඉතා සූක්ෂ්ම ව කළ යුතු කාර්යයකි. කාලය මැනීමට අපේ පැරැන්නන් භාවිත කළ ක්‍රමය තේරුම් ගැනීමට ප්‍රමාණවත් සාක්ෂි මූලාශ්‍රයවල දක්නට තිබේ. දිගු කාලයක් මැන ගැනීමට වර්ෂය යන අදහස භාවිත විය. එය චන්ද්‍රයාගේ ගමන අනුව පදනම් වූ මාස ක්‍රමයකට සකස් වූවකි. අමාවක දින සිට පසළොස්වක දින දක්වා දින පසළොසක් ද පසළොස්වක් දින සිට නැවත අමාවක දින දක්වා දින පසළොසක් ද ඇතුළු දින තිහක කාලය මාසය ලෙස සැලකිණි. මෙම කොටස් දෙක පිළිවෙළින් පූර්වපක්ෂය සහ අවපක්ෂය යනුවෙන් හැඳින්විණි. දින තිහක මාස නම් කිරීම සඳහා දුරුතු, නවම්, මැදින් ආදි වශයෙන් පෙරදිගට ආවේණික ව පැවති ක්‍රමය භාවිත විය.

මාස දොළසක කාලය හැඳින්වීමට 'වස' යන පදය හෝ 'හවජර' යන පදය සෙල්ලිපිවල යොදා තිබේ. 'වස' යන පදය සංස්කෘත භාෂාවේ 'වර්ෂ' යන යෙදුමෙන් ද 'හවජර' යන පදය සංස්කෘත භාෂාවේ 'සංවත්සර' යන යෙදුමෙන් ද සකස් විය. වර්තමානයේ භාවිත වන 'අවුරුදු' යන වචනය සෑදෙන්නේ පුරාණ කාලයේ එසේ යෙදුණු හවජර යන පදයෙනි. (හවජර > හවුරුදු > අවුරුදු). දිනය යන අදහස හැඳින්වීමට එකල භාවිත කර තිබෙන්නේ 'තිරිය' යන පදය යි. කුටකණ්ණ අභය රජු විසින් වර්තමාන අම්පාර දිස්ත්‍රික්කයට අයත් රජගල නම් ස්ථානයේ පිහිටුවා තිබෙන සෙල්ලිපියක 'තත' යන වචනය යොදා තිබේ. ඉන් අදහස් කරන්නේ තීරිය යන්න යි. දිනයක් සෑදී තිබෙන්නේ මුහුර්තවලිනි. අප භාවිත කරන 'මොහොත' යන වචනය සෑදී තිබෙන්නේ මෙකී මුහුර්ත යන වචනයෙනි.

මිම් සහ අංක භාවිත කිරීම සඳහා විද්‍යාත්මක ලෙස කල්පනා කිරීම අවශ්‍ය ය. ලෝකයේ පවතින සංකීර්ණ ගති ලක්ෂණ එමගින් අවබෝධ කර ගැනීමට අපේ මුතුන්මිත්තන් එලෙස කල්පනා කර ඇති බව ඉහත සඳහන් කළ කරුණුවලින් අවබෝධ කර ගත හැකි ය. එවැනි මිනිත සංකල්ප ආධාර කොට ගෙන පුරාණ කාලයේ විසූ ලාංකිකයින් සතු ව තිබූ විද්‍යාත්මක අත්දැකීම් කිහිපයක් මෙම පාඩමේ විස්තර කර තිබේ.

**දෑදිගම ඇත් පහන** - පළමු වන පරාක්‍රමබාහු රජතුමා (ක්‍රි.ව. 1153-1186) ඉපදුණු ස්ථානය ලෙස සැලකෙන පුංඛගාම නම් තැන වර්තමානයේ හැඳින්වෙන්නේ දෑදිගම යනුවෙනි. එය පිහිටා තිබෙන්නේ කෑගල්ල දිස්ත්‍රික්කයේ ය. ඒ රජතුමාගේ උත්පත්තිය සිහිගන්වනු පිණිස එහි ස්තූපයක් ඉදි කර තිබේ. එය හැඳින්වෙන්නේ දෑදිගම සූතිඝර චෛත්‍යය යනුවෙනි. 1951 වසරේ දී මෙම ස්තූපය පුරාවිද්‍යාඥයින් විසින් කැණීමට ලක් කරන ලදි. එම ස්තූපයේ ධාතු ගර්භයේ තිබී ලෝකඩයෙන් සාදන ලද පහනක් සොයා ගැනීමට ඔවුහු සමත් වූහ. මෙම පහන ඇතෙකු මත හිඳ සිටින මිනිස් රූප දෙකකින් සමන්විත ය. ඇතා සිය හොඬයෙන් උක් ගසක් දරා සිටී. මෙහි තිබෙන අපූර්වත්වය නම් පහනට අවශ්‍ය



*ඡායාරූපය අංක 5.4 මෙම ලෝකඩ ඇත්පහන සොයා ගන්නා ලද්දේ කෑගල්ල දිස්ත්‍රික්කයට අයත් දැදිගම කොටවෙහෙරෙනි. පහනේ තෙල් පුරවනු ලබන්නේ ඇත් රූපයේ කුස තුළට ය. පහනේ තෙල් අඩු වීමේ දී නැවත ඊට තෙල් පිරීමට ස්ථිතික ජලවිද්‍යා මූලධර්මය යොදා ගෙන තිබේ. භෞතික විද්‍යාවට අයත් මූලධර්ම ගැන අපේ පැරණි ශිල්පීන්ට තිබූ දැනුමේ මහිමය ඉන් විදහා දැක්වේ.*

තෙල් ඇතාගේ උදරයේ ගබඩා කොට ඒ සතාගේ ලිංගය හරහා පහනට තෙල් වැස්සීමට සලස්වා තිබීම යි. පහනේ තෙල් දැවී අඩුවෙත් ම අනායාසයෙන් ම ඇතාගේ උදරයේ තිබෙන තෙල් පහනට ගලා එයි. මෙහි දී අනුගමනය කර තිබෙන්නේ විද්‍යාත්මක මූලධර්මයකි. එය අයත් වන්නේ අචල ජලවිද්‍යාවට ය. මෙහි තෙල් පාලනය වීම ස්වයංක්‍රීය ව සිදු වේ. සංකීර්ණ භෞතික විද්‍යාත්මක මූලධර්ම පිළිබඳ දැනුම පැරණි ශ්‍රී ලාංකික ඉංජිනේරුවන් සතු ව එකල පැවති බව සනාථ කිරීමට දැදිගම සූතිඝර චෛත්‍යයේ ලෝකඩ ඇත් පහන කදිම නිදර්ශනයකි.

**ක්‍රියාකාරකම් 2**

1. අපේ ආදි මුතුන් මිත්තන්ගේ විද්‍යාත්මක දැනුම සහ තාක්ෂණ කුසලතාව යන මැයෙන් රචනාවක් ලියන්න.

2. පූර්ව ඓතිහාසික යුගයේ භාවිත කළ විද්‍යාව හා තාක්‍ෂණයෙන් දේශීය අනන්‍යතාව පිළිබිඹු වන අවස්ථා උදාහරණ ඇසුරෙන් පැහැදිලි කරන්න.

**වැදගත් කරුණු**

1. විද්‍යාව සහ තාක්ෂණය යන දෙපදයෙන් අදහස් කෙරෙන්නේ ස්වභාව ධර්මයේ පවතින මූලධර්ම තේරුම් ගැනීමත් ඒ අනුව ක්‍රියාකිරීමට අවශ්‍ය උපායමාර්ග නිර්මාණය කිරීමත් ය.

2. අවකාශය, කාලය සහ පදාර්ථය මැන ගැනීමට අවශ්‍ය කරන මිම් අපේ පැරැන්නන් විසින් නිපදවා තිබිණි.

3. විද්‍යාත්මක මූලධර්ම ප්‍රායෝගික ලෙස ආදේශනය කර තමන්ගේ වැඩ කටයුතු පහසු කර ගැනීමට අපේ මුතුන්මිත්තෝ ක්‍රියා කළ හ.

4. බටහිර රටවල දියුණු වූ නූතන විද්‍යාව ඉතා ම ප්‍රයෝජන වන්නා සේ ම පෙරදිග රටවල වැසියන් නිපදවූ විද්‍යාව ද එලෙස ම ප්‍රයෝජනවත් ය. නිදසුනක් ලෙස චීනයේ පැවති පැරණි විද්‍යාත්මක අදහස් මුළු මහත් ලෝකයට ම බලපෑවේ ය. ශ්‍රී ලංකාවේ නිපදවන ලද බිසෝකොටුවේ තාක්ෂණය දකුණු ආසියාවට පැතිර ගියේ ය.

5. අපේ ගැමියන් අතර පවතින යාතුකර්මික වත්සිරිත් ඔවුන්ගේ ජීවන ගැටලු විසඳා ගැනීමට ඔවුන් විසින් ම නිපදවා ගන්නා ලද තවත් දැනුම් පද්ධතියකි.

*සීගිරි ජල උද්‍යානය - සීගිරි පර්වතයේ බටහිර කොටසේ තිබෙන නටබුන්වලින් පිළිබිඹු කෙරෙන්නේ සීගිරියේ ජල උද්‍යානය යි. සමමිතික සැලැස්මකට අනුව නිර්මාණය කරන ලද මෙම උද්‍යානයේ එක් පසෙක දක්නට තිබෙන දේ ඒ ආකාරයට ම අනෙක් පස ද ඉදි කර තිබේ. එහි බටහිර කෙළවර පිහිටා තිබෙන කොටස හඳුන්වා දී තිබෙන්නේ කුඩා ජල උද්‍යානය යන අදහස දෙන ක්ෂුද්‍ර ජල උද්‍යානය යන නමිනි. සීගිරියේ උද්‍යානයේ සමස්ත බටහිර කොටස ජල උද්‍යානය යන නමින් හැඳින්වීමට හේතුව එහි දියපොකුණු, දියකාණු. දර්ශනීය ජලමල් ආදී දේ ඉදි කර තිබූ නිසා ය.*

*කිරිමඩු යාගය - මේ නමින් හැඳින්වෙන්නේ ගවයින්ගේ ආරක්ෂාවත් පොදුවේ ගොවිතැන් කටයුතුවල සාර්ථක බව පතා සිදු කෙරෙන ශාන්තිකර්මයකි. එය මංගර නම් වූ ස්වදේශික දෙවිකෙනෙකු මුල්කොට ගෙන සිදු කරන්නකි. මෙම ශාන්තිකර්මය සබරගමු පළාතට ආවේණික වූවකි.*

*දියකැටපහණ - පැරණි වැව්වල ජලය පිටතට ගැනීම සඳහා සකස් කොට තිබෙන සොරොව්වට සම්බන්ධ ගලින් කළ කණුවකි. මෙම ගල්කණුව සෙලවීමෙන් සොරොව්වේ ජලය* පිටතට මුදා හැරේ. ඇතැම් විශාල වැව්වල මෙවැනි ගල්කණු *කිහිපයක් සොරොව්වට සම්බන්ධ කර තිබූ බව සෙල්ලිපිවල සඳහන් වේ.*

# 6 ඓතිහාසික දැනුම සහ එහි ප්‍රායෝගික ආදේශනය

**හැඳින්වීම**

ඕනෑ ම සමාජයක් සමතුලිත ව පවතින්නේ දැනුම පාදක කොට ගෙන යි. මෙකී දැනුම එම සමාජය අයත් ස්වාභාවික පරිසරයට සහ ඊට අනුකූල ව ජීවත් වීමේ දී නිර්මාණය වන සංස්කෘතියට අදාළ වන පරිදි ගොඩ නැගේ. එහෙයින් ලෝක ව්‍යාප්ත සමාජවල එකිනෙකට වෙනස් දැනුම් පද්ධති දක්නට තිබේ. ඒ සෑම දැනුම් පද්ධතියක් ම එය අයත් සමාජයේ නිෂ්පාදන කාර්යක්ෂමතාව සහ තිරසර පැවැත්ම තහවුරු කරයි. කිසි යම් සමාජයක් මඟින් තනනු ලබන දැනුම පිළිබඳ ව්‍යුහයට විවිධාකාරයේ පැතිකඩ අයත් විය හැකි ය. සිය සමාජය සංවිධානය කර ගැනීමට අවශ්‍ය කරන ඇගයුම්, ආර්ථික හුවමාරුකම් විධිමත් කර ගැනීමට අවශ්‍ය කරන ප්‍රායෝගික පියවර ඇගයුම් හා විශ්වාස යන දෑ ඉන් සමහරකි. ඓතිහාසික සමාජයක් මඟින් නිපදවන ලද එවැනි දැනුම් ව්‍යුහ වර්තමාන සමාජයකට වුව ද අත්දැකීමක් ලබා දෙයි. සංස්කෘතික උරුමය යනුවෙන් හැඳින්වෙන්නේ එය යි. ශ්‍රී ලංකාවේ ඓතිහාසික සංස්කෘතික උරුමයට අයත් තෝරා ගත් සංකල්ප හයක් පිළිබඳ ව ශිෂ්‍යයා තුළ සංවේදීතාවක් ඇති කිරීමෙන් ඓතිහාසික සවිඥානයක් තිබෙන පුරවැසියෙකු නිර්මාණය කිරීමේ මූලික පදනම සකස් කිරීමේ අපේක්ෂාවෙන් මෙම පාඩම ගොනු කොට තිබේ. ඒ සංකල්ප හයට ශ්‍රී ලංකාවේ පැරණි සමාජ සංවිධානය, නීතිය සහ සම්ප්‍රදාය, මුදල් සහ විනිමය, පරිසරය සුරැකීම, කාන්තා නියෝජනය සහ දේශීය ආහාර යන මාතෘකා ඇතුළත් වේ.

## 6.1 ඓතිහාසික යුගයේ සමාජ සංවිධානය

සමාජ සංවිධානය (Social organization) යනු කිසි යම් සමාජයක් තිරසර ලෙස පවත්වා ගෙන යාමට ඉවහල් වන එකී සමාජයේ වෙසෙන පුද්ගලයින් සහ කණ්ඩායම් අතර පවතින සම්බන්ධතාවල ස්වරූපය යි. එය සමාජ විද්‍යාත්මක සංකල්පයකි. ඕනෑ ම දෙයක් සාර්ථක වන්නේ එය සංවිධානාත්මක වූ විට යි. සමාජයක් වුව ද එසේ ය. සමාජ සංවිධානය අස්ථාවර වූ විට එහි පවතින නීතිය ආචාරධර්ම සහ සාම්ප්‍රදායික ඇගයුම් විනාශ වේ. එවිට ඒ සමාජය සාමකාමී බවින් තොර වීමට පටන් ගනී.

ඓතිහාසික යුගයේ දී ශ්‍රී ලංකාව පාලනය කළ බුද්ධිමත් කාර්යශූර පාලකයෝ අපේ රටේ සමාජය මැනවින් සංවිධානය කර ගැනීමට නිරතුරු ව ම කැපවෙමින් ක්‍රියා කළහ. සමාජ සංවිධානයක දක්නට තිබෙන ප්‍රධාන ලක්ෂණයක් වන්නේ පුද්ගල සම්බන්ධතාවලට අනුපිළිවෙළක් තිබීම යි. එය හැඳින්වෙන්නේ *ධූරාවලිය* යනුවෙනි. සමාජයක් තුළ *සමාජ ධූරාවලියක්* තිබේ. එය ඉහළ සිට පහළට බලය ගලා යන ව්‍යුහයක් නම් ඊට *සිරස් ධූරාවලියක්* යැයි කියනු ලැබේ. රජු ඇමැතිවරු වෙනත් රජයේ නිලධාරීන් වශයෙන් ඉහළ සිට පහළට අනුපිළිවෙළකට සකස් වීම ඊට නිදසුනකි.

සමාන්තර බලයෙන් යුත් ව්‍යුහ ද සමාජවල තිබේ. විවිධ ආයතනවල ඉහළ ප්‍රධානීන් එක සමාන මට්ටමක ලා සැලකේ. එවැනි සැකැස්මක් හැඳින්වෙන්නේ *තිරස් ධූරාවලිය* යනුවෙනි. ඇමැතිවරු, සේනාපතිවරු, භාණ්ඩාගාරිකවරු ආදීහු ඒ ආකාරයට සමාන බලතල ඇති අය යි. පැරණි කාලයේ දී ශ්‍රී ලංකාවේ පැවති සමාජ සංවිධානයේ ස්වරූපය පැහැදිලි කිරීම සඳහා සටහන අංක 6.1 භාවිත කරන්න.

මෙම සමාජ ධූරාවලියේ ඉහළින් ම සිටින්නේ රජු යි. රජු බෝසත් ගුණයෙන් යුක්ත විය යුතු බවත් රජකමට පරම්පරාවෙන් හිමිකම ලැබිය යුතු බවත් පිළිගැනිණි. මේ නිසා රජු උත්තරීතර ය. ඔහු රටවැසියාට ඊශ්වරයෙකු බව දැක්වෙන *නරඉසෙර* යන පදය දඹුලු විහාරයේ තිබෙන කුටකණ්ණතිස්ස රජුට අයත් සෙල්ලිපියක කොටා තිබෙන අයුරු තුන් වන පරිච්ඡේදයේ විස්තර කර ඇත.

රජුට සමීප ව කටයුතු කළෝ රාජකීය නිලධාරීහු ය. නවවන සියවසේ රචනා කරන ලද සෙල්ලිපිවල මෙවැනි නිලධාරීන් හැඳින්වීමට *රද්කොල් සම්දරු* යන යෙදුම භාවිත කර තිබේ. එහි තේරුම *රාජකුල ස්වාමිදරු* යන්නයි. මහනුවර යුගය වන විට රදළ යන වචනය සැදෙන්නේ මෙම යෙදුමෙනි. (රාජකුල> රද්කොල් > රදොල් > රදල).




*සටහන අංක 6.1 ඓතිහාසික යුගයේ දී ශ්‍රී ලංකාවේ පැවති සමාජ සංවිධානය පෙන්නුම් කරන සටහනක් (උපුටා ගැනීම මහාචාර්ය සේනක බණ්ඩාරනායක 2013 වසරේ දී පළ කළ රචනයකිනි).*

මහා සංඝරත්නය රජයට අනුශාසනා කරමින් සමාජ ධුරාවලියේ ඉහළ ස්ථානයක වැඩ වදාළහ. ඇතැම් අවස්ථාවල දී උන්වහන්සේලා රටේ පාලන කටයුතුවලට ද සහභාගි වූහ. ක්‍රිස්තු වර්ෂ පළමු වන සහ දෙවන සියවස්වල දී වැව්වලින් බදු අය කර ගැනීමේ බලය බෞද්ධ විහාරවලට පවරා දීමට රජවරු කටුයතු කළහ.

ධනවත් වෙළෙඳ ප්‍රධානීන්, නාවික කටයුතුවල යෙදුණු කප්පිත්තන්, වෛද්‍යවරුන්, ගුරුවරු ආදීහු බොහෝ කලක සිට සමාජයේ ප්‍රභූන් ලෙස සැලකන ලදහ. ඒ කිසිදු කෙනෙක් ගොවිතැන් කටයුතුවල හෝ සත්ත්ව පාලන කටයුතුවල නිරත නොවූහ.

මෙකී ප්‍රභුවරුන්ගේ මට්ටමට පහළින් සිටියේ රටේ සාමාන්‍ය ජනතාව යි. සෙල්ලිපිවල ඔවුන් හඳුන්වා දී තිබෙන්නේ 'කුඩීන්' යන නමිනි. ගොවියෝ, එඬේරු, වළං සාදන්නෝ, මැණික් කපන්නෝ, කම්මල්කරුවෝ, ධීවරයෝ සහ වෙනත් කටයුතුවල නියැලුණු පුද්ගලයෝ මේ අතර සිටියහ. මුළු මහත් සමාජය ම නඩත්තු වූයේ මේ පිරිස් අතර සිටි ගොවියන් විසින් නිපදවන ආහාරවලිනි.

රටේ සාමාන්‍ය ජනතාව සහ ඉහළ මට්ටමේ ප්‍රභූන් අතර සම්බන්ධතාව පැවතියේ සාමාන්‍ය වෙළෙන්දන් සාමාන්‍ය රජයේ නිලධාරීන් ආදි අතරමැදි පිරිස් හරහා ය. වරින් වර ගම්වල සංචාරය කළ රජයේ සාමාන්‍ය නිලධාරීන් ගැන සෙල්ලිපිවල සඳහන් වී තිබේ. එවැනි සංචාරවල දී සාමාන්‍ය ගම්වැසියන් තමන්ගේ ගැටලු ඔවුන්ට දැනුම් දුන් අතර එකී නිලධාරීන් එම තොරතුරු රජයේ ඉහළ නිලධාරීන් හරහා රජුට දැන්වූහ.

සමාජයේ පහළ ම මට්ටමේ සිටියෝ දාසයෝ ය. ඔවුන් සතු කාර්යය වූයේ නොයෙකුත් වැඩ කටයුතුවල යෙදීම ය. සමාජයේ වෙනත් පුද්ගලයින්ට තිබූ



*ඡායාරූපය අංක 6.1 ශ්‍රී ලංකාවේ රජවරු තමන් විසින් වෙහෙර විහාරවලට දෙන ලද දීමනා සහ නීතිය පිළිබඳ අදාළවන දේ ගල්වල ලියා තැබීමට කටයුතු කළහ. ඉන් අදහස් කරන ලද්දේ එම ලේඛනවල දීර්ඝකාලීන පැවැත්මයි.*

නිදහස ඔවුන්ට නොතිබිණි. වර්ග දෙකකට අයත් දාසයෝ එකල සිටියහ. පාරම්පරික ව දාසයන් ලෙස ගත කළ අය ඉන් එක් කණ්ඩායමකි. ඔවුන් හැඳින්වූයේ *අන්වයාගතදාස* යන නමිනි. කුලියට ලබා ගත හැකි දාසයෝ ද එකල විසූ හ. *ධනක්කීතදාස* යනු එවැන්නන් හැඳින්වීමට යෙදූ පදය යි.

මෙම සමාජ සංවිධානයට අයත් වූ එකිනෙක කණ්ඩායම් අතර යහපත් සම්බන්ධතාවක් පවත්වා ගෙන යෑමටත්, ශුභසිද්ධිය ආරක්ෂා වීමටත් අවශ්‍ය දෑ රජු අතින් ඉටු විය. සමාජයේ අනුපිළිවෙළ ගොඩ නැගී තිබෙන එක් එක් ආයතන අතර තිබෙන බැඳීම ආරක්ෂා කර ගැනීමෙන් සමාජයක් බිඳ වැටීමට නො දී රැක ගත හැකි බව අපේ රට පාලනය කළ බුද්ධිමත් රජවරු දැන සිටියහ. මෙම සංකල්පය හැඳින්වීමට වර්තමානයේ භාවිත කෙරෙන්නේ සමාජ ඒකාබද්ධතාව (Social cohesion) යන ව්‍යවහාරය යි. ධාර්මික ලෙස පාලනය ගෙන යෑමට ඔවුන් නිරන්තරයෙන් උත්සාහ ගත්තේ ඒ නිසා ය.

## 6.2 නීතිය සහ සම්ප්‍රදාය

සමාජයක් යහපත් ලෙස පවත්වා ගෙන යෑමට සමාජය විසින් සම්මත කර ගනු ලබන පොදු පිළිගැනීම් ඉතා වැදගත් ය. නීති බවට පත්වන්නේ එසේ සම්මත කර ගන්නා පොදු පිළිගැනීම් ය. සමාජයක් මඟින් ස්ථිර කර ගන්නා එවැනි පොදු සම්මත ආකාර දෙකකින් පවතියි. ඒ අතරින් සමහර ඒවා ලිඛිත නීති පද්ධති ය. සෙසු සමාජ පිළිගැනීම් සම්ප්‍රදායානුකූලව පැවත ගෙන එයි.

සමාජයේ යහපත උදෙසා මිනිසුන්ගේ සමාජ විරෝධී හැසිරීම් නීති සහ සම්ප්‍රදාය මඟින් පාලනය කෙරේ. සමාජයේ යහපත් බව ආරක්ෂා කිරීමට ඉතා පුරාණ කාලයක සිට අපේ නැණවත් පාලකයෝ නීතිය සහ සම්ප්‍රදාය අනුව කටයුතු කළහ.

නීති සම්පාදනය කිරීමට එකී නීති ක්‍රියාත්මක කිරීම සහ ප්‍රායෝගික භාවිතයේ දී එම නීති නියාමනය කිරීමට අපේ රජවරු මනා අවබෝධයකින් ක්‍රියා කළෝ ය. ක්‍රිස්තු වර්ෂයෙන් නවවන සියවසේ දී මෙරට පාලනය කළේ මානවම්ම නම් රජ පෙළපතට අයත් කීර්තිමත් රාජ පරම්පරාවකි. ඒ රජුන් විසින් කොටවන ලද සෙල්ලිපිවල ඒ කාලයේ නීතිය හා සම්බන්ධ ව පැවති ආයතන ගැන සඳහන් ය. එම ලිපිවල 'වදාළ' සහ 'සභාව' යන වචන දෙක ගැන කියැවේ. නීතිමය කටයුත්තක දී වදාළෙයින් සහ සභායෙන් ආ නිලධාරීන් ඊට මැදිහත් වූ බව ඒවායේ කියා තිබේ. මෙහි 'වදාළ' යන පදයෙන් අදහස් කරන ලද්දේ ව්‍යවස්ථාදායකය යි. රටක නීති සම්පාදනය කරන්නේ ව්‍යවස්ථාදායකය යි. එනම් පාර්ලිමේන්තුව යි. පැරණි කාලයේ දී ඉන් අදහස් කරන ලද්දේ රාජ සභාව යි.

එම සෙල්ලිපිවල සභාව යනුවෙන් අදහස් කර තිබෙන්නේ අධිකරණය යි. රටක පැනවූ නීති ක්‍රියාත්මක කරන්නේ අධිකරණය යි. පැරණි කාලයේ දී අපේ රටේ ක්‍රමවත් අධිකරණ ක්‍රමයක් පැවති බව වෙනත් සෙල්ලිපිවලින් ද තහවුරු වී තිබේ.

ජනතාව අතර නීති නියාමනය කරනු ලබන්නේ ආරක්ෂක නිලධාරීන් විසිනි. ඔවුන් ක්‍රියාත්මක කරන්නේ විධායකයේ බලතල යි. නවවන සියවසේ සෙල්ලිපිවල 'මේකාප්පර්' යන පදයෙන් හඳුන්වා තිබෙන්නේ එවැනි නිලධාරීන් ය. එය දෙමළ භාෂාවේ 'මෙෙකාප්පර්' යන පදයෙන් සකස් වූවකි. එහි තේරුම ආරක්ෂක නිලධාරියා යන්න යි. එවැනි නිලධාරීන් හැඳින්වීමට දණ්ඩනායක යන පදය ද භාවිත විය. පළමු වන විජයබාහු රජතුමාට සතුරු කරදර පැවති සමයේ ආරක්ෂාව ලබා දෙන ලද්දේ සිත්නාරුබිම් බුද්ධනායක නම් වූ දණ්ඩනායකයෙකු බව විජයබාහු රජතුමා විසින් ලියවන ලද පනාකඩුව තඹ සන්නසේ සඳහන් කොට තිබේ.

අපේ රටේ ඉතිහාසයේ පැරණිතම යුගයට අයත් නීති කෙබඳු ස්වරූපයකින් පැවතියේ දැ යි විස්තරාත්මක වශයෙන් දැන ගැනීමට අවශ්‍ය කරන සාක්ෂි දුර්ලභ ය. එහෙත් අවම තරමින් ඒවායේ ස්වරූපය කෙබඳු වී දැ යි වටහා ගැනීමට පැරණි සෙල්ලිපිවලින් යම් මඟ පෙන්වීමක් ලැබේ. මේ අතුරින් ක්‍රිස්තු වර්ෂයෙන් පළමු වන සහ දෙවන සියවස්වල දී රචනා කරන ලද මෙරට සෙල්ලිපිවල සඳහන් වන නීති අදාළ වන්නේ වැව් පරිපාලනය සහ රජයේ ඉඩම් පරිහරණය කිරීමට සම්බන්ධ බදු අය කිරීමට යි. බදු වශයෙන් රජයට ගෙවිය යුතු වූයේ නිෂ්පාදනයෙන් හයෙන් එකකි.

බදු නීතිය යටතේ අය කළ ප්‍රධාන බදු වර්ග නම්,

- දකපති (සංස්කෘතඃ උදකප්‍රාප්ති) - වැව්වල ජලය භාවිත කරන්නන්ගෙන් අය කළ බද්ද
- බොජකපති (සංස්කෘතඃ භෝජකප්‍රාප්ති) - රජුට අයත් ඉඩම්වල වගා කිරීම වෙනුවෙන් ගෙවන ලද බද්ද
- මතරමජිබක (සංස්කෘතඃ මාත්‍රිකමත්ස්‍යභාග) ඇළ මාර්ගවල මත්ස්‍යයින් ඇල්ලීම වෙනුවෙන් රජය අය කළ බද්ද

සමහර අවස්ථාවල රජය භාණ්ඩ ලෙස බදු අය කර ගත්තේ ය. අස්වැන්න ලෙස ගන්නා ගෙඩි දහයකට එක් ගෙඩියක් බදු ලෙස රජයට ගෙවිය යුතු බව නවවන සියවසට අයත් සෙල්ලිපියක සඳහන් ය.

කෘෂිකාර්මික කටයුතුවලින් හැරුණු විට තවත් අංශ කිහිපයකට බදු නීතිය අදාළ ව තිබිණි. විදේශවලින් භාණ්ඩ ආනයනය කිරීමේ දී වරායවල දී එකල රේගුබදු අය කර ගැනිණි. හම්බන්තොට දිස්ත්‍රික්කයට අයත් අම්බලන්තොට ගොඩවායේ පිහිටි පැරණි බෞද්ධ විහාරයක ඇති ක්‍රිස්තු වර්ෂයෙන් පළමු වන සියවසට අයත් සෙල්ලිපියක එම විහාරය අසල එකල පිහිටා තිබුණු වරායකින් අය කළ රේගු බදු එම විහාරයට පූජා කළ බව සඳහන් කර තිබේ.

මේ ආකාරයට පනවා තිබූ බදු නීති උල්ලංඝනය කළවුන්ට පමණක් නොව සමාජ සාධාරණය රැක ගැනීමට පනවා තිබූ වෙනත් නීති වුව ද කඩ කළ අයට දඬුවම් කිරීමට එකල උසාවි පද්ධතියක් ක්‍රියාත්මක විය. එවැනි මහාධිකරණයක් පිළිබඳ සඳහනක් පළමු වන ගජබාහු රජු විසින් සිතුල්පව්වේ පිහිටුවා තිබෙන සෙල්ලිපියක දැක්වේ. ඒ ප්‍රදේශයේ පැවති මහා විනිශ්චය ශාලාවෙන් ලැබෙන දඩ මුදල් (මහවිනිචහි ලබනක වටිති) රජු විසින් සිතුල්පව්ව විහාරයේ වැඩ වාසය කරන භික්ෂූන් වහන්සේලාගේ සිව්පසය සපයා ගැනීමට පූජා කළ බව එම ලිපියේ විස්තර කොට ඇත.

පරිසරයේ තිබෙන ස්වාභාවික නොඉඳුල් ගුණය ආරක්ෂා කර ගැනීමට අපේ බුද්ධිමත් රජවරු නිරන්තරයෙන් ම ක්‍රියා කළහ. එහෙයින් ස්වාභාවික පරිසරයට අයත් සතුන්, ගහකොළ, ජලය සහ පස ආදී දෑ ආරක්ෂා කර ගැනීමට අවශ්‍ය කරන නීති රීති

වන සියවසේ දී පමණ රචනා වූ එකකි. ඊට අමතර ව කෛලාය මාලෛ සහ ශේගරාශශේකර මාලෛ වැනි දෙමළ ග්‍රන්ථ ද මෙහිදී වැදගත් වේ.

යාපන රාජධානියේ ආරම්භකයා විජය කුලංකෛ ආර්ය චක්‍රවර්තී ලෙස සැලකේ. ඔහුගේ පාලන කාලයේ සිට පෘතුගීසීන්ගේ පැමිණීම තෙක් යාපන ප්‍රදේශය පාලනය කළ කුලශේකර, වික්කිරම, වරෝදය, මාර්තණ්ඩ වැනි පාලකයන් දෙළොස් දෙනෙකු පිළිබඳ විස්තරයක් යාල්පාන වෛපව මාලෛ ග්‍රන්ථයෙහි දක්වා තිබේ. යාපනයේ පාලන කටයුතු ගෙන ගිය රජ පරපුර ආර්ය චක්‍රවර්තීවරුන් ලෙස හඳුන්වා ඇත. වර්ෂ 1344 දී ඉබන් බතූතා මෙරටට පැමිණෙන විට ආර්ය චක්‍රවර්තීවරුන් තරමක ශක්තිමත් පාලනයක් ගෙන ගිය බව පෙනේ. ගම්පොළ රාජ්‍ය සමයේ දී ගම්පොළට අයත් ප්‍රදේශවල බදු අය කළ ආර්ය චක්‍රවර්තීගේ නියෝජිතයන්ට එරෙහි ව නිශ්ශංක අලකේශ්වර ඇමැතිවරයා කටයුතු කළ ආකාරය මීට ඉහත දී සඳහන් කෙරිණ. කෝට්ටේ රාජ්‍ය සමයේ දී හය වන පරාක්‍රමබාහු රජු සපුමල් කුමාරයා යවා යාපන ප්‍රදේශය කෝට්ටේ රාජ්‍යයට යටත් කළේ ය. හය වන පරාක්‍රමබාහු රජුගෙන් පසුව යාපන ප්‍රදේශයේ පාලනය කෝට්ටේ රාජධානියෙන් ගිලිහිණ. එතැන් සිට පෘතුගීසීන්ට යටත් වන තෙක් යාපන රාජධානියේ තොරතුරු දහ වන පාඩමේ දී සාකච්ඡා කෙරේ.

### වන්නියාර්වරු

රජරට ශිෂ්ටාචාරය බිඳ වැටීමෙන් පසු නැගෙනහිර, උතුරු මැද හා වයඹ පළාත්වල ජන ඝනත්වය අඩු ප්‍රදේශ ආශ්‍රිත ව වන්නි වශයෙන් හැඳින්විය හැකි කුඩා පාලන ඒකක කිහිපයක් නිර්මාණය වූ බව පෙනේ. මේවායේ සිටි ප්‍රාදේශීය අධිපතියෝ වන්නිවරු ලෙස හැඳින්වෙති. පූජාවලිය නම් ග්‍රන්ථයේ කියා ඇති ආකාරයට දඹදෙණි රාජධානිය පිහිටුවූ තෙවන විජයබාහු රජු මුල දී වන්නි නායකයෙකු ලෙස කටයුතු කළ අයෙකි. කෝට්ටේ හය වන පරාක්‍රමබාහු රජුගේ කාලය ආරම්භ වන විට මෙබඳු වන්නි ප්‍රදේශ දහ අටක් පැවති බව සමකාලීන මූලාශ්‍ර වල සඳහන් වේ. මධ්‍යම රාජධානිය දුර්වල ව පැවති අවස්ථාවල වන්නියාර්වරු කිසි යම් ස්වාධීනතාවක් බුක්ති වින්ද ද දෙවන පරාක්‍රමබාහු, හය වන පරාක්‍රමබාහු වැනි රජවරුන්ගේ කාලවල වන්නි ප්‍රදේශ ප්‍රධාන රාජධානියට යටත් කෙරිණි. උඩරට රාජධානි සමයේ දී නැගෙනහිර ප්‍රදේශයේ වන්නිවරුන් සිටි බවට තොරතුරු තිබේ. එහෙත් ඔවුන් උඩරට රජුගේ බලයට යටත් වූ පිරිසකි.

### 7.4.1 ආර්ථික රටාව

රජරට ශිෂ්ටාචාරය බිඳ වැටීමෙන් පසු තෙත් කලාපීය ප්‍රදේශ කරා සංක්‍රමණය වූ ජනතාවට නව භූගෝලීය පරිසරයකට හැඩ ගැසීමට සිදු විය. දුර්ග ආශ්‍රිත ප්‍රදේශයන්හි රාජධානි බිහි වීමත්, අගනුවර වැඩි කලක් එක් ස්ථානයක නොපැවතීමත්, මෙහි විශේෂිත ලක්ෂණයකි. තෙත් කලාපයට වර්ෂාව හොඳින් ලැබුණු බැවින් මහ වැව් හා වාරි මාර්ග ඉදි කිරීමට වැඩි අවධානයක් යොමු නොකළ බවක් පෙනේ. කෘෂිකාර්මික කටයුතු සඳහා අහස් දිය යොදා ගැනීමට ඔවුහු පෙළඹුණහ. මෙකල ද ඔවුන්ගේ ප්‍රධාන ජීවනෝපාය කෘෂිකර්මාන්තය විය. ප්‍රධාන වගාව වී වගාව වූ අතර ජලය හිඟ ප්‍රදේශවල හේන් ගොවිතැන් කෙරිණි.

ක්‍රමක්‍රමයෙන් මොවුහු වාණිජ ආර්ථික රටාවකට නැඹුරු වූහ. ආහාර සඳහා වවන ලද භෝගවල අතිරික්තය වෙළෙඳාම සඳහා යොමු කෙරිණි. එයට හේතු වූයේ විදේශ රටවල් සමග පැවති වෙළෙඳ සබඳතා තව තවත් වර්ධනය වීම යි.

තෙත් කලාපයේ වනගත ව වැවුණු කුරුඳු මෙකල ප්‍රධාන වෙළෙඳ බෝගයක් විය. පුවක්, ගම්මිරිස්, එනසාල්, සාදික්කා වැනි බෝගවල අතිරික්තය අපනයනය සඳහා යොමු කෙරිණි. ඊට අමතර ව මුතු, මැණික්, ඇතුන් හා ඇත් දළ වැනි වෙළෙඳ භාණ්ඩ ද අපනයනය කරනු ලැබිණි.

ඉන්දියාව, අරාබිය, චීනය, පර්සියාව, ඊජිප්තුව වැනි රටවල් සමග ශ්‍රී ලංකාව වෙළෙඳ සබඳතා පවත්වා තිබේ. විදේශ වෙළෙඳාම රජුගේ ඒකාධිකාරය යටතේ පැවතුණි.

එකල ලංකාවේ පැවති සරුසාර වෙළෙඳම සම්බන්ධ ව සාහිත්‍ය හා පුරාවිද්‍යාත්මක මූලාශ්‍රය වල මෙන්ම දේශාටන වාර්තාවල ද සඳහන් වී තිබේ. චීනයෙන් ශ්‍රී ලංකාවට පිඟන් භාණ්ඩ ආනයනය කළ බවට දැදිගම ප්‍රදේශයෙන් ලැබුණු පුරා විද්‍යාත්මක සාක්ෂිවලින් හෙළිදරව් වේ. අභ්‍යන්තර වෙළෙඳාම සම්බන්ධ කඩ වීදි තිබූ බව කුරුණෑගල විස්තරය නම් පුස්කොළ පොතේ සඳහන් වේ. ලංකාවේ බටහිර

වෙරළබඩ නැව් තොටු ආශ්‍රිතව සරුසාර වෙළෙඳාමක් පැවති බව ක්‍රි.ව.1344 දී ශ්‍රී ලංකාවට පැමිණි ඉබන් බතුතා නම් මුස්ලිම් දේශ සංචාරකයාගේ වාර්තාවල සඳහන් වේ.

### 7.4.2 ආගම

දෙවන නාගරීකරණ සමයේ දී ද ප්‍රධාන ආගම වශයෙන් බුදු දහම තව දුරටත් වර්ධනය විය. දඹදෙණි යුගයේ සිට කෝට්ටේ යුගය දක්වා දළදා වහන්සේ වෙනුවෙන් දළදා මන්දිර තැනවීමට හා බොහෝ වෙහෙර විහාර ඉදි කිරීමට රජවරු කටයුතු කළහ. මෙකල ජනතාව දෙවියන් කෙරෙහි මහත් භක්තියකින් හා විශ්වාසයකින් කටයුතු කළ බවට සාධක තිබේ. උපුල්වන්, විභීෂණ, ස්කන්ධකුමාර, සමන් ආදි දෙවිවරුන් ඇදහීමත් එම දෙවියන් වෙනුවෙන් දේවාල මන්දිර ඉදි කිරීමත් පැවතුණි. සන්දේශ සාහිත්‍ය කෘතිවල ද උපුල්වන් විභීෂණ දෙවිවරුන් පිළිබඳ සඳහන් වී තිබේ.

පහළොස් වන සියවසේ පමණ ශිව දේවාලයක් ශ්‍රී ජයවර්ධනපුරයට යාබද ව තිබූ බවට තොරතුරු හෙළි වේ. හින්දු භක්තිකයන් උදෙසා එම දේවාලය ඉදි වන්නට ඇතැයි විශ්වාස කෙරේ.

හලාවත මුන්නේශ්වරම් කෝවිල, මෙකල හින්දු බැතිමතුන්ගේ පූජනීය ස්ථානයකි.

විදේශ වෙළෙඳ කටයුතුවල නියැලුණු මුස්ලිම් බැතිමතුන් පදිංචි ව සිටි මුහුදු තොටුපළවල් ආශ්‍රිත ව ඔවුන්ගේ පූජනීය ස්ථාන පැවතිණ.

### 7.4.3 කලාව හා ගෘහ නිර්මාණය

යාපහුවේ සිට කෝට්ටේ රාජ්‍ය සමය දක්වා කාලයේ බිහි වූ නගරවල ගෘහ නිර්මාණ කලාවන් රාශියක් අද ද දැකගත හැකි වේ. මෙම ගෘහ නිර්මාණ සඳහා දකුණු ඉන්දියානු ගෘහ නිර්මාණ ශිල්පීය ආභාසය ලැබී තිබීම සුවිශේෂ ලක්ෂණයකි.

යාපහුව රාජධානියේ දක්නට ලැබෙන පියගැටපෙළ හා එහි කුලුනු නිර්මාණය සඳහා පාණ්ඩ්‍ය හා කාම්බෝජ ආභාසය ලබා ඇති බව විශ්වාස කෙරේ.

ගම්පොළ යුගයට අයත් ගඩලාදෙණි විහාරයේ ඇති පිළිම ගෙය සමකාලීන දකුණු ඉන්දියානු ගෘහ නිර්මාණ ශෛලියේ ආභාසය ලබා තිබීම පැහැදිලි ව දක්නට ලැබේ.

පිළිම ගෙයට සම්බන්ධ කොට දේවාල ඉදි කිරීම ද මෙම යුගවල දී දක්නට ලැබෙන තවත් ලක්ෂණයකි.

ගඩලාදෙණි පිළිම ගෙයට සම්බන්ධ කොට උපුල්වන් දෙවියන් උදෙසා දේවාලයක් තනා තිබීම මෙයට එක් උදහරණයකි. ලංකාතිලක පිළිම ගෙයට සම්බන්ධ කොට ද මෙලෙස දේවාල ඉදි කොට තිබේ. පිළිම ගෙවල් තුළ මෙලෙස දේවාල දක්නට ලැබීම හින්දු හා මහායාන අදහස් ගෘහ නිර්මාණ ශිල්පය කෙරේ බලපෑ බවට සාධකයකි.

ගම්පොළ යුගයේ තුන් වන වික්‍රමබාහු රජු විසින් කරවන ලද ඇම්බැක්කේ දේවාලය අගනා ලී කැටයම් සහිත ගොඩනැගිල්ලකි. එහි ඇති අගනා ලී කැටයම් සහිත කණු හා දැවමය වහලය එහි අපූර්වත්වය විදහාපායි.

දෙවන නාගරීකරණ සමයේ භාෂාව හා සාහිත්‍යයේ විශාල ප්‍රබෝධයක් ඇති වූ බවට බොහෝ සාධක තිබේ. ගිහි පැවිදි උගත් පඬිවරුන් බිහි වීම සාහිත්‍ය දියුණුව සඳහා රජවරුන්ගේ නොම ද අනුග්‍රහය ලැබීම, අධ්‍යාපන මධ්‍යස්ථාන රැසක් බිහිවීම සාහිත්‍ය උන්නතිය කෙරෙහි බලපෑවේ ය.

දඹදෙණියේ දෙවන පරාක්‍රමබාහු රාජ්‍ය සමයේ බොහෝ සාහිත්‍ය පත පොත ලියැවුණි. කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත යන උපාධි නාමයෙන් පිදුම් ලද එතුමා විසින් ද සාහිත්‍ය කෘති කිහිපයක් ලියා තිබේ. සිංහලයේ මහා කාව්‍යයක් වන කව්සිළුමිණ දෙවන පරාක්‍රමබාහු රජු විසින් රචිත බවට පිළිගැනේ. ධර්මසේන හිමියන් ලියූ සද්ධර්මරත්නාවලිය, මයූරපාද පරිවේණාධිපති බුද්ධපුත්‍ර හිමි ලියූ පූජාවලිය දඹදෙණි යුගයේ රචිත වැදගත් ගද්‍ය ග්‍රන්ථ දෙකකි. සිංහල ව්‍යාකරණ පිළිබඳ ලියැවුණු සිදත් සඟරාව, කාව්‍යකරණය පිළිබඳ නීති ඇතුළත් එළු සඳැස් ලකුණ මෙම යුගයට අයත් වේ. භික්ෂූන් වහන්සේලාගේ පැවැත්ම පිළිබඳ විනය නීති රීති ඇතුළත් දඹදෙණි කතිකාවත, දෙවන පරාක්‍රමබාහු රජුගේ දින චර්යාව ඇතුළත් කඳවුරු සිරිත, මෙන් ම බුද්ධ පුත්‍ර හිමියන් රචනා කළ

යෝගාර්ණවය නම් වටිනා වෙද පොත ද දඹදෙණි සමයේ ලියැවුණි. මෙකල පාලි භාෂාවෙන් ලියැවුණු වැදගත් කෘති කිහිපයක් ද වේ. සමන්තකූට වර්ණනා, රසවාහිනී, සාරසංග්‍රහය, භේසජ්ජ මංජුසා නම් වෙද පොත, හත්ථවනගල්ල විහාර වංසය හා ථූප වංසය උදහරණ වේ.

කුරුණෑගල සමයේ සිංහල ගද්‍ය සාහිත්‍යය තව දුරටත් පෝෂණය විය. පන්සිය පනස් ජාතක පොත සිංහලට පරිවර්තනය කිරීම, දළදා සිරිත, දළදා පූජාවලිය, සිංහල බෝධි වංසය මේ යුගයේ රචිත මහඟු කෘතීන් ය.

ගම්පොළ යුගයේ දී සන්දේශ කාව්‍ය ලිවීම ආරම්භ විය. මයූර සන්දේශය හා තිසර සන්දේශය පැරණිම සන්දේශ සාහිත්‍ය කෘති දෙක ලෙස සැලකේ. පාරමී ශතකය, ජිනබෝධාවලී, බාලාවතාර වැනි පාලි සාහිත්‍ය කෘතීන් ද සද්ධර්මාලංකාරය ද මේ යුගයේ ලියැවුණු සාහිත්‍ය කෘති කිහිපයකි.

සිංහල සාහිත්‍යයේ ස්වර්ණමය යුගය ලෙස කෝට්ටේ යුගය හැඳින්විය හැකි ය. හයවන පැරකුම්බා රාජ්‍ය සමය සාහිත්‍යයට අගනා මෙහෙවරක් ඉටු වූ කාල පරිච්ඡේදයකි. හය වන පරාක්‍රමබාහු රජු ශ්‍රේෂ්ඨ නරපතියෙකු සේ ම උගත් පඬිරුවනකි. මෙකල සාහිත්‍යයේ දියුණුවට කටයුතු කළ උගත් පඬිවරු රාශියකි.

තොටගමුවේ ශ්‍රී රාහුල හිමි, කැරගල වනරතන හිමි, ඉරුගල් කුලතිලක පිරිවෙන් හිමි වැනි උගත් හිමිවරු මෙකල සාහිත්‍යයේ දියුණුවට මහත් සේවයක් ඉටු කළහ.

පැරකුම්බා සිරිත, කාව්‍යශේඛරය, බුදුගුණාලංකාරය, ලෝවැඩ සඟරාව, ගුත්තිල කාව්‍ය, හංස, පරෙවි, ගිරා, සැළලිහිණි, ආදි සන්දේශ කාව්‍යය ද මේ උගතුන් අතින් බිහි වූ කෘතීන් ය.

භක්ති කාව්‍ය, ශිලෝ කාව්‍ය, හටන් කාව්‍ය, ප්‍රශස්ති කාව්‍ය, උපදේශ කාව්‍ය, කෝෂ ග්‍රන්ථ ආදි වශයෙන් සාහිත්‍යකරණය විවිධ පැතිවලට යොමු වීම මෙකල සුවිශේෂී ලක්ෂණයකි. සංස්කෘත ග්‍රන්ථ ද රචනා වූ අතර භක්ති ශතකය ඊට උදහරණයකි.

බෞද්ධ අධ්‍යාපනික මධ්‍යස්ථාන රාශියක් ද මේ යුගයේ දී බිහිවුණි. හය වන පරාක්‍රමබාහු රජු තම මෑණියන් සිහිවීම පිණිස පැපිලියානේ සුනේත්‍රාදේවී පිරිවෙන ඉදි කළේ ය. කැරගල පද්මාවතී පිරිවෙන, දෙවිනුවර ඉරුගල්කුලතිලක පිරිවෙන, වීදගම සනානන්ද පිරිවෙන ආදි බෞද්ධ මධ්‍යස්ථාන සාහිත්‍යයේ දියුණුවට මහත් සේවාවක් කළ විද්‍යාස්ථාන වේ.

### ක්‍රියාකාරකම

1. ශ්‍රී ලංකාවේ පැරණි නගර බිහි වීමට හා බිඳ වැටීමට බල පෑ හේතු සඳහන් කරන්න.

2. පහත සඳහන් ස්ථාන ශ්‍රී ලංකාවේ සිතියමක ලකුණු කරන්න.

| | | |
|---|---|---|
| අනුරාධපුර | ගම්පොළ | යාපහුව |
| පොළොන්නරුව | කෝට්ටේ | |
| දඹදෙණිය | කුරුණෑගල | |

### වැදගත් කරුණු

1. පුරාණ කාලයේ ශ්‍රී ලංකාවේ රාජධානි වෙනස් වීමට බල පෑ එක් ප්‍රධාන සාධකයක් වූයේ නාගරික මධ්‍යස්ථාන වෙනස් වීම යි. එය එසේ වීමට රට අභ්‍යන්තරයේ පැන නැගුණු තත්ත්ව මෙන් ම අන්තර්ජාතික වෙළෙඳාමේ සිදු වූ වෙනස්කම් ද බලපෑමක් ඇති කළේ ය.

2. පැරණි යුගයේ මෙරට නගර බිහි වීමේ ක්‍රියාවලිය පළමු වන නාගරීකරණය සහ දෙවන නාගරීකරණය යනුවෙන් ක්‍රියාවලි දෙකක් ඔස්සේ විග්‍රහ කළ හැකි ය. මෙම ක්‍රියාවලි දෙක මගින් පැන නැගුණු නගරවලට අයත් නාගරික සැලසුම්වල පැහැදිලි වෙනස්කම් දක්නට තිබේ.

3. නාගරීකරණ ක්‍රියාවලිය සහ නගර කේන්ද්‍ර කොට ගෙන සිදු වූ ක්‍රියාමාලා අවබෝධ කර ගත යුත්තේ එම ක්‍රියාවලි හට ගත් සමාජ- දේශපාලනික පසුබිම තුළ ය.

4. පොළොන්නරු රාජධානිය බිඳ වැටීමෙන් පසු දඹදෙණිය, යාපහුව, කුරුණෑගල, ගම්පොළ හා කෝට්ටේ වශයෙන් රාජධානි කිහිපයක් බිහි විය. යාපනය කේන්ද්‍ර කරගෙන යාපන රාජධානිය බිහි වී තිබුණි.

5. කෝට්ටේ රාජ සමයේ දී අධ්‍යාපනික හා සාහිත්‍ය අංශයේ විශාල ප්‍රබෝධයක් තිබුණි.

# 8 මහනුවර රාජධානිය

### හැඳින්වීම

කෝට්ටේ හා සීතාවක රාජධානියේ බිඳ වැටීමෙන් පසු රටේ ස්වාධීනත්වය රැකීම මහනුවර රාජධානියේ වගකීමක් බවට පත් විය. මෙරට පැවති වෙනත් කිසි ම රාජධානියක් මුහුණ නොදුන් අභියෝග රැසකට මුහුණ දෙමින් එම රාජධානියේ රජවරු හා මහජනතාව තමන් වෙත පැවරුණු වගකීම වර්ෂ 1815 වන තෙක් නොපිරිහෙලා ඉටු කළහ. ලංකාවේ අවසන් රාජධානිය වූ මහනුවර රාජධානියේ ආරම්භය, ව්‍යාප්තිය, පරිපාලන සංවිධානය සහ සමාජ ආර්ථික රටාව පිළිබඳ තොරතුරු මෙමඒකකය තුළින් ඔබට අධ්‍යයනය කිරීමට සැලසේ.

## 8.1 ආරම්භය හා ව්‍යාප්තිය

සෙංකඩගල නුවර, උඩරට රාජධානිය, කන්දෙ නුවර ආදී විවිධ නම්වලින් මහනුවර රාජධානිය හඳුන්වා තිබේ.

කන්ද උඩරට රාජධානියේ අගනුවර වූයේ මහනුවර යි. එය ස්වාභාවික ව ආරක්ෂිත වූ ස්ථානයකි. මහනුවර නගරයට මහවැලි ගඟෙන් ආරක්ෂාවක් ලැබේ. බලන, හුන්නස්ගිරිය, වැනි දුර්ග මාර්ග නිසා පහසුවෙන් මෙම ප්‍රදේශයට ඇතුළු වීම දුෂ්කර වේ. එසේ ම මහනුවර රාජධානිය සෞම්‍ය දේශගුණයකින් හා සරුසාර භූමි භාගයකින් සමන්විත ය.

හය වන පරාක්‍රමබාහු රාජ්‍ය සමයේ කෝට්ටේ රාජ්‍යයට යටත් ප්‍රදේශීය පාලන ඒකකයක් වශයෙන් පැවති උඩරට ප්‍රදේශ ආශ්‍රිතව මුල් වරට ස්වාධීන රාජධානියක් ගොඩනගන ලද්දේ සේනා සම්මත වික්‍රමබාහු රජතුමා විසිනි. මේ නිසා උඩරට රාජධානියේ ආරම්භකයා සේනා සම්මත වික්‍රමබාහු රජු ලෙස සැලකේ.

සේනා සම්මත වික්‍රමබාහු රජුගේ අනුප්‍රාප්තිකයා වූයේ ඔහුගේ පුත් ජයවීර බණ්ඩාර ය. (1511-1551) මෙතුමා දිගු කලක් උඩරට පාලනය කළේ ය. මොහු සීතාවක පාලක මායාදුන්නේ රජුගේ මිතුරෙකු විය. කෝට්ටේ පාලක VI වන විජයබාහු රජුට විරුද්ධ ව විජයබා කොල්ලය ඇති වූ සමයේ දී ජයවීර බණ්ඩාර රජු මායාදුන්නේට ආධාර සපයා තිබේ.

ජයවීර බණ්ඩාර රජුගේ ඇවෑමෙන් ඔහුගේ පුත් කරලියැද්දේ බණ්ඩාර උඩරට රජ බවට පත් විය. මෙතුමා පෘතුගීසීන් හා හිතවත් ප්‍රතිපත්තියක් ගෙන ගියේ ය. කරලියැද්දේ බණ්ඩාරගේ මෙම ප්‍රතිපත්තිය කෙරෙහි උඩරට රදළ ප්‍රධානීහු අමනාප වූහ. එනිසා ඔවුහු සීතාවක පාලක රාජසිංහ රජුට සහාය දුන්හ. එකල උඩරට ප්‍රභූවරයෙකු වූ පේරාදෙණියේ වීරසුන්දර බණ්ඩාර පළමු වන රාජසිංහ රජුට උඩරට ආක්‍රමණය කිරීමට උපකාර කළේ ය. මෙම ආක්‍රමණයට මුහුණ දී ගත නොහැකි වූ කරලියැද්දේ බණ්ඩාර තම දියණිය වූ කුසුමාසන දේවිය හා බෑනා වූ යමසිංහ බණ්ඩාර සමග පෘතුගීසීන් වෙත පලා ගියේ ය. කුසුමාසන දේවිය දෝන කතිරිනා නමින් ද යමසිංහ බණ්ඩාර දෙන් පිලිප් නමින්ද පෘතුගීසීන් වෙතින් බෞතීස්මය ලදහ.

ක්‍රි.ව. 1580 දී පමණ උඩරට යටත් කොටගත් පළමු වන රාජසිංහ රජු සීතාවක සිට උඩරට ප්‍රදේශ පාලනය කළේ ය. එහෙත් වීරසුන්දර බණ්ඩාරගේ ක්‍රියා කලාපය කෙරෙහි සැක සිතූ පළමු වන රාජසිංහ රජු උපායශීලී ව ඔහු මරණයට පත් කළේ ය. මෙම සිදුවීමෙන් පසු වීරසුන්දර බණ්ඩාරගේ පුතා වූ කොනප්පු බණ්ඩාර ද පෘතුගීසීන් වෙත පලාගොස් අවුස්ත්‍රියාවේ දෙන් ජුවාන් නමින් බෞතීස්ම ලැබී ය.

සීතාවක රාජසිංහ රජු උඩරට කෙරේ අනුගමනය කළ ඇතැම් ප්‍රතිපත්ති ගැන උඩරට ප්‍රභූ පිරිස තුළ කල කිරීමක් තිබුණි. මේ නිසා අවස්ථාවෙන් ප්‍රයෝජන ගත් පෘතුගීසීහු තමන් භාරයේ සිටි යමසිංහ බණ්ඩාර උඩරටට යවා උඩරට ඇතැම් ප්‍රභූවරුන්ගේ ද සහායෙන් එහි පෘතුගීසි ගැති පාලනයක් පිහිට වූහ. පෘතුගීසීන් යමසිංහ බණ්ඩාර උඩරටට යැවූ අවස්ථාවේ ඔහුගේ ආරක්ෂාවට යැවූ හමුදාවත් සමග වීරසුන්දර බණ්ඩාගේ පුත් කොනප්පු බණ්ඩාර ද උඩරටට පිටත් කළහ. පෘතුගීසීන්ගේ රූකඩ පාලකයා වූ යමසිංහ බණ්ඩාර කෙටි කාලයකින් මිය ගිය හෙයින් ඔහුගේ ළාබාල පුත් කුමරා සිංහාසනයට පත් කොට පාලනය ගෙන යාමට පෘතුගීසීන් උත්සාහ කළ නමුත් කොනප්පු බණ්ඩාර නිසා එය අසාර්ථක විය.




සැලසුම අංක 8.1 පැරණි මහනුවර නගරයේ සැලැස්ම දැක්වෙන සිතියමක්. T- දළදා මාලිගය A- මඟුල් මඩුව N- නාථ දේවාලය P- පත්තිනි දේවාලය V- විෂ්ණු දේවාලය K- කතරගම දේවාලය AV- අස්ගිරි විහාරය AW- අධිකාරම් වලව්ව MV- මල්වත්ත විහාරය S- ස්තූපය B- බෝධීන්වහන්සේ KV- කුමාරුප්පේ වීදිය BR- රජුගේ හමුදා සේනාංක නිවස්න KP- රජ මාලිගය

උඩරැටියන්ගේ සහාය ලබා ගත් කොනප්පු බණ්ඩාර පෘතුගීසීන්ට එරෙහි ව උඩරට බලය අල්ලාගෙන පළමු වන විමලධර්මසූරිය නමින් රජකමට පත් විය. කොනප්පු බණ්ඩාරගේ මෙම නිර්භීත ක්‍රියාකාලාපය නිසා උඩරට රාජධානිය තුළ පෘතුගීසි පාලනයක් ඇති වීම වැළකුණි.

### පළමු වන විමලධර්මසූරිය රජු (1592-1604)

යමසිංහ බණ්ඩාරගෙන් පසු උඩරට රජ බවට පත් පළමු වන විමලධර්මසූරිය රජු වීරසුන්දර බණ්ඩාරගේ පුතා විය. මෙතුමා උඩරට නව රාජවංශයක ආරම්භකයා වේ. පළමු වන විමලධර්මසූරිය රජු බලයට පත් වීමත් සමග මුහුණ දුන් අභියෝග කිහිපයක් විය.

1. නීත්‍යානුකූල රාජ්‍ය උරුමයක් නොවීම
2. උඩරට රාජධානිය පෘතුගීසි ග්‍රහණයෙන් බේරා ගත යුතු වීම
3. උඩරට රාජ්‍යය සීතාවක බලපෑමෙන් මුදගත යුතු වීම
4. පරිහානියට පත් බුදු සසුන නගා සිටුවිය යුතු වීම.
5. මහනුවර රාජධානියේ ආර්ථික කටයුතු දියුණු කළ යුතු වීම

- **විමලධර්මසූරිය රජු උඩරට සිය නීත්‍යානුකූල අයිතිය තහවුරු කර ගැනීට පියවර කීපයක් අනුගමනය කළේ ය.**

1. උඩරට රාජධානියේ නීත්‍යානුකූල උරුමය හිමි වූ කුසුමාසන දේවිය විවාහ කොට ගෙන රාජ්‍යත්වය

තහවුරු කර ගැනීම
2. රෝමානු කතෝලික ආගම අතහැර බුදු දහම වැලඳ ගැනීම
3. විමලධර්මසූරිය නමින් බෞද්ධ නමක් ලබා ගැනීම
4. දෙල්ගමු විහාරයේ සඟවා තිබූ දන්ත ධාතුව මහනුවරට වැඩම කරවීම

- **සීතාවක රාජධානියේ බලපෑමෙන් උඩරට නිදහස් කර ගැනීම පිණිස උඩරැටියන්ගේ සහයෝගයෙන් පළමු වන රාජසිංහ රජු පරාජයට පත් කෙරිණ.**
- **මෙතුමා උඩරට රාජ්‍යය පෘතුගීසි ග්‍රහණයෙන් බේරා ගැනීමට අනුගමනය කළ පියවර කිහිපයකි.**

1. ක්‍රි.ව.1594 දන්තුරේ සටනේ දී පෘතුගීසීන් අන්ත පරාජයට පත් කිරීම
2. පෘතුගීසීන්ට එරෙහි ව පහතරට ඇති වන කැරලිවලට සහය දීම
3. පෘතුගීසින් පලවා හැරීමට ලන්දේසි සහය ලබා ගැනීමට උත්සාහ කිරීම

- **පරිහානියට පත් බුදුදහම නගා සිටු වීමට විමලධර්මසූරිය රජු අනුගමනය කළ පියවර කිහිපයකි.**

1. බුරුම දේශයෙන් උපසම්පදාව ගෙන ඒම

2. ලංකාතිලකය, රිදී විහාරය, ගඩලාදෙණිය, වැනි පැරණි වෙහෙර විහාර අලුත්වැඩියා කිරීම

- **මෙතුමා මහනුවර රාජධානියේ ආර්ථික දියුණුව පිණිස අනුගමනය කළ පියවර කිහිපයකි.**

1. ගොවිතැන දියුණු කිරීමට කටයුතු කිරීම

2. කපු වගාව දියුණු කිරීමට අනුබල දීම

3. කොත්මලේ හා වලපනේ ප්‍රදේශයේ යකඩ හා වානේ කර්මාන්තය දියුණු කිරීම

4. උඩරට රාජ්‍යය ආශ්‍රිත වෙඩි ලුණු කර්මාන්තයේ දියුණුවට පියවර ගැනීම

මෙසේ විවිධ මාර්ගයන්ගෙන් උඩරට රාජධානිය ආරක්ෂා කර ගැනීමට කටයුතු කළ පළමු වන



*ඡායාරූපය අංක 8.1 දෙවන රාජසිංහ රජතුමාගේ ස්වරූපය දැක්වෙන සිතුවමකි. මෙය මහනුවර යුගයේ දී මෙහි වාසය කළ රොබර්ට් නොක්ස් නමැති බ්‍රිතාන්‍ය ජාතිකයා විසින් අඳින ලද්දකි.*

විමලධර්මසූරිය රජු හදිසියේ වැලඳුණු දරුණු උණ රෝගයකින් ක්‍රිස්තු වර්ෂ 1604 දී මරණයට පත් විය.

## සෙනරත් රජතුමා (ක්‍රි.ව. 1604-1635)

පළමු වන විමලධර්මසූරිය රජු මිය යන විට ඔහුගේ පුත් කුමාරවරු ළාබාල වියේ පසුවූහ. එනිසා විමලධර්මසූරිය රජුගේ ඥාති සහෝදර සෙනරත් කුමරු 1604 දී උඩරට රජකමට පත් විය. මෙතුමාට මුහුණ දීමට සිදු වූ අභියෝග කිහිපයක් විය.

1. උඩරට රාජ්‍ය උරුමය තහවුරු කර ගැනීම

2. පෘතුගීසීන්ගෙන් උඩරට රාජ්‍යයට එල්ල වූ තර්ජන අවම කර ගැනීම

සෙනරත් රජු බලයට පත් මුල් අවධියේ දී කුසුමාසන දේවිය (දෝන කතිරිනා) විවාහ කොට ගෙන රාජ්‍යත්වය තහවුරු කර ගත්තේ ය.

කුසුමාසන දේවිය පළමු වන විමලධර්මසූරිය රජුගෙන් පුතුන් දෙදෙනෙකු ද සෙනරත් රජුගෙන් එක් පුතෙකු ද ලැබුවා ය. මොවුන් අතුරින් වඩා දක්ෂ වූයේ බාල පුත් මහා අස්ථාන කුමරුය (දෙවන රාජසිංහ කුමරු) රජකම උදෙසා කුමාරවරුන් අතර ඇති වන තරගය වැළැක්වීමට සෙනරත් රජු උඩරට රාජ්‍යය කොටස් තුනකට බෙද එම ප්‍රදේශ කුමාරවරුන්ට පවරා දී ඇත. ඒ අනුව ඌව ප්‍රදේශය කුමාරසිංහ කුමරුට ද, මාතලේ ප්‍රදේශය විජේපාල කුමරුට ද, මහනුවර ප්‍රදේශය රාජසිංහ කුමරුට ද පැවරිණි.

මහා අස්ථාන කුමරු හෙවත් දෙවන රාජසිංහ කුමරු ළාබාල වියේ සිට ම උඩරට රාජ්‍යය පෘතුගීසි තර්ජනවලින් බේරා ගැනීමට පියාට සහය විය. රණශූරත්වයෙන් පෙරමුණේ සිටි හෙතෙම ක්‍රිස්තු වර්ෂ 1630 ඌව රන්දෙණිවෙල සටනේ දී පෘතුගීසීන් සමූල ඝාතනය කළේ ය. එසේ ම උඩරට දේශසීමාවේ වූ පෘතුගීසීන්ට යටත් ගම්වලට ප්‍රහාර එල්ල කර ඔවුන් අඩපණ කිරීමට ද ක්‍රියා කළේ ය.

## දෙවන රාජසිංහ රජු ( ක්‍රි.ව.1635 - 1687)

ක්‍රි.ව 1635 දී සෙනරත් රජු මිය යාමත් සමග රාජසිංහ කුමරු දෙවන රාජසිංහ නමින් උඩරට රජ බවට පත් විය. මෙතුමා සිය පාලන සමයේ දී මුහුණ දුන් අභියෝග කිහිපයකි.

1. පෘතුගීසීන්ගෙන් උඩරටට එල්ල වන ප්‍රහාර මැඩ පැවැත්වීම

2. පෘතුගීසීන් මෙරටින් පලවා හැරීම

3. උඩරට රදල ප්‍රධානීන්ගෙන් එල්ල වූ තර්ජන අවම කර ගැනීම

4. ලන්දේසි බලපෑමෙන් උඩරට නිදහස් කර ගැනීම

පෘතුගීසීන්ගෙන් උඩරටට එල්ල වන ප්‍රහාර මැඩ පැවැත්වීම සඳහා මෙතුමා සිය පියාගේ රාජ්‍ය සමයේ සිට ම කටයුතු කළේ ය. ඌව රන්දෙණිවල සටනේ මෙන් ම වර්ෂ 1638 ගන්නෝරුව සටනේ දී ද හෙතෙම පෘතුගීසීන් අන්ත පරාජයට පත් කළේ ය.

පෘතුගීසීන් මෙරටින් පලවා හැරීමට නාවුක බලය සහිත කණ්ඩායමක සහය රජුට අවශ්‍ය විය. ඒ සඳහා ලන්දේසි සහය ලබා ගැනීමට දෙවන රාජසිංහ රජු කටයුතු කළේ ය. ක්‍රිස්තු වර්ෂ 1638 දී ලන්දේසි සහය ලබා ගෙන වර්ෂ 1658 වන විට පෘතුගීසීන් මෙරටින් නෙරපා හැරීමට දෙවන රාජසිංහ රජු සමත් විය. පෘතුගීසීන් මෙරටින් පලවා හැරිය ද රජු බලාපොරොත්තු නොවූ අයුරින් ලන්දේසීහු පෘතුගීසි බල ප්‍රදේශයන් හි සිය බලය පිහිටු වූහ. මුහුදුබඩ ප්‍රදේශ රැසක බලය පිහිටුවා ගත් ලන්දේසීහු වර්ෂ 1658 සිට තම බල ප්‍රදේශය ව්‍යාප්ත කර ගැනීමට නිරන්තර ව උත්සාහ කළහ. වර්ෂ 1665-1668 කාලයේ දී ලන්දේසීන් විසින් උඩරට ප්‍රදේශ කිහිපයක් අල්ලා ගන්නා ලදි. එම කාලයේ දී නිහඬ ව සිටි දෙවන රාජසිංහ රජු 1670 - 1675 කාලයේ දී ලන්දේසීන්ට එරෙහි ව ප්‍රබල ප්‍රහාර කිහිපයක් දියත් කොට ඔවුන් සතු වූ ප්‍රදේශ රැසක් ම අත්පත් කර ගත්තේ ය. මේ නිසා උඩරට රාජධානියේ ශක්තිය තේරුම් ගත් ලන්දේසීහු එතැන් සිට උඩරට රජවරුන් සමඟ සාමකාමී ව සිටීමට වගබලා ගත්හ.

ලන්දේසීන් මෙරට වෙරළබඩ ප්‍රදේශයේ බලය පිහිටුවා ගැනීම දෙවන රාජසිංහ රජුගේ මුළු රටෙහි ම රජ බවට පත් වීමේ අරමුණට බාධාවක් විය. එහෙත් පෘතුගීසීන් මෙරටින් පලවා හැරීමේ දී ඔවුන් සතු වූ ප්‍රදේශයන්ගෙන් වැඩි කොටසක් උඩරට රාජ්‍යය සතු කර ගැනීමට මෙතුමා සමත් විය. කල්පිටිය, හලාවත, ත්‍රිකුණාමලය හා මඩකළපුව වැනි වරායන් මෙකල උඩරටට අයත් විය.

මෙසේ උඩරට රාජධානියේ බල ව්‍යාප්තියට විශාල සේවයක් සිදු කළ දෙවන රාජසිංහ රජු වසර 50 කට වැඩි කාලයක් රජකම දරා වර්ෂ 1687 දී මරණයට පත් විය.

## දෙවන විමලධර්මසූරිය රජු (ක්‍රි.ව.1687- 1707)

දෙවන රාජසිංහ රජුගේ ඇවෑමෙන් ඔහු පුත් දෙවන විමලධර්මසූරිය රජ බවට පත් විය. මෙතුමා පියා මෙන් දක්ෂයෙක් නොවී ය. එනිසා මෙම රජුගේ කාලයේ දී උඩරට රදල ප්‍රධානීන් සිය බලය වර්ධනය කරගනු දක්නට ලැබේ.

මෙතුමා රජ බවට පත් වීමෙන් පසු ලන්දේසීන් සමඟ සාමකාමීව කටයුතු කිරීමට ක්‍රියා කළේය. දක්ෂ පාලකයෙකු නොවුව ද සිය පියාගේ



*ඡායාරූපය අංක 8.2 දහනවවන සියවසේ දී මහනුවර දළඳ පෙරහැර සහ මහනුවර නගරයේ වීදිවල ස්වරූපය පෙන්වන දුර්ලභ ගනයේ ඡායාරූපයක්*

සමයේ මහනුවර රාජධානියේ බලය ව්‍යාප්ත ව තිබූ ප්‍රදේශය රැක ගැනීමට මෙතුමා සමත් විය.

දෙවන විමලධර්මසූරිය රජුගේ කාලය වන විට උඩරට රාජධානියේ උපසම්පදාව නැවතත් පරිහානියට පත් ව තිබුණි. එනිසා නැවත බුරුම දේශයෙන් මෙරටට උපසම්පදාව ගෙන ඒමට මෙතුමා පියවර ගෙන ඇත. ඒ සඳහා ඔහුට ලන්දේසීන් උපකාර කළ බවට තොරතුරු තිබේ. මෙතුමා දළදා මාලිගාව ප්‍රතිසංස්කරණය කළ බවද දැක්වේ. ක්‍රිස්තු වර්ෂ 1707 දී දෙවන විමලධර්මසූරිය රජු මරණයට පත් විය.

### ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු (ක්‍රි.ව.1707-1739)

දෙවන විමලධර්මසූරිය රජුගේ පුත් ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ 1707 දී උඩරට රජ බවට පත් විය. මෙතුමාට පරිපාලන කටයුතු පිළිබඳ ව මනා අවබෝධයක් නොවීම දුර්වලතාවක් විය. මෙහි ප්‍රතිඵලය වූයේ උඩරට ප්‍රභූ පිරිස් තව දුරටත් සිය බලය වර්ධනය කර ගැනීම යි.

මෙතුමා ද සිය පියා මෙන් දකුණු ඉන්දියානු කුමාරිකාවක් සරණ පාවා ගත්තේ ය. මෙම විවාහයෙන් රජුට දරුවන් නොවීය. එහි ප්‍රතිඵලය වූයේ දකුණු ඉන්දියානු සම්ප්‍රදායට අනුව යමින් බිසවගේ සහෝදරයාට රජකම උරුම වීම යි.

## නායක්කර් රාජ වංශය

### ශ්‍රී විජය රාජසිංහ රජු (ක්‍රි.ව 1739 - 1747)

ශ්‍රී වීරපරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු උරුමකරුවෙකු නොතබා ම වර්ෂ 1739 දී මිය ගියේ ය. එහි දී දකුණු ඉන්දියානු සම්ප්‍රදායට අනුව බිසවගේ සහෝදරයා වූ ශ්‍රී විජය රාජසිංහ කුමරු මහනුවර රාජධානියේ රජකමට පත් විය. මෙතුමාගෙන් ඇරඹි නව රාජ වංශය නායක්කර් වංශය යනුවෙන්

හඳුන්වනු ලැබේ. ශ්‍රී විජය රාජසිංහ රජු මුහුණ දුන් ප්‍රධාන අභියෝගය වූයේ උඩරට රාජ සභාවේ රදල ප්‍රධානීන්ගේ බලය වර්ධනය වී තිබීම ය. මෙම තත්ත්වය සමනය කර ගැනීම සඳහා ඔහු නායක්කර් පරම්පරාවේ ඥාතීන්ට උඩරට රාජ සභාවේ තනතුරු ලබා දුන්නේ ය.

බුදු දහම වැළඳ ගෙන දිගු කලක් භික්ෂූන් ඇසුරේ හැදී වැඩුණු මෙතුමා වැලිවිට සරණංකර හිමියන්ගේ උපදෙස් පරිදි බුරුමයෙන් උපසම්පදාව මෙරටට ගෙන ඒමට කටයුතු කළත් එම ව්‍යායාමය සාර්ථක නොවී ය.

ශ්‍රී විජය රාජසිංහ රජු දකුණු ඉන්දියානු කුමාරියක් සරණ පාවා ගත් නමුත් දරුවන් නොසිටි බැවින් රාජ්‍ය උරුමකරුවකු නොතබා ම වර්ෂ 1747 දී මිය ගියේය.

**කීර්ති ශ්‍රී රාජසිංහ රජු (ක්‍රි.ව. 1747-1781)**

ශ්‍රී විජය රාජසිංහ රජුගේ මරණයෙන් පසුව එතුමාගේ බිසවගේ සොහොයුරු වූ කීර්ති ශ්‍රී රාජසිංහ වර්ෂ 1747 දී උඩරට රාජධානියේ රජු බවට පත් විය. බලයට පත් වන විට කීර්ති ශ්‍රී රාජසිංහ රජු වයස අවුරුදු 16 තරම් ළාබාල වියේ පසු වූ නිසා එතුමාගේ පියා වූ නරේනප්පා නායක්කර් පාලන කටයුතුවලට ඇඟිලි ගැසූ බව වාර්තා වේ.

කීර්ති ශ්‍රී රාජසිංහ රජු බලයට පැමිණි කාලය වන විට මෙරට බුද්ධ ශාසනය බෙහෙවින් පරිහානියට පත් ව තිබුණි. මේ නිසා වැලිවිට සරණංකර හිමියන්ගේ උපදෙස් පරිදි රට පුරා බෞද්ධ ප්‍රබෝධයක් ඇති කිරීමට මේ රජු ක්‍රියා කළේය. ඒ සඳහා රජු අනුගමනය කළ පියවර කිහිපයක් පහත දැක්වේ.

- රජු සියම් දේශයට දූතයන් යවා උපාලි හිමියන් ප්‍රමුඛ භික්ෂූන් මෙරටට වැඩමවා වර්ෂ 1753 දී යළි උපසම්පදාව පිහිටුවීම. එමගින් වර්තමාන සියම් නිකායේ ආරම්භය සිදු විය.
- උඩරට හා පහත රට ප්‍රදේශවල පැවැති විහාරාරාම ප්‍රතිසංස්කරණය කරවීම
- වැලිවිට සරණංකර හිමියන්ට සංඝරාජ තනතුර පිරිනමා බෞද්ධ ප්‍රබෝධයක් ඇති කිරීමට රජු එම හිමියන්ට සහය ලබා දීම
- වර්ෂ 1760 - 1765 කාලයේ උඩරට හා ලන්දේසීන් අතර යහපත් සබඳතා බිඳ වැටුණි. මේ නිසා දෙපක්ෂය අතර සටන් කිහිපයක් ඇති විය. එම ගැටුම් නිම වූයේ වර්ෂ 1766 දී රජතුමා හා ලන්දේසීන් අතර සාම ගිවිසුමක් අත්සන් කිරීමෙනි. කීර්ති ශ්‍රී රාජසිංහ රජු ද උඩරට සිංහාසනයට උරුමකරුවෙකු නොතබා වර්ෂ 1781 දී මිය ගියේ ය.

**රාජාධිරාජසිංහ රජු (ක්‍රි.ව.1781 - 1798)**

කීර්ති ශ්‍රී රාජසිංහ රජුගෙන් පසු ඔහුගේ සහෝදරයා රාජාධිරාජසිංහ නමින් උඩරට රජ බවට පත්විය. මේ වන විට උඩරට රදල ප්‍රභූවරුන් හා නායක්කර් වංශික රජවරුන් අතර වූ මත භේද වර්ධනය වෙමින් තිබුණි.

මෙම රාජ්‍ය සමයේ දී සිදු වූ වැදගත් සිදු වීමක් වූයේ ක්‍රිස්තු වර්ෂ 1796 දී ඉංග්‍රීසීන් ලංකාවේ වෙරළබඩ ප්‍රදේශ අල්ලා ගැනීමයි. රාජාධිරාජසිංහ රජු ද අනුප්‍රාප්තිකයෙකු නොතබා ම වර්ෂ 1798 දී මිය ගියේ ය.

**ශ්‍රී වික්‍රම රාජසිංහ රජු (ක්‍රි.ව.1798-1815)**

රාජාධිරාජසිංහ රජුගේ අභාවයෙන් පසු ව එවකට මහ අදිකාරම් පිළිමතලව්වේගේ අවශ්‍යතාව පරිදි කන්නසාමි කුමරා ශ්‍රී වික්‍රම රාජසිංහ නමින් වර්ෂ 1798 දී රජකමට පත් කෙරුණි. මෙම රජු ක්‍රමයෙන් තම නායක්කර් ඥාතීන්ගේ බසට අවනත වීම නිසා උඩරට රදල පිරිස් හා රජු අතර සබඳතාව බිඳ වැටුණි. වර්ෂ 1803 දී ඉංග්‍රීසීන් උඩරට ආක්‍රමණය කළ නමුත් උඩරැටියන්ගේ සහායෙන් ඉංග්‍රීසි හමුදාව පරාජය කිරීමට රජු සමත් විය. එහෙත් මෙම රජුගේ පාලන කාලයේ අවසන් වසර කිහිපයේ රජු ඉතා කෲර අන්දමින් කටයුතු කිරීම නිසා මහජනතාව හා රජු අතර සබඳතාව පිරිහුණි. මේ නිසා උපායශීලී ව කටයුතු කළ ඉංග්‍රීසීහු 1815 පෙබරවාරි මාසයේ දී උඩරට රාජධානියට හමුදාව යවා රජු අත්අඩංගුවට ගත්හ. 1815 මාර්තු දෙවන දින උඩරට රදලයන් හා ඉංග්‍රීසීන් අතර ඇති වූ උඩරට ගිවිසුම පරිදි එම රාජධානිය ඉංග්‍රීසීන්ට යටත් විය. ඉංග්‍රීසි අත්අඩංගුවේ සිටි ශ්‍රී වික්‍රම රාජසිංහ රජු ඔවුන් විසින් වෙල්ලෝරයට පිටුවහල් කරන ලදි.

## 8.2 මහනුවර රාජධානියේ පරිපාලන සංවිධානය

මහනුවර රාජධානියේ පරිපාලන තන්ත්‍රයේ ඉහළ ම පුද්ගලයා වූයේ රජතුමා ය. රජතුමාගේ

සභායට අධිකාරම්වරු දෙදෙනෙකු සිටි අතර දේශපාලන වශයෙන් ඔවුන් දෙවැනි වූයේ රජතුමාට පමණි. රාජ්‍යයේ වැදගත් කටයුතු සාකච්ඡා කිරීමට රාජ සභාවක් පැවතුණි. රජුගේ ප්‍රධානත්වයෙන් රැස් වූ මෙම සභාවට අදිකාරම්වරු, දිසාවේවරු, මහ ලේකම්, ඒ ඒ බද්දෙ ලේකම්ලා සහභාගි වූහ. රාජධානියේ පරිපාලන කටයුතු අංශ කිහිපයකට බෙදා තිබුණි. රජුගේ සෘජු පාලනය යටතේ පැවති මහ වාසල සේවය, රජුගේ අධීක්ෂණයෙන් ප්‍රධාන අධිකාරම්වරුන් හරහා ක්‍රියාත්මක වූ රටවසම නම් ප්‍රදේශීය පාලන සංවිධානය, මහබද්ද හෙවත් ඒ ඒ අංශ ප්‍රධානීන් යටතේ පැවති බද්දෙ සංවිධානය හා විහාර දේවාලගම් පාලනය ප්‍රධාන පරිපාලන අංශ විය.

### රජුගේ බලය

- රටේ ඉහළ ම බලය හිමි තැනැත්තා රජතුමා ය.
- රටේ සාමය පවත්වාගෙන යෑම හා ආරක්ෂාව සැලසීම රජුගේ ප්‍රධාන කාර්යයන් වේ.
- සම්ප්‍රදාය හා පෙර සිරිතට අනුව රජු කටයුතු කළ යුතු විය.
- රටේ ඉහළ ම අධිකරණය රජු වූ අතර වැරදිකරුවෙකුට මරණීය දණ්ඩනය පැනවීමේ බලය රජුට තිබුණි.
- රටේ සියලු දේශපාලන කටයුතු, ආර්ථික කටයුතු හා පරිපාලන කටයුතු රජුගේ මූලිකත්වයෙන් ක්‍රියාත්මක විය.

### අදිකාරම්වරු

පහත සඳහන් ප්‍රදේශ ඒ ඒ අධිකාරම්වරයා යටතේ පරිපාලනය විය.

| මහ අදිකාරම් | දෙවන අදිකාරම් |
|---|---|
| හත් කෝරලේ | හතර කෝරලය |
| ඌව | තුන් කෝරලය |
| මාතලේ | සබරගමුව |
| වලපනේ | ඌව පළාත |
| බින්තැන්න | උඩු නුවර, යටි නුවර, තුම්පනේ |
| වෙල්ලස්ස | කොත්මලේ, බුලත්ගම |
| නුවරකලාවිය | |

මහ අදිකාරම් හා දෙවන අධිකාරම් ලෙස හැඳින් වූ අදිකාරම් තනතුරු දෙකක් පැවතුණි. මහ අදිකාරම් පල්ලෙගම්පහ අදිකාරම් ලෙසත්, දෙවන අදිකාරම් උඩගම්පහ අදිකාරම් ලෙසත් හැඳින්විණ.

අදිකාරම්වරුන්ගේ ආඥා හෝ පණිවිඩ ප්‍රදේශීය නිලධාරීන් කරා ගෙන ගිය පිරිස කටුපුල්ලේ පණිවිඩකරුවන් ලෙස හැඳින්විණ. රිදී විල්ලක් දමූ ඉහළ කොන නැමූ වේවැලක් ඔවුන්ගේ නිල සලකුණ විය.

### මහවාසල හෙවත් මාලිගාව සතු නිලධාරීන්

රජ තනතුරේ ගාම්භීරත්වය රැකගෙන රජවාසල කටයුතු පවත්වාගෙන යාම මේ නිලධාරීන්ට භාර විය. රජවාසල පිරිස්වලට ආහාර පාන සැකසීම, රජවාසලට රෙදි පිළි, ආභරණ ගෘහ භාණ්ඩ සැපයීම ආදියත් මොවුන්ට අයත් රාජකාරි විය. රජුගේ සෘජු අධීක්ෂණය යටතේ මෙම පිරිස පාලනය කෙරිණි. මහ වාසල ඒ ඒ කාර්යාංශ භාර ව නිලමෙවරු හා මුහන්දිරම්වරු විශාල පිරිසක් රාජකාරි කටයුතුවල නිරත ව ඇත. ගජනායක නිලමේ හෙවත් ඇතුන්ගේ කටයුතු භාර තැනැත්තා, මහලේකම්, මහ ගබඩා නිලමෙ, දියවඩන නිලමෙ, හළු වඩන නිලමෙ, බත් වඩන නිලමෙ, අස් පන්තියෙ මුහන්දිරම්, කවිකාර මඩුවෙ මුහන්දිරම් වැනි අය මහවාසල නිලධාරීන්ට උදහරණ වේ.

### රටවසම හෙවත් ප්‍රදේශ පාලනය

උඩරට රාජ්‍යය රට හා දිසාව යනුවෙන් ප්‍රදේශ 21 කින් සමන්විත විය. මහනුවරට ආසන්න ව පිහිටි උඩු නුවර, යටි නුවර, තුම්පනේ, හාරිස්පත්තුව, දුම්බර, හේවාහැට, කොත්මලේ, උඩ බුලත්ගම, පාත බුලත්ගම, රට වශයෙන් හැඳින්වූ ප්‍රදේශ විය. හතර කෝරළය, හත් කෝරළය, ඌව, සබරගමුව, මාතලේ, වලපනේ ආදි වශයෙන් හැඳින්වූ දිසාවනි 12 ක් තිබුණි. රට වශයෙන් හැඳින් වූ ප්‍රදේශ භාර නිලධාරීන් රටේ රාල හෙවත් රටේ මහත්වරුන් ලෙස හැඳින් වූ අතර ඔවුන් යටතේ ලියන රාල, උණ්ඩිය රාල හා තවත් සුළු නිලධාරීන් පිරිසක් සිට ඇත. දිසාවනි භාරව සිටි නිලධාරීන් දිසාව ලෙස හැඳින් වූ අතර දිසාවනිය කෝරළවලටත්, කෝරල පත්තුවලටත් බෙදා තිබුණි. කෝරළයක් භාර ව සිටි නිලධාරියා කෝරළේ නමින් හැඳින්විණි. කෝරළයේ එක් එක් කුල භාර ව මුහන්දිරම්වරුන් සිටි අතර, ඔවුන් යටතේ එක් එක් ගම් භාර ව විදානේවරු සිටියහ.

## බද්දෙ සංවිධානය

දේශපාලන වශයෙන් පැවති ප්‍රදේශීය සංවිධාන ජාලයට අමතර ව දිසාව තුළ සිටි ශිල්පීන් හෝ කුල ඔවුන්ගේ කාර්ය අනුව වෙන ම සංවිධානය කොට තිබුණි. මුල් කාලයේ බද්දෙ සංවිධානය වෙන ම ක්‍රියාත්මක වූවත් උඩරට රාජ්‍යයේ අවසාන කාලයේ එය දිසාව යටතේ ක්‍රියාත්මක විය. මෙම සංවිධාන ව්‍යුහයට උදහරණ පහත දක්වේ.

මඩිගෙ බද්ද (ප්‍රවාහන කටයුතු)

කුරුවෙ බද්ද(ඇතුන් ඇල්ලීම)

බඩහැල බද්ද(වළං තැනීම)

රද බද්ද (රෙදි සේදීම)

හැඳ බද්ද (රෙදි විවීම)

## විහාර දේවාල පාලන කටයුතු

මේ යටතේ විහාරාරාම පාලන කටයුතු මහනායක හා අනුනායක හිමිවරුන්ගේ මූලිකත්වයෙන් ක්‍රියාත්මක විය. දළදා මාලිගාවේ කටයුතු දියවඩන නිලමෙතුමා මගින් ක්‍රියාත්මක කෙරිණි. විහාර හා දේවාල නඩත්තුව පුද පූජා සංවිධානයට හා පෙරහැර කටයුතුවලට ගම්වර ලැබූ රාජකාරි ශ්‍රමය සැපයූ පිරිස් සිටියහ.

## අධිකරණ කටයුතු

- ඉහළ ම අධිකරණ බලතල රජු සතු විය.
- සෑම නිලධාරියෙකුට ම තම පදවිය අනුව අධිකරණ බලතල හිමි විය.
- ඇතැම් නඩු ඇසීමේ බලය වූයේ රජුට පමණි.

**රජතුමා විසින් ම විසඳන ලද නඩු වර්ග කිහිපයකි.**

වැදගත් නායකයන් සම්බන්ධ නඩු

රාජද්‍රෝහිත්වය පිළිබඳ නඩු

කැරලි කෝලාහල පිළිබඳ නඩු

විහාර හා භික්ෂූන් සම්බන්ධ නඩු

කුමන්ත්‍රණ නඩු

**එකල වැරදිකරුවන්ට ලබා දුන් දඬුවම් මෙසේ දැක්විය හැක.**

| | | |
|---|---|---|
| අතුල් පහර දීම | කස පහර දීම | රොඩී රැහැට දැමීම |
| දඩ ගැසීම | ඉපලෙන් තැලීම | හිසකෙස් කැපීම |
| දඬු කඳේ ගැසීම | දඟ ගෙයි ලෑම | දියේ ගිල්වා මැරීම |
| ඇතුන් ලවා පාගා මැරීම | පිටුවහල් කිරීම | |



*ඡායාරූපය අංක 8.3 මහනුවර යුගයේ පැවති පැදුරු විවීමේ කර්මාන්තය ඉදිරියට ගෙන ගිය දහනවවන සියවසට අයත් ශිල්පීන් පවුලක්*

## 8.3 ආර්ථික ක්‍රමය

**මහනුවර රාජධානි සමයෙහි වූයේ කෘෂිකාර්මික අර්ථ ක්‍රමයකි.**

- එය පරිභෝජනය පදනම් කරගත් එකකි.
- ආර්ථික රටාව ස්වයංපෝෂිත එකක් විය.
- කඳුකර ප්‍රදේශ බහුල වූ බැවින් වී ගොවිතැන කළ හැකි ප්‍රදේශ සීමිත විය.
- පැරණි රජරට හා රුහුණ යන ප්‍රදේශයන්ට අයත් පරිපාලන කොටස් උඩරටට අයත් වුව ද වාරිමාර්ග ක්‍රම පරිහානියට පත් ව තිබූ නිසා ගොවිතැන සීමිත විය.
- කඳුකර ප්‍රදේශයන්හි කඳු බෑවුම් ඔස්සේ සකස් කෙරුණු හෙල්වල, කුඹුරුවල වී ගොවිතැන සිදු කෙරුණි.
- උඩරට රාජ්‍යයේ වැඩි ඉඩම් ප්‍රමාණයක් හේන් ගොවිතැනට යෙදුණි.
- කුරක්කන්, අමු, මෙනේරි, ඉරිඟු වැනි ධාන්‍ය වර්ග හා අල බතල ඒවායේ වගා කෙරිණ.
- ගෙවතු ආශ්‍රිත ව කොස්, දෙල්, ගම්මිරිස්, සාදික්කා, කරදමුංගු, පුවක්, එළවළු, පලතුරු වගා කරන ලදි.
- අතිරේක ආහාර බෝග මගින් ද ආහාර අවශ්‍යතා සපුරා ගන්නා ලදි.
- යකඩ, දැව, ලෝහ හා ලාක්ෂා කර්මාන්තය ද පන් කර්මාන්තය ද දියුණු ව පැවතිණ.
- කෘෂිකාර්මික කටයුතු සඳහාත් කිරි ලබා ගැනීම සඳහාත් සත්ත්ව පාලනය සිදු කරන ලදි.

## 8.4 සමාජ සංවිධානය

- රටේ සියලු ඉඩම්වල උරුමකරුවා රජු බවට පිළිගැනීමක් විය.
- මහනුවර රාජධානියේ ඉඩම්, අයිතිය හා බුක්තිය පදනම් කරගෙන කොටස් කීපයකට බෙදුණි.

**ගබඩාගම**- රජ වාසල ප්‍රයෝජනය සඳහා වෙන් වූ ඉඩම්

**නින්දගම්**- රදල ප්‍රධානීන් කළ සේවය වෙනුවෙන් ප්‍රදානය කළ ඉඩම්

**විහාරගම්**- විහාරාරාම සාදා පූජා කළ ඉඩම්

**දේවාලගම** - දේවාල සඳහා පූජා කළ ඉඩම්

**පරවේණිගම** (නින්දගම) - ගම් වැසියන් පරම්පරාගත ව බුක්ති විඳි ඉඩම්

රටවැසියෝ තමන් බුක්ති විඳි ඉඩම වෙනුවෙන් කිසියම් සේවාවක් හෝ නියමිත භාණ්ඩ ප්‍රමාණයක් රජුට සැපයූහ.

රට වැසියන්ගේ සේවා ක්‍රමය රාජකාරිය නමින් හැඳින්විණි.

- මහනුවර රාජධානියේ පැවතියේ ග්‍රාමීය සමාජයකි.

ගම ස්වයංපෝෂිත එකක් විය.

එහි සමාජ සම්බන්ධතා කුල ක්‍රමය මත පදනම් විය.

ඒ ඒ කුලයට වෙන් වූ ආර්ථික කටයුතු දක්නට විය.

ආවාහ විවාහ කටයුතු කුලය පදනම් කරගෙන සිදු කෙරිණ.

දීග විවාහය, බින්න විවාහය හා එක ගෙයි කෑම යනුවෙන් විවාහ ක්‍රම තුනකි.

උඩරට ගැමි සමාජයේ සියලු කටයුතු අත්තම් ක්‍රමයට සිදු විය.

පවුල ප්‍රධාන සමාජ ඒකකය විය.

ගුණගරුක බව සමාජයේ ප්‍රකට ලක්ෂණය විය.

පන්සල ගැමි දිවිය හා බැඳුණු මධ්‍යස්ථානය විය.

### මහනුවර යුගයේ පාලකයෝ

| | |
|---|---|
| *සේනාසම්මත වික්‍රමබාහු රජු* | *(ක්‍රි.ව. 1469-1511)* |
| *ජයවීර බණ්ඩාර රජු* | *(ක්‍රි.ව. 1511-1551)* |
| *කරල්ලියද්දේ බණ්ඩාර රජු* | *(ක්‍රි.ව. 1551-1581)* |
| *පළමු වන රාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1581-1591)* |
| *පළමු වන විමලධර්මසූරිය රජු* | *(ක්‍රි.ව. 1592-1604)* |
| *සෙනරත් රජු* | *(ක්‍රි.ව. 1604-1635)* |
| *දෙවන රාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1635-1687)* |
| *දෙවන විමලධර්මසූරිය රජු* | *(ක්‍රි.ව. 1687-1707)* |
| *ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ රජු* | *(ක්‍රි.ව. 1707-1739)* |
| *ශ්‍රී විජය රාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1739-1747)* |
| *කීර්ති ශ්‍රී රාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1747-1781)* |
| *රාජාධිරාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1781-1798)* |
| *ශ්‍රී වික්‍රම රාජසිංහ රජු* | *(ක්‍රි.ව. 1798-1815)* |

#### ක්‍රියාකාරකම

1. මහනුවර රාජධානියේ පාලකයන් ශ්‍රේෂ්ඨ වූ ආකාරය උදාහරණ සහිත ව පැහැදිලි කරන්න.
2. මහනුවර රාජධානියේ පරිපාලන සංවිධානය සමාජ ආර්ථික කාර්යක්ෂමතාවට දායක වූ අකාරය පෙන්වන්න.
3. මහනුවර යුගයේ සමාජ සංවිධානය පිළිබඳ පුවත්පතකට ලිපියක් සකස් කරන්න.

#### වැදගත් කරුණු

1. මහනුවර යුගය ශ්‍රී ලංකාවේ අවසන් රාජධානි සමය යි. ඒ කාලය තුළ පාලකයින්ට පෘතුගීසි, ලන්දේසි සහ ඉංග්‍රීසි යන තෙවැදෑරුම් යුරෝපීය ජාතීන් සමග කටයුතු කරන්නට සිදු විය.

2. මේ කාලය තුළ අපේ රජවරු රටේ එක්සත්භාවය රැකගැනීමට මහත් වෙහෙසක් දරමින් උපායශීලී ලෙස කටයුතු කළහ.

3. එකල සමාජය විවිධ වෘත්තීය කණ්ඩායම් අනුව සංවිධානය වී තිබිණි.

4. මහනුවර රාජධානිය පාලනය කළ ඇතැම් රජවරු නායක්කර් නමින් හැඳින්වෙන දකුණු ඉන්දියානු වංශයකට අයත් වූහ.

5. 1815 වර්ෂයේ දී එවක ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා වූ රොබර්ට් බ්‍රවුන්රිග් ඇතුළු ඉංග්‍රීසි ජාතික නිලධාරීන් සහ උඩරට සිංහල ප්‍රභූවරුන් කිහිප දෙනෙකු අතර අත්සන් කරන ලද උඩරට ගිවිසුම නමින් හැඳින්වෙන ලේඛනය මඟින් උඩරට රාජධානිය එංගලන්තයේ රජු වෙත පවරා දෙන ලදි. එය මහනුවර රාජධානියේ අවසානය ළඟා කරවීමට තුඩු දුන් ප්‍රධාන හේතුව ලෙස පෙනේ.

# 9 පුනරුදය

### හැඳින්වීම

පුනරුදය යන වචනයේ තේරුම යළි ඉපදීම යන්න යි. ක්‍රිස්තු වර්ෂ දාහතර වන සියවසේ සිට දාසය වන සියවස දක්වා යුරෝපයේ කලාත්මක හා විද්‍යාත්මක ක්ෂේත්‍රවල සිදු වූ පුළුල් පරිවර්තනය හැඳින්වීම සඳහා ඉතිහාසඥයෝ පුනරුදය යන වචනය යොදති.

පැරණි ග්‍රීක රෝම ශිෂ්ටාචාර පැවති සමය යුරෝපා ඉතිහාසයේ පුරාතන යුගය ලෙස සැලකේ. ක්‍රිස්තු වර්ෂ 5 වන සියවසේ රෝම ශිෂ්ටාචාරය බිඳ වැටීමෙන් පසු ගතවූ වසර දහසක පමණ කාලය යුරෝපයේ මධ්‍යතන යුගය ලෙස හැඳින්වෙයි. මධ්‍යතන යුගය අවසාන කාලයේ දී පැරණි ග්‍රීක රෝම ශිෂ්ටාචාරවල පැවති සාහිත්‍යය, කලාව හා දර්ශනය පිළිබඳ නැවත සොයා බැලීමේ ප්‍රබල උනන්දුවක් යුරෝපය තුළ ඇති විය. එහි ප්‍රතිඵලයක් වශයෙන් ග්‍රීක රෝම ශිෂ්ටාචාරවල පැවති පැරණි කලා ශෛලීන් නැවත භාවිතයට ගැනීමත්, සාහිත්‍ය හා දර්ශනය ගැඹුරින් හැදෑරීමට යුරෝපීයයන් පෙළඹීමත් නිසා යුරෝපා සමාජයේ පුළුල් පරිවර්තනයක් සිදු විය. එමගින් ඉහත කී පැරණි ශිෂ්ටාචාර නැවත පණ ලැබුවේ ය යන අර්ථයෙන් පුනරුදය යන වචනය භාවිත කෙරේ. පුනරුද සමයේ යුරෝපයේ සෑම ක්ෂේත්‍රයකම පාහේ ඇති වූ වෙනස්කම් නිසා මධ්‍යතන යුගය අභාවයට යාමටත් යුරෝපා ඉතිහාසයේ නූතන යුගය ආරම්භ වීමටත් කරුණු සැලසුණි.

## 9.1 පුනරුදය ඇති වීමට බලපෑ හේතු

- **කොන්ස්තන්තිනෝපල් නගරය තුර්කි ජාතිකයන්ට යටත් වීම**

මධ්‍යතන යුගයේ අවසාන භාගයේ ඉතා දියුණු වෙළෙඳ නගරයක් වූ කොන්ස්තන්තිනෝපලය යුරෝපා උගතුන්ගේ අවධානය දිනාගත් එකක් විය. කොන්ස්තන්තිනෝපල් නගරයේ තිබූ පුස්තකාලවල ග්‍රීක රෝම සාහිත්‍ය පොතපත තැන්පත් ව තිබූ අතර ග්‍රීක හා රෝම උගත්තු බොහෝ පිරිසක් එහි අධ්‍යයන කටයුතුවල නිරත ව සිටියහ. එහෙත් ක්‍රි.ව. 1453 දී මෙම නගරය ඉස්ලාම් භක්තික තුර්කි ජාතිකයන්ට යටත් වීම නිසා රෝමානු කතෝලික ආගම ඇදහූ උගතුන්ට තව දුරටත් එම නගරයේ ජීවත් වීමට අපහසු විය. මේ නිසා එම උගත්තු ග්‍රීක -රෝම පොත්පත් රැගෙන සෙසු යුරෝපා රටවලට පලා ගොස් ග්‍රීක හා ලතින් භාෂා අධ්‍යයනය එම යුරෝපා නගරවල ප්‍රචලිත කළහ. එහි ප්‍රතිඵල වශයෙන් ග්‍රීක - රෝම සංස්කෘතිවල යළි පිබිදීමක් ඇති විය.

- **වෙළෙඳාම දියුණු වීම හා නව ධනවතුන් පිරිසක් බිහි වීම**

ක්‍රිස්තු වර්ෂ දොළොස් වන සියවසේ සිට පෙරදිග හා අපරදිග රටවල් අතර වෙළෙඳ හා වාණිජ කටයුතුවල දියුණුවක් ඇති විය. මේ නිසා වැනීසිය, ජිනෝවා වැනි වෙළෙඳ නගර පිහිටි ඉතාලියෙහි, වෙළෙඳාම නිෂ්පාදනය හා බැංකු කටයුතුවලින් මුදල් උපයාගත් නව ධනවත්තු පිරිසක් බිහි වූහ. මෙම ධනවතුන් පැරණි වැඩවසම් රදලයන් මත යැපුණු පිරිසක් නොවූ හෙයින් කලාත්මක කටයුතු කෙරෙහි අවධානය යොමු කිරීමට අවශ්‍ය නිදහස් මනසක් මෙන් ම ඒවාට අනුග්‍රහය දැක්විය හැකි ධන බලයක් ද ඔවුන්ට තිබුණි. ඉතාලියෙහි එකල කුඩා රාජධානි රැසක් පැවති හෙයින් ඒවායේ බිහි වූ ධනවත්තු කලාත්මක කටයුතුවලට අනුග්‍රහය දැක්වීමට ඉදිරිපත් වූහ. පුනරුදය ඉතාලියෙන් ආරම්භ වීමට එය ප්‍රබල හේතුවක් විය. ඉතාලියේ ප්ලෝරන්ස් නගරයේ ජීවත් වූ මෙඩිසි (medici) නම් ධනවත් පවුල එහි කලාත්මක කටයුතුවලට අත හිත දුන් ධනවතුන්ට උදාහරණයකි.

- **බුද්ධි ප්‍රබෝධය**

රෝම ශිෂ්ටාචාරයේ පරිහානියෙන් පසු ආගමික ආයතන මුල් කරගෙන පැවති අධ්‍යාපන ක්‍රමය තුළ ප්‍රධාන විෂය වූයේ දේව ධර්මය, දර්ශනය, නීතිය වැනි විෂය කිහිපයක් පමණි. එහෙත් දොළොස් වන සියවසෙන් පසු ව බිහි වූ නව අධ්‍යාපන ආයතනවල පැරණි සාහිත්‍ය, නාට්‍ය, ශබ්ද විද්‍යාව, ඉතිහාසය වැනි නව විෂයන් ඉගැන්වීමට කටයුතු කළ හෙයින් පුනරුද සමය වන විට නව උගත්තු පිරිසක් බිහි වූහ. යුරෝපා ජාතීන් තුළ බුද්ධි ප්‍රබෝධයට බලපෑ



ඡායාරූපය අංක 9.1 රෆායෙල් විසින් සිස්ටයින් දෙව්මැදුරේ සිතුවම් කර තිබෙන දේව දරුවන් දෙදෙනෙකු දක්වෙන චිත්‍රයක්

තවත් හේතුවක් වූයේ මුද්‍රණ කර්මාන්තය යි. වර්ෂ 1454 දී ගුටන්බර්ග් මුද්‍රණ යන්ත්‍රය නිපදවීමත් සමඟ ඉතාලියේ ප්‍රදේශ රැසක මුද්‍රණාල ආරම්භ විය. මේ යටතේ පොත් පත් සුලබ වීමත් ග්‍රීක රෝම පොත් පත් මුද්‍රණයෙන් නිකුත් වීමත් නිසා එය සාහිත්‍යය, නාට්‍ය කලාව ආදිය කෙරෙහි ප්‍රබල උනන්දුවක් ඇති වීමට හේතු විය.

### පල්ලියේ ආධිපත්‍යය විවේචනය වීම

මධ්‍යතන යුගය වන විට පාප් වහන්සේ සහ ක්‍රිස්තියානි පල්ලිය සතුව මහත් බලයක් පැවතුණි. මේ නිසා ආගම මිනිස් ජීවිතයේ බොහෝ අංශ කෙරෙහි විශාල බලපෑමක් ඇති කර තිබුණි. කතෝලික සභාවේ ඇතැම් පූජකවරු ආගමික පැත්තට වඩා ලෞකික පැත්තට බර වූ දිවි පැවැත්මකට හුරු වී සිටියහ. පුනරුද සමයේ නැගී ආ චින්තන ප්‍රබෝධයේ ප්‍රතිඵල වශයෙන් කතෝලික සභාවේ ඇතැම් දුර්වලතා විවේචනයට ලක් විය. එංගලන්තයේ ජෝන් වයික්ලිප්, බොහිමියාවේ ජෝන් හස්, ප්‍රංශයේ ඉරාස්මස් හා ජර්මනියේ මාටින් ලූතර් වැනි අය එබඳු විවේචන කළ අය අතර කැපී පෙනේ.

### යුරෝපයේ වෙනස් වීමට පුනරුදය බලපෑ ආකාරය

යුරෝපයේ මෙතෙක් ආ ගමන් මග වෙනස් කිරීමට පුනරුදය මහත් සේ බලපෑවේය. එය ශාස්ත්‍රීය, දේශපාලන, ආර්ථික හා විද්‍යාත්මක ආදි සෑම අංශයක ම වෙනසක් කිරීමට සමත් විය.

### ශාස්ත්‍රීය පුනරුදය

ශාස්ත්‍රීය පුනරුදය වශයෙන් සැලකෙන්නේ පහළොස් වන සියවසේ යුරෝපයේ භාෂාව, සාහිත්‍ය හා කලා ශිල්ප එනම් චිත්‍ර කලාව, ප්‍රතිමා කලාව, ගෘහ නිර්මාණ ශිල්පය ආදි අංශයන්හි ඇති වූ ප්‍රබෝධය යි.

## භාෂාව හා සාහිත්‍යයේ පුනර්ජීවනය

මධ්‍යතන යුගයේ දී යුරෝපා රටවල භාවිත වූයේ ගෝත්‍රික භාෂා ය. ආගමික කටයුතුවල දී හා නීතිය හැදෑරීමේ දී යම් ප්‍රමාණයකට ලතින් භාෂාව භාවිත විය. ග්‍රීක භාෂාව මළ භාෂාවක තත්ත්වයට ඇද වැටී තිබුණි. එහෙත් පුනරුද සමයේ දී ග්‍රීක හා ලතින් භාෂාවෙන් ලියවුණු පොත් පත් පරිශීලනය වැඩි වීම නිසා එම භාෂාවල නවෝදයක් ඇති විය. මෙය ශාස්ත්‍රීය පුනරුදයෙහි දී සිදු වූ වැදගත් දෙයකි. එමෙන් ම ලතින් හා ග්‍රීක භාෂා ඉගෙනීම විලාසිතාවක් ලෙස සැලකීමට ද පටන් ගැනුණි. මේ නිසා එතෙක් භාවිත වූ ප්‍රදේශීය භාෂා අභාවයට ගියේ ය.



*රූපය අංක 9.2 ගැලිලියෝ ගැලිලි දුරේක්ෂයෙන් අභ්‍යවකාශය පරීක්ෂා කරන අන්දම දැක්වෙන සිතුවමක්. විද්‍යාත්මක සොයා ගැනීම් යුරෝපීය පුනරුද යුගයේ කැපී පෙනෙන ප්‍රවණතාවකි.*

ග්‍රීක ලතින් භාෂා ඉගෙන ගැනීමෙන් පසු එම භාෂාවෙන් ලියවුණ පොත්පත් හැදෑරීම නිසා සාහිත්‍යයේ නව ප්‍රබෝධයක් සිදු විය. විශේෂයෙන් ග්‍රීක නාට්‍ය පිළිබඳ බලවත් උනන්දුවක් ඇති විය. සාහිත්‍යමය වශයෙන් සේවයක් කළ ගත් කතුවරු රැසක් මෙකල බිහි වූහ. ඉතාලියේ ඩාන්ටේ, පෙට්රාක්, බොකැෂියෝ, එංගලන්තයේ සර් තෝමස් මුවර්, ප්‍රැන්සිස් බේකන් හා විලියම් ෂෙක්ස්පියර් ප්‍රංශයේ ඉරාස්මස් ද මේ අතර වැදගත් තැනක් ගනිති. ඔවුහු කෘති රැසක් රචනා කළහ. නිදසුන් ලෙස අලගියරි ඩාන්ටේ රචනා කළ ඩිවිනා කොම්ඩියා කාව්‍ය ග්‍රන්ථය ද පෙට්රාක් රචනා කළ ලෝරාට සැහැලි කවි නම් ග්‍රන්ථය ද පෙන්නුම් කළ හැකි ය.

## මානවවාදය

මානවවාදය හෙවත් මිනිසා උතුම් කොට සැලකීම පුනරුදයේ විශේෂ ලක්ෂණයක් විය. මධ්‍යතන යුගයේ දී සියල්ල ආගම මුල් කරගෙන ආගමික රාමුවක් තුළ සිදු විය. එහෙත් මානවවාදය මුල් වීම නිසා සෑම දෙයක් දෙස ම වඩාත් විචාරාත්මක ව බැලීමට පටන් ගැනුණි. දේව ධර්මවාදී විෂයන් වෙනුවට මානවවාදී විෂයන් ඉගෙනීම ආරම්භ විය. උදාහරණ වශයෙන් සාහිත්‍යය, ඉතිහාසය, කලාව, නීතිය, ආචාර විද්‍යාව පෙන්නුම් කළ හැකි ය. මේ නිසා ග්‍රීක රෝම ආභාසය ලැබ මානවවාදයට නැඹුරු වූ ගත් කතුවරු රැසක් මෙම යුගයේ බිහි වූහ.

## කලා ශිල්ප

### පුනරුද සමයේ කලා ශිල්ප ක්ෂේත්‍රයේ ඇති වූ වෙනස්කම්

මධ්‍යතන යුගයේ සියලු ශිල්පීන් සංවිධානය වී සිටියේ ශ්‍රේණි වශයෙනි. මේ නිසා මෙකල බිහි වූ නිර්මාණ ශ්‍රේණිවල නමින් හැඳින්වි ය. එමෙන් ම කලා ශිල්ප ආගමට නැඹුරු වීම ද විශේෂ ලක්ෂණයකි. කලා කෘතිවලට අනුග්‍රහ දැක්වීමේ ශක්තිය පල්ලියට පමණක් තිබීමත්, මධ්‍යකාලීන චින්තනය ආගමික ඉගැන්වීම් පදනම් කොට ගොඩ නැගී තිබීමත් මෙයට හේතුව විය. මේ නිසා කලාකරුවන්ට තම ශක්තියට අනුව ස්වාධීන ව නිර්මාණ කිරීමට ඉඩක් නොතිබුණි. එහෙත් පුනරුද සමයේ මේ සියල්ල වෙනස් විය. කලාකරුවන්ට අනුග්‍රහ දැක්වීමට ලෞකික රස වින්දනය අගය කරන ධනවත්තු ඉදිරිපත් වූහ. පුනරුද සමයේ අගය කරන ලද පුද්ගලවාදයේ ප්‍රතිඵලයක් වශයෙන් කලාකරුවෝ ස්වාධීන ව  තම දක්ෂතා ඉස්මතු කරමින් නිර්මාණ බිහි කිරීමට පටන් ගත්හ. එතෙක් ශ්‍රේණිවල නමින් හැඳින්වූ කලා කෘති  ඒවා නිර්මාණය කළ කතෲන්ගේ නමින් එළි දැක්වීමට කටයුතු කෙරිණි. මේ නිසා ආගමික සිතුවිලිවලට මුල් තැන දීම වෙනුවට පෞද්ගලිකත්වය ඉස්මතු කෙරෙන ලෞකික රස වින්දනයට මුල් තැන දුන් කලා කෘති රාශියක් බිහි විය.

### චිත්‍ර කලාව

කලා ශිල්ප අතරින් පුනරුද සමයේ ඉතා පුළුල් වෙනසකට ලක් වූයේ චිත්‍ර කලාව යි. ඉතාලියේ ෆ්ලෝරන්ස් නගරය නව චිත්‍ර කලාවක් බිහි කළ මධ්‍යස්ථානයක් විය. ලෞකික රස වින්දනය සඳහා ස්වාභාවිකත්වයට මුල්තැන දී නිර්මාණ බිහි කිරීම නිසා මෙකල චිත්‍ර හා මූර්තිවල නිරුවත් හා අඩ නිරුවත් රූප දක්නට ලැබේ. මෙතෙක් ආගමික වශයෙන් වැදගත් වූ පුද්ගලයන් එනම් ක්‍රිස්තුස් වහන්සේ, කන්‍යා මරිය තුමිය වැනි අය චිත්‍රවලට  වස්තු විෂය විය. එහෙත් පුනරුද සමයේ ධනවතුන්ගේ රූප චිත්‍රයට නැගීම දැකිය හැකි ය. මෙකල සිටි චිත්‍ර ශිල්පීන් අතරින් ලියනාඩෝ ඩාවින්චි, මයිකල් ආන්ජලෝ, රෆායල්, මැසෙක්ෂියෝ, බොට්ටි චෙල්ලි ආදීහු වැදගත් අය වෙති,

ලියනාඩෝ ඩාවින්චි චිත්‍ර ශිල්පියෙකු මෙන් ම තවත් ක්ෂේත්‍ර ගණනාවක ප්‍රවීණයෙක් ද විය. ඔහු කවියෙක් සංගීතඥයෙක් විද්‍යාඥයෙක් හා ප්‍රායෝගික ඉංජිනේරුවෙක් ද විය. මොහුගේ මොනාලිසා  හා ක්‍රිස්තුස් වහන්සේගේ අන්තිම භෝජන සංග්‍රහ වැනි චිත්‍ර විශ්ව කලා කෘති ලෙස අදටත් ජනප්‍රියත්වයක් උසුලයි.

මයිකල් ආන්ජිලෝ ද මෙකල සිටි දක්ෂ චිත්‍ර ශිල්පියෙකු මෙන්ම මූර්ති හා ගෘහ නිර්මාණ ශිල්පියෙකි. ඔහු සිස්ටයින් දේවස්ථානයේ සිවිලිමේ ඇඳ ඇති සිතුවම් චිත්‍ර කලාවේ විශිෂ්ටත්වය විදහා දක්වයි. අවසාන විනිශ්චය නම් චිත්‍රය හා සිස්ටයින් මන්දිරයේ ම  ඇඳ ඇති ආදම්ගේ චිත්‍රය ද ඔහුගේ චිත්‍ර අතර වැදගත් වේ.

### ප්‍රතිමා කලාව

කලා ශිල්ප අතර නෙළීමේ කලාවට ද පුනරුද සමයේ වැදගත් තැනක් හිමි විය. කිරිගරුඬින් ප්‍රතිමා නෙළීම මෙකල කැපී පෙනෙන ලක්ෂණයකි. මයිකල් ආන්ජිලෝ, පුනරුද සමයේ සිටි අග්‍ර ගණ්‍ය ප්‍රතිමා ශිල්පියෙක් විය. මෙඩිසි පවුලේ ලොරෙන්සෝ මෙඩිසි නිරූපණය කරන ප්‍රතිමාව මොහු කිරිගරුඬින් නෙළා තිබේ. පියෙටා ප්‍රතිමාව ද මෝසෙස්ගේ  ප්‍රතිමාව ද දවිත්ගේ ප්‍රතිමාව ද ඔහුගේ සෙසු නිර්මාණ අතර කැපී පෙනේ.

### ගෘහ නිර්මාණ ශිල්පය

පුනරුද සමයේ ගෘහ නිර්මාණ ශිල්පයේ ද වැදගත් වෙනස්කම් ඇති විය. මධ්‍යතන යුගයේ ගෘහ නිර්මාණ ශිල්පයේ විශේෂ ලක්ෂණය වූයේ උල් කේතු ආකාර හැඩයෙන් යුත් ආරුක්කු, උස් වහල හා පිරමීඩ හැඩයේ කුළුනු ය. ඒ වෙනුවට පුනරුද සමයේ රෝම ගෘහ නිර්මාණ ශිල්පය අනුව වටකුරු ආරුක්කු, උස් කුළුනු හා අර්ධ ගෝලාකාර ශිඛර ගෘහ නිර්මාණ කලාවේ ප්‍රධාන ලක්ෂණ බවට පත් විය. රෝමවරුන් අනුගමනය කරමින් මෙකල සුඛෝපභෝගී මන්දිර තැනීම ද සිදු කෙරිණි.

ගෘහ නිර්මාණ ශිල්පය මැනවින් පිළිබිඹු කරන ගොඩනැගිලි අතර රෝමයේ ශාන්ත පීතර බැසිලිකා දේවස්ථානය හා ෆ්ලෝරන්ස් හි ආසන දෙව්මැදුර කැපී පෙනේ. මයිකල් ආන්ජලෝ, ලියනාඩෝ ඩාවින්චි, රෆායල් පුනරුද සමයේ සිටි දක්ෂ ගෘහ නිර්මාණ ශිල්පීන්ට උදහරණ වේ.

### විද්‍යාත්මක දියුණුව

පුනරුද සමයේ වැදගත් ලක්ෂණයක් වූයේ විද්‍යාව දියුණු වීම යි. ග්‍රීක රෝම පොත්පත්වල ආභාසය ලද උගත්තු එක් විෂයකට පමණක් සීමා නොවී විවිධ ක්ෂේත්‍ර පිළිබඳ ව විද්‍යාත්මක ව සොයා බැලීමට



ඡායාරූපය අංක 9.3 යුරෝපීය පුනරුදයෙන් ඇති වූ වෙනස්කම් ක්ෂේත්‍ර ගණනාවක් වෙත බල පැවැත්වී ය. වාස්තු විද්‍යාව සහ මූර්ති කලාව ඉන් එක් ක්ෂේත්‍රයකි. මෙම ඡායාරූපයෙන් දැක්වෙන්නේ පුනරුද සමයේ ශෛලියට අනුව ප්‍රංශයේ ඉදි කරන ලද නේවාසික ගොඩනැගිල්ලකි.

පෙළඹුණහ. පෘථිවිය, ඉර, හඳ, තරකා ආදි සෑම දෙයක් පිළිබඳ ව ම ඔවුහු නිරීක්ෂණය කළහ. එහි ප්‍රතිඵලයක් වශයෙන් විශ්වය පිළිබඳ ව නව මත ඉදිරිපත් විය. එසේ ම විද්‍යාවේ දියුණුවක් ද ඇති විය.

### විශ්වය පිළිබඳව ඉදිරිපත් වූ නව මත

#### පෝලන්ත ජාතික නිකලස් කොපර්නිකස්

පෘථිවිය ගෝලාකාර බවත් අනෙකුත් ග්‍රහයන් සූර්යයා වටේ පරිභ්‍රමණය වන බවත් සොයා ගත්තේය. විද්‍යාවට වූ ඉමහත් සේවය නිසා ඔහු නූතන තාරකා විද්‍යාවේ පියා ලෙස හැඳින්වේ.

#### එංගලන්ත ජාතික අයිසෙක් නිව්ටන්

ගුරුත්වාකර්ෂණ නියමය සොයා ගත්තේය.

#### ජර්මන් ජාතික ජොහැන්ස් කෙප්ලර්

කොපර්නිකස් ඉදිරිපත් කළ අදහස් තහවුරු කොට ඒවා තවදුරටත් ඉදිරියට ගෙන යමින් සෞරග්‍රහ මණ්ඩලයේ ග්‍රහලෝක සූර්යයා වටේ ඉලිප්සාකාර ව ගමන් ගන්නා බව සොයා ගත්තේ ය.

#### ඉතාලි ජාතික ගැලීලියෝ ගැලිලි

දුර දක්නය නිපදවී ය. එයින් ආකාශ වස්තු නිරීක්ෂණය කර චන්ද්‍ර ආවාට, බ්‍රහස්පති ග්‍රහයාගේ උපග්‍රහයන් ඇති බව සොයා ගත්තේ ය. ඔහු අත්හද බැලීමේ පියා ලෙස හැඳින්වේ.

• වෛද්‍ය විද්‍යාවේ දියුණුව

වෛද්‍ය විද්‍යාවේ නවෝදයක් මෙම අවධියේ ඇති විය.

ඉංග්‍රීසි ජාතික විලියම් හාවේ

මිනිස් සිරුරේ රුධිර සංසරණ පද්ධතිය පිළිබඳ වැදගත් තොරතුරු සොයා ගත්තේ ය.

ස්විස් ජාතික වෛද්‍ය පැරසල්සස්

ලෙඩ රෝග සෑදීමට තුඩු දෙන හේතු ද ඒවාට ප්‍රතිකර්ම ද අත්හදා බැලී ය. ඔහු නූතන ඖෂධ විද්‍යාව කෙරෙහි ද රෝග චිකිත්සක ක්‍රම කෙරෙහි ද විශාල බලපෑමක් කළේ ය.

ස්විස් ජාතික මයිකල් සර්වෙටස්

රුධිරය හදවතේ දකුණු කෝෂයෙන් පිටවී ගොස් පෙණහැලි මගින් පිරිසිදු වී යළිත් හදවතට පැමිණ ශරීරය පුරා ම විසිරී යෑම පිළිබඳ ව තොරතුරු සොයා ගත්තේ ය.

• ජොහැන්ස් ගුටන්බර්ග්

ජර්මන් ජාතික ජොහැන්ස් ගුටන්බර්ග් මුද්‍රණ යන්ත්‍රය නිපදවී ය.

## දේශපාලන නවෝදය

වැඩවසම් යුගයේ එක් එක් ප්‍රදේශ පාලනය කිරීමේ බලය ප්‍රදේශීය පාලකයන්ට පවරා තිබුණි. ප්‍රදේශීය පාලකයන් ලෙස කටයුතු කළෝ ඉඩම් හිමි වංශාධිපතිවරුය. ස්වාධීන ව කටයුතු කිරීම නිසා පාලන කටයුතුවල දී ඔවුහු රජුට වඩා බලයක් භුක්ති වින්දහ. එකල ජනතාව එක් එක් ප්‍රදේශීය පාලකයන් යටතේ පාලනය වීම නිසා තමන් ජීවත් වූ ප්‍රදේශයේ වැසියන් ලෙස සිතුවා විනා එක් රටක ජාතියක් ලෙස හැඟීමකින් කටයුතු කළේ ද නැත.

පුනරුද සමයේ ජාතික රාජ්‍ය බිහි වීම දේශපාලන ක්ෂේත්‍රයේ සිදු වූ වැදගත් ම වෙනසකි. වෙන් වෙන් ව තිබූ ප්‍රදේශීය රාජ්‍ය එක් කොට එක් රජ කෙනෙක් යටතේ එක්සත් කිරීම මෙහි දී සිදු විය. මේ නිසා රජු පාලන කටයුතුවල දී වැදගත් වූ අතර සියලු බලතල රජු වටා කේන්ද්‍රගත විය.

12 වන සියවසේ වෙළෙඳ කටයුතුවල දියුණුවත් සමග මධ්‍යම පන්තියක බිහි වීම සිදු විය. මධ්‍යම පන්තිය යනු මේ වන විට වෙළෙඳාමෙන් මුදල් උපයාගෙන ධනවත් වූ පිරිසයි. මෙම පන්තියට වෙළෙන්දන්, බැංකුකරුවන්, නැව් හිමියන් හා තවලම් හිමියන් වැනි පිරිස් අයත් වූහ. මධ්‍යම පන්තිය සමාජයේ බලවත් වීමත් සමග ම මෙතෙක් ඉඩම් හිමි වංශාධිපතිවරුන්ට හිමි ව තිබූ බලතල හා අයිතිවාසිකම් ඔවුන්ගෙන් ගිලිහෙන්නට විය. ජාතික රාජ්‍යවල රජවරු තමන්ගේ පාලන කටයුතුවල දී අලුතින් බිහි වූ මෙම මධ්‍යම පාන්තිකයන් සහාය කර ගත්හ. ඔවුන්ගේ වෙළෙඳ කටයුතු සඳහා රාජ්‍ය අනුග්‍රහය ද ලැබුණි.

## ආර්ථික නවෝදය

පුනරුද සමයේ යුරෝපයේ ආර්ථික කටයුතු වල පුළුල් වෙනසක් සිදු විය. මධ්‍යතන යුගයේ ප්‍රවේණිය කේන්ද්‍ර කොට පැවති ස්වයංපෝෂිත ආර්ථික ක්‍රමය පරිහානියට පත් වී වෙළෙඳාමේ දියුණුවක් මෙකල ඇති විය. යුරෝපයේ ජාතික රාජ්‍යයන් බිහි වීමෙන් පසු වෙළෙඳ කටයුතු පුළුල් කිරීම සඳහා රජයේ අනුග්‍රහය සෘජු ව ම ලැබුණි. ඒ සඳහා යුරෝපා රටවල ජාතික වෙළෙඳ ප්‍රතිපත්ති, ජාතික බදු ප්‍රතිපත්ති ක්‍රියාත්මක විය. එමෙන් ම දේශ ගවේෂණයෙහි ප්‍රතිඵලයක් වශයෙන් නව මුහුදු මාර්ග සොයා ගැනීමෙන් යුරෝපා ජාතීන්ට පෙරදිගට හා ඇමරිකා මහාද්වීපයට පැමිණීමට හැකි විය. මේ නිසා එම ප්‍රදේශවල තිබූ වෙළෙඳ ද්‍රව්‍ය එනම් කුළු බඩු, රන් රිදී, මුතු මැණික්, ඇතුන්, ඇත් දළ වැනි දේ යුරෝපයට ගෙන යාමට හැකියාව ලැබුණි. මේ ඔස්සේ වෙළෙඳාමේ දියුණුවක් ඇති විය.

වෙළෙඳ කටයුතු පුළුල් වීමත් සමග මුදල් භාවිතය වැඩි විය. මුදල් නෝට්ටු හා කාසි භාවිතය ප්‍රචලිත විය. ගනුදෙනු සඳහා මුදල් දුර බැහැර ගෙන යාම දුෂ්කර හා අනාරක්ෂිත වූ නිසා චෙක්පත් හා බැංකු අණකර ක්‍රමය පුනරුද සමයේ ආරම්භ විය. ව්‍යාපාරිකයන්ට තම වෙළෙඳ කටයුතුවලට අවශ්‍ය මුදල් ණයට දීම ද බැංකු මගින් සිදු කෙරිණි.

## නව වෙළෙඳ මාර්ග සොයා ගැනීම

ක්‍රි.ව 1453 දී තුර්කිවරුන් කොන්ස්තන්තිනෝපල් නගරය යටත් කර ගැනීමත් සමග යුරෝපීන්ගේ පෙර අපර දෙදිග වෙළෙඳ කටයුතුවලට බාධා ඇති විය. මුහුදු හා ගොඩබිම වෙළෙඳ මාර්ග සියල්ල ම පාහේ

තුර්කි අධිරාජ්‍ය යටතට පත් විය.

ඒ නිසා ආසියාතික භාණ්ඩ ලබා ගැනීම සඳහා පෙර දිගට ළඟා විය හැකි නව මුහුදු මාර්ග සෙවීමට යුරෝපියයෝ පෙළඹුණහ.

නව මුහුදු මාර්ග සොයා යාමේ ගමන සාර්ථක කර ගැනීමට සුදුසු පරිසරයක් ද යුරෝපයේ මේ වන විට සකස් වෙමින් තිබුණි. එනම්,

- නාවික ගමන්වල සුරක්ෂිත ව යෙදීමට හැකි මාලිමා යන්ත්‍රය, උතුරු තරු මාපකය නිපදවීම
- පුනරුදයේ දී ලෝකය ගෝලාකාර බව සොයා ගැනීම
- ටොලමිගේ ලෝක සිතියම මගින් ලෝකය පිළිබඳ නිසි අවබෝධයක් ලැබීම
- ජාතික රාජ්‍යයන් මෙම ගමන් සඳහා අනුග්‍රහ දැක්වීම

දේශ ගවේෂණය සඳහා මුලින් ම උනන්දු වූයේ සාගර බද රටවල් දෙකක් වූ පෘතුගාලය හා ස්පාඤ්ඤය යි. පෘතුගාලයේ හෙන්රි කුමාරයා (නාවික හෙන්රි) දේශ ගවේෂණ කටයුතුවලට විශාල අනුග්‍රහයක් ලබා දුන්නේ ය.

පෘතුගාලයේ සිට පෙරදිගට ළඟා වීම සඳහා මුහුදු මාර්ගයක් සෙවීමේ යෙදුණු බර්තෝලමියුඩයස් අප්‍රිකාවේ දකුණු තුඩුවට පැමිණ එහි දී කුණාටුවකට හසු වීම නිසා එයට කුණාටු තුඩුව නමින් නම් තබා ආපසු සිය රට බලා යාත්‍රා කළේ ය. පසු ව පෘතුගාලයේ රජු විසින් එය ශුභ පැතීමේ තුඩුව ලෙස නම් කරන ලදි.

බර්තෝලමියුඩයස් ගිය ගමන් මග ඔස්සේ ගමන් කළ වස්කෝද ගාමා ඉන්දියාවේ කැලිකට් වරායට ළඟා විය. මෙය යුරෝපියයන් ප්‍රථමයෙන් ආසියාවට පැමිණීමට සොයා ගත් නව මුහුදු මාර්ගය යි.

ස්පාඤ්ඤයේ පර්ඩිනන්ඩ් හා ඉසබෙලා රැජිනගේ අනුග්‍රහය යටතේ ක්‍රිස්ටෝපර් කොලම්බස්ට බටහිර ඉන්දියා දූපත් සොයා ගැනීමට හැකි විය. ඇමරිගෝ වෙස් පූෂි ඇමරිකාව (නව ලෝකය) සොයා ගත්තේ ය. පර්ඩිනන්ඩ් මැගලන්-පිලිපීනය ද කැබේ සහෝදරයෝ -කැනඩාව ද සොයා ගත්හ.

## පුනරුදයේ ගෝලීය ප්‍රවණතාව

පුනරුදය මුලින් ම ආරම්භ වූයේ ඉතාලියේ ප්ලෝරන්ස් නගරයෙනි. අනතුරුව එය ඉතාලියේ සෙසු ප්‍රදේශවලට ව්‍යාප්ත වී පසු ව යුරෝපය පුරා පැතිරුණි. පුනරුද සමයේ ඇති වූ දේශ ගවේෂණ නිසා යුරෝපීයයෝ නව රටවල් සොයා යාමට පටන් ගත්හ. එහි ප්‍රතිඵල වශයෙන් ආසියා, අප්‍රිකා හා ඇමරිකා මහද්වීපවල යුරෝපා බල ව්‍යාප්තියක් ඇති විය. 16 වන සියවසේ සිට ශතවර්ෂ හතරහමාරක් පමණ මෙකී මහද්වීපවල ඇතැම් රටවල් යුරෝපයේ විවිධ ජාතීන්ට අයත් යටත් විජිත බවට පත්ව තිබුණි. මේ නිසා දේශපාලන වශයෙන් මෙන් ම වෙළෙඳාම හා සමාජීය සංස්කෘතික වශයෙන් ද යුරෝපය හා සෙසු ලෝකය අතර සබඳතා ගොඩනැගුණි. මෙම සබඳතා නිසා මුද්‍රණ කර්මාන්තය ලොව පුරා පැතිරුණි. මෙමගින් යුරෝපයේ චින්තනය හා සාහිත්‍ය සෙසු රටවලත් ව්‍යාප්ත විය. යටත් විජිතවල ධනවතුන්ගේ දූ දරුවන් අධ්‍යාපන කටයුතු සඳහා යුරෝපයට යාමත් මේ සඳහා හේතු විය. යුරෝපීයයෝ තම යටත් විජිතවල තම තමන් ඇදහූ ආගම ප්‍රචාරය කළහ. එසේ ම දේවස්ථාන හා ගොඩනැගිලි ඉදිකිරීම මඟින් යුරෝපයේ එවකට ප්‍රචලිත වූ වාස්තු විද්‍යාව, කලා ශිල්ප සෙසු රටවලටත් ලැබුණි. යුරෝපය හා ලෝකයේ රටවල් අතර ඇතිවූ සබඳතා නිසා යුරෝපීය තාක්ෂණය හා විද්‍යාත්මක දැනුම ආදියත් ලොව පුරා පැතිරිණි. මෙමගින් පුනරුදය ගෝලීය ප්‍රවණතාවක් බවට පත් විය.

## 9.2 පුනරුදය ලංකාව කෙරෙහි බලපෑම

යුරෝපයේ ඇති වූ පුනරුදයේ බලපෑම මෙරටට ලැබුණේ දිවයිනට පැමිණි පෘතුගීසි, ලන්දේසි හා ඉංග්‍රීසි ජාතිකයින් මගිනි. මෙම ජාතීන් ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවල බලය දැරූ කාලයෙහි උඩරට වෙන ම ස්වාධීන රාජ්‍යයක් පැවති හෙයින් මෙරට සමාජයේ පුළුල් වෙනසක් ඇති කිරීමට ඔවුන්ට හැකියාව නොලැබුණි. එහෙත් වර්ෂ 1815 දී උඩරට රාජධානිය බ්‍රිතාන්‍යයන්ට යටත් වීමෙන් පසු ව වර්ෂ 1948 දක්වා ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් වශයෙන් පැවති හෙයින් එම කාලය තුළ මෙරට දේශපාලන ක්ෂේත්‍රයෙහි පමණක් නොව ආර්ථික හා සමාජ, සංස්කෘතික වශයෙන් ද පුළුල් වෙනස්කම් රැසක් සිදු විය.

